සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2563 ක් වූ ඇසළ මස (ව්‍යවහාරික වර්ෂ 2019 ජූලි)

95 වෙනි කලාපය

## භූමි දෝස දුරු වෙන්න
## නිවැරදිව බහිරව පූජාවක් තබන අයුරු



රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# කළ කම් ඵල දේ

මව් පිය දෙපළ සහ රහතුන් දිවි නසන
ලොව්තුරු බුදු හිමිගෙ ගත රුධිරය සලන
සව් සත පුදන මහ සඟ සමගිය බිඳින
පව් මෙලොවෙදිම ඵල දෙයි එය බුදු වදන

දෙව්දත් යනු සුපබුදු රජු පුතනුවෙ කි
පින්වත් බිසව බිම්බාවගෙ සොහොයුරෙ කි
සිදුහත් කුමරු සහ තිබු ළඟ නෑකම කි
එනමුත් ඔවුනතර ඇති පෙර වයිරය කි

සැම සත නිවන බුදු සසුනෙහි ජරමර ම
සම වයසෙහිම සෙසු මිතුරන් සමග මෙම
කුමරිඳු දෙව්දතුද ලැබගති මහණ කම
කිම නොම හැඟෙයි කළ හැකි වෙද සසර නිම

බුදු සමිඳුනට දැගසව් මහ සඟන හට
පිදු සැදැහැති පිරිස ගරු සරු සියලු විට
හුදු බැල්මකුදු නැත දෙව්දත් තෙරිඳු හට
රුදු ලෙස වයිර බැඳ ගති එය කරණ කොට

බුදු රද දෙව්දතුට මෙත පළ කළ නමුදු
හැම සඳ ඔහුගෙ සිත විය මිසදිටු අවිදු
කුමරුද අජාසතු ලැබ උපදෙස් එබඳු
වරදද කවර නැසු හැටි තම පිය නිරිඳු

පිය රජු මරා ඔබ රජකම ලැබිය යුතු
බිය වනු එපා මට බුදු විය හැකිය මතු
එය පිළිගැනුනි ඔහු විය එම බසට නතු
මිය පරලොව යවමි රජු සිතු අධම පුතු

වධයට පමුණුවා පිය රජු මරන ලදී
එම විට දෙව්දතුද ඇත මෙහෙයුමක යෙදී
නැසුමට බුදුන් දුනුවායෝ සිටිති සැදී
විදුමට තැත් දරති හී තළ නොයයි මිදී

ගල් පෙරළා දැමුනි බුදු හිමි වැඩි මගට
සෙල් වුනි ලෙය වැදුන ගල් පතුරකි ගතට
වල් මත් වෙලා කළ එම බලගතු පවට
කල් නොයවාම කළ කම් ඵල දුනි ඔහුට

සිත් තුල නොනැසි වයිරය තිබු බැවිනි සදා
උත්තම බුදු සමිඳු නැසුමට විරිය යොදා
ගත් හැම තැතක් වැරදුනි දෙව්දතුට එදා
අත් වුනි අපා දුක යයි මහ පොළොව කිඳා

පව් කළ විටදි මෙලොවද පරලොවද තැවේ
පින් කළ අයට දෙලොවම ලද හැකිය සුවේ
රැස් කළ පින් බෙලෙන් උපදිති සුගති භවේ
අත් කළ යුතු කුසල් නිසැකව සසර නිවේ

(ධම්ම පදය - යමක වග්ගය ඇසුරෙනි.)

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# ආගමික ත්‍රස්තවාදයට බෞද්ධ ප්‍රතිකර්මය...

බුදු පියාණන් වහන්සේ ධර්මය දේශනා කරන කාලය වෙන කොට හැට දෙකක් මිත්‍යා දෘෂ්ටි තිබුන කියල අපි අහල තියෙනවා. දිගු සසර ගමන තුළ අපිත් ඒ කියන විවිධ ආගම් අදහපු අත්බැව් කොතෙකුත් ගෙවල ඇති. අපි දැන් බෞද්ධ වුනාට සසර ගමනේ බෞද්ධම වෙලා දිගටම ඇවිත් නෑ. විශේෂයෙන් බුද්ධ සාසනයක් විද්‍යමාන වෙන්න පෙර දීර්ඝ කාල වකවානු තුළ මේ කියන මිත්‍යා දෘෂ්ටි දරාගෙන හිටපු කාල වකවානු වැඩි බව පිළිගන්න වෙනවා. මොකද දීර්ඝ සසර ගමන තුල වැඩිපුරම පවතින්නෙ බුදු දහම නැති අබුද්ධෝත්පාද කාල වකවානු.

එහෙම සසරේ එනකොට අපි දරපු ලබ්ධීන්ට විරුද්ධ වූ අයව එකා දෙන්නා කොටු කරල මහා පිරිසක් හැටියට දඬුවම් කරල තියෙන්නත් පුළුවන්. ඒ වගේම, ඒ අයව සාහසික විදිහට මරණයට පත් කරල තියෙන්නත් පුළුවන්. අතීතයේ සිද්ධ වෙච්ච විදිහට වරදකරුවන්ට ගල් ගහල හෝ වෙනත් උපක්‍රමවලින් මරල තිබුන නම්, ඒ අය මරණයට පත්වෙද්දි "තොපි ඔක්කොම මරාගෙන මැරෙනවා" වගේ අදහස් අරගෙන සාප කරල මියැදෙන්න පුළුවන්. මොකද දහම් අවබෝධයක් නැති පිරිසක් ඒ විදිහට මරණයට පත් වෙනකොට ඒ අයට පළිගැනීමේ චේතනාවක් එන්න තියෙන අවස්ථාව වැඩියි.

ඒ අනුව, එදා වෙච්ච අසාධාරණයට පළිගන්න අවස්ථාවක් ඒ අයට කවදහරි සසර ගමනෙදි උදා වෙනවා. බුදුන් වහන්සේගේ සිරුරේ ලේ සෙලවීම, සංඝ භේදය කියන ආනන්තරීය පාප කර්ම සිද්ධ කළ දේවදත්ත භික්ෂුව අපාගත වුන කතා පුවත අපි අහල තියෙනවා. එහෙම අපාගත වෙන්න හේතු වුන මේ සසර ණය ගනුදෙනුව පටන් ගන්න මුල් වුන, රන් තැටියක් සම්බන්ධ සිද්ධිය දිහා බැලුවම ඇත්ත වශයෙන්ම ගොඩින් බේරගන්න පුළුවන් මට්ටමේ සුළු ප්‍රශ්නයක්.

තමන් කළ කපටි වෙළඳ ප්‍රයෝගයක් තමන්ටම පාරා වළල්ලක් වුන තැන, ඒ පාඩුව පහුකාලයේ දේවදත්ත වුන, එදා සේරි කියන වෙළෙන්දාට ඉවසගන්න බැරි වුනා. ඔහු දැඩි කෝපයකින් යුතුව දෝතින් වැලි අහුරක් අරගෙන, මම මේ වැලි කැටයක් ගානෙ උඹෙන් පළිගන්නවා කියල මහබෝසත් වෙළෙන්දාට සාප කළා. ඒක හද පත්ලෙන්ම විලාප දෙමින් කළ මහා අඬෝවැඩියාවක්. ඒ ගනුදෙනුවට මුල් වුන මහබෝසත් වෙළෙන්දා පහු කාලයේ සම්මා සම්බුද්ධත්වයට පත්වෙන කල් මහා කල්ප ගණනාවක අති දීර්ඝ කාලයක්, හතුරුකම් කර කර පස්සෙන් යන්න එදා දේවදත්ත කළ සාප සහගත පැතුම ප්‍රමාණවත් වුනා.

සුප්පබුද්ධ රජු තව දින හතකින් රජ මාළිගාවේ පහත මාලයේ දොර ළඟදි පොළව පලාගෙන අපාගත වන බව බුදු පියාණන් වහන්සේ ප්‍රකාශ කරපු අනාගත වාක්‍යය බොරු කරන්න ඒ රජුට ඕන වුනා. ඒ නිසා මාළිගාවේ ඉහල මාලයට ගිහින් දොරවල් සියල්ල වහගෙන මුරකාවල් දාගෙන, මොන හේතුවකින්වත් දොරවල් අරින්න එපා කියල දොරටු පාලකයන්ට රාජ නියෝග කළා. නමුත් හත්වෙනි දවස වෙනකොට රජුගේ මංගල අශ්වයා කුලප්පු වෙලා කාටවත් පාලනය කරන්න බැරි විදිහට කලබැගෑනියක් කරන්න වුණා. ඉහල මාලයේ හිටපු රජතුමා කෑමොර දෙමින් අශ්වයා මෙල්ල කරන්න දුන්න උපදෙස් එකක්වත් වැඩක් වුණේ නෑ. අන්තිමේදි, තමන් ඉහල මාලයට වෙලා රැකවල්ලාගෙන හිටපු කාරණයත් රජතුමාට මොහොතකින් අමතක වුණා. අශ්වයා දමනය කරන්නෙ මෙහෙමයි කියල පෙන්වන අදහසින් රජතුමා ආවේගයෙන් මාළිගාවේ පහල මාලයට පිවිසෙන්න වුනා.

රාජ උදහසට ලක්වේය කියන බිය නිසාදෝ, දොරටු පාලකයන්ටත් රජතුමාව නතර කරන්න ඒ වෙලාවෙ හිත දුන්නෙ නෑ. අන්තිමට, අනාගත බුද්ධ වාක්‍යය සත්‍යයක්ම බව සනිටුහන් කරමින් සුප්පබුද්ධ රජු පහල මාලයේ දොරටුව ළඟට ආ විගසම මරණයට පත්වෙලා පොළව පලාගෙන අපාගත වුනා. (මෙතැනදි පොළව පැළීම සිදුවන්නෙ කිරණ ලෝකයේ. වැඩි විස්තර සඳහා හෙළ බොදු පියුම සඟරාවේ 38 වන කලාපයේ අභයරතනාලංකාරය යටතේ එළ වූ "මැරෙන බහුතරය සතර අපාගත වීම සම්බන්ධයෙන් ලැබූ අත්දැකීම්" නම් ලිපිය බලන්න.)

**ඒ වගේ බලවත් කර්මවේග ක්‍රියාත්මක වෙන කොට, අහසේ හිටියත්, මහ සයුර මැද හිටියත්, පර්වත කුහරයක හිටියත්, විපාකවලින් බේරෙන්න බැරි බව ධර්මයේ සඳහන් කරුණක්** (න අන්තලික්ඛෙ න සමුද්ද මජ්ජේ - න පබ්බතානං විවරං පවිස්ස -

න විජ්ජති සෝ ජගතිප්ප දේසෝ - යත්ථට්ඨිතෝ මුඤ්චෙය්‍ය පාපකම්මා - ධම්ම පදය, පාප වග්ගය).

අපේ රටේ මෑත කාලීනව සිද්ධ වෙච්ච අපරාධ දිහා බලනකොට පාස්කු ඉරු දින සිදුවුන සාහසික ත්‍රස්ත ප්‍රහාරය මහා මිලේච්ඡ අපරාධයක්. ඉදිරියේදි මේ වගේ ප්‍රහාරයක් එන්න පුළුවන් කියල ආරක්ෂක අංශවලට තොරතුරු ලැබිලත් ඒක වළක්ව ගන්න බැරි වුනා. ඒ ප්‍රහාරය ගැන මොන තරම් අනතුරු ඇඟවීම් ආරක්ෂක අංශ වෙත ලැබිල තිබුනත්, ඒ අපරාදය වළක්වන්න ඒ පූර්ව තොරතුරු ලැබුණත් කවුරුවත් ක්‍රියාත්මක වුනේ නෑ. කම්මස්ස කෝම්හි **කම්ම දායාදෝ කම්ම යෝනි කම්ම බන්ධු කම්ම පටිසරණෝ... ආදී වශයෙන් කියන බුද්ධ දේශනාව පරිදි කොහොමත් මේ වගේ දරුණු අපරාධ සිද්ධ වෙන්න කර්මවේගයක්ම මුල් විය යුතුයි.**

හේතුවට අනුකූල ඵලයක් තියෙනවා. අපි ඒකට පටිච්ච සමුප්පාදය හෙවත් හේතු ඵල චක්‍රය කියල හඳුන්වනවා. චක්‍රයක් කියන්නෙ රවුමක්. මෙතැනදි මේ රවුම කියන්නෙ බාග හෙවත් අර්ධ දෙකක එකතුවක්. **පෙර බාගය හෙවත් පෙර අර්ධය කියන්නෙ කර්මය සිදු කරපු අවස්ථාව. ඒක තමයි පරාදය / පරාජය කියන්නෙ.** ඒ සිදු කරපු කර්මයට අදාළ ශක්තියක් නිපදවෙනවා. ඒ නිපදවෙන ශක්තිය ඇහැට පේන්නෙ නෑ. අපිට ඒ ශක්තිය නොපෙනුනාට ඒක ගිහින් කර්ම භවයේ තැන්පත් වෙනවා. කර්ම භවය අපේ මස් ලේ සහිත ඇහැට ගෝචර නෑ.

කර්මය සිදු කරපු අවස්ථාවෙ පටන් විපාකය හෙවත් ඵල දෙන අවස්ථාව එන කල් කර්ම භවයේ තැන්පත් වෙලා තියෙන්නෙ හරියට පැළවීමේ ශක්තිය තියෙන බීජ වගේ. ඒ නිසා කර්ම භවය හරියට බීජ තැන්පත් කරල තියෙන අටුවක් වගෙයි.

කර්මය ඵල දෙන කාලය සහ පරිසරය සැකසුනාට පස්සෙ විපාක අවස්ථාව උදාවෙනවා. ඒක හරියට පැළවීමේ හැකියාව තියෙන බීජ, ජලය සහ පස් සහිත සරු බිමක තැන්පත් වෙනවා වගේ. මෙතැනදි කර්ම බීජ තමයි ඒ විදිහට තැන්පත් වෙන්න ඇදිල එන්නෙ. ඒ අවස්ථාව උදාවෙන්නෙ අවුරුදු සිය දහස් ගණනකට පසුව වෙන්නත් පුළුවන්, කල්ප ගණනකින් පසුව වෙන්නත් පුළුවන්.

මුගලන් මහරහතන් වහන්සේ පෙර අත්බැවක බිරිඳගේ පෙරැත්ත මත තමන්ගෙ වයසක මව්පියන්ට පොලුවලින් පහර දීල මිලේච්ඡ විදිහට මරණයට පත් කරල කැලෑබද තැනක දාල ගියා. පස්සෙ එතැනින් ගිය හොරු රැලක් මේ වයසක අම්මා තාත්තගෙ මළමිනී දැකල, මේ අපරාදය කරපු එකාව හම්බවුනා නම් හාල් ඇට ගණනට ඇටකටු කුඩු වෙන්න ගහල මරනවා කියල මහා දාහ සහගතව අදහස් අරගෙන එතැනින් පිටවුනා. ඒ අඬෝවැඩියාව ඉෂ්ට වෙන දවසක් සසර ගමනෙදි හොරු රැලක් හැටියටම හිටපු ගෞතම බුද්ධ සාසනයෙදි උදා වුනා. හැබැයි ඒ හොරු රැලේ අවාසනාවට එදා අර අපරාදය (මතු අපරාධයකට හේතු වන පරාදය) කරපු කෙනා ඒ වෙනකොට බුදු පියාණන් වහන්සේගේ වමත් අගසව් පදවිය ලබපු මුගලන් මහ රහතන් වහන්සේ වෙලා හිටිය උත්තමයා. එදා අර අපරාදය දැකල ගිනිගත් හදවතින් පැතුව විදිහටම, මෙදා අණක් ගුණක් නොදැන මුගලන් හාමුදුරුවන්ගෙ සිරුරේ ඇට කුඩු වෙන කල් දරුණු විදිහට පහර දුන්නා. ඒ හේතුවෙන් උන්වහන්සේට පිරිනිවන් පාන්න සිද්ධ වුනා. ඒ අපරාදය කළ අය රාජ දඬුවමට ලක්වෙලා මියගිහින් අරහන්තක ඝාතනය කියන ආනන්තරික පව ගෙවන්න අවුරුදු කෝටි ගණනක් ආයුස ඇති අවීචි මහා නරකාදිය කියන අපායේ උපත ලැබුවා.

දැන් එතකොට සමහරු මෙහෙම කියනව අපිට ඇහිල තියෙනවා, ඒ වගේම අදටත් අහන්න ලැබෙනවා. "අපි කාටවත් කරදරයක් නොකර අපේ පාඩුවේ ඉන්නෙ. ඇයි අපිටම මේ කරදර?"

දිව්‍යස්ලාභී උත්තමයන්ට කල්ප ගණන් ඈත අතීතය දැක බලාගන්න පුළුවන්. වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේටත් ඒ හැකියාව තිබුනා. ඒ සමාධිවලට සමවැදිල දැකපු කියපු සිද්ධි අනුසාරයෙන් අපි ඇවිත් තියෙන සසර ගමන ගැනත් කියපු යමක් තියෙනවා. ඒ තමයි, අපි මේ එන සසර ගමනෙදි දාහක් කර්ම කළොත්, එයින් නවසිය අනූනවයක්ම ලෝක සත්ත්වයාට අවැඩ, අසාධාරණ, හිංගි හිංසා කරමින් ඇවිත් තියෙන බව.

පාස්කු ඉරු දින ත්‍රස්ත ප්‍රහාරයට ගොදුරු වුන පිරිස අතීත භවවල හේතු ඵල චක්‍රයේ පෙර අර්ධය හෙවත් පරාදය කළා වෙන්න පුළුවන්. ඒ තමයි පිරිසක් එකතු වෙලා වරදකරුවෙක් විදිහට සම්මත කර ගත්ත කෙනෙක්ව හෝ පිරිසක්ව මරණයට පත් කිරීම. මේ



පෙර අර්ධය හෙවත් පරාදය (පරාජය) මතු අපරාදයකට හේතු වෙන කර්මයක් වෙනවා. හේතුවට ඵල හැටියට ඒ සඳහා විපාක ගෙන දෙන පසු බාගය හෙවත් අපර අර්ධය - අපරාධයක් වෙනවා. ඒ අනුව, බෝම්බ බැඳගත් සුළු පිරිසකට නිරායුධ මහා පිරිසක්ව සමූල ඝාතනය කරල මහා අපරාධයක් සිද්ධ කරන්න පරිසරය හැදුනා වෙන්න පුළුවන්. කර්ම විෂය අචින්ත්‍ය නිසා අපිට ඒක හරියටම එල්ල කරල විග්‍රහ කරන්න, නිගමනය කරන්න පුළුවන්කමක් නෑ. කොහොම වුනත් "මහා අපරාධ!" හැටියට සැඟවුනු දහම් අරුත් තියෙන වචනයකින්ම දැන් ඒ සාහසික ක්‍රියා අපි එකහෙළා හෙළා දකිනවා.

**අපි සසරෙ එනකොට කරපු පෙර අර්ධ හෙවත් පරාද අනුව අපිට මේ අත්භවයේ විපාක හැටියට එන්න නියමිත අපර අර්ධ හෙවත් අපරාද ගැන අපි හරියටම දන්නෙ නෑ. "අපරාදෙ" කිය කිය හූල්ලන්න වෙන අනතුරු, කරදර, සිත් තැවුල්වලට අපිට දැන් කොතෙක් මුහුණ දෙන්න සිද්ධ වෙන්න හේතුව ඒකයි.** ඒ අනුව හැම අපරාදයක් පිටුපසම පරාදයක් තියෙන බව හේතු ඵල දහම අනුව තේරුම් ගන්න පුළුවන්.

ඒ නිසා, පාස්කු ඉරු දින සිද්ධ වෙච්ච සාහසික ත්‍රස්ත ප්‍රහාරය වගේ කටුක විපාක අපිටත් වෙන්න පුළුවන් කියන සංසාර බියට පත්වෙලා ඉන්න බෞද්ධ පිරිස්වලට ඒවා අවම කරගන්න හෝ පහ කරගන්න කළ හැකි දෙයක් තියෙනවා. මේ ක්‍රමය වැටහෙනව නම්, බෞද්ධ පින්වතුන්ට විතරක් නෙවෙයි ලෝක සම්මතයේ අන්‍යාගමික පින්වතුන්ටත් කරන්න පුළුවන්.

1. අනන්ත සසරේ අවැඩ අසාධාරණයන්ට ලක් වූ අයගෙන් කමාව ගැනීම.

ආගමික ත්‍රස්තවාදය වගේ අපරාධයන්ට හේතු වෙන, මතු

# නිවන් ලැබ දෙන කමටහන්...

15 කොටස



දහමට අනුව ලෝකයේ යථා ස්වභාවය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් තේරුම් ගත්තට පස්සෙ, එතැනින් එහාට මාර්ගය වඩාගෙන සසර ගමන කෙළවර කරගන්නත්, ඉහාත්ම සුඛ විහරණය සඳහා දැහැන් වඩන්නත්, ආර්ය සමාධි ලබන්නත් පොදුවේ සියලු පින්වතුන්ට වැදගත් වන, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට වරින්වර සමාධියෙන් නැගුනු තවත් වටිනා කමටහන් පෙළක් තමයි මේ සටහන් කරන්නෙ. සමහර කමටහන් උන්වහන්සේ විසින් එක එල්ලේම මතු නොකළත්, අනාදිමත් කාලයක් තිස්සේ පැවතෙන පෙළ දහම් ගාථා කොටස් අර්ථාන්විතව තේරුම් අරගෙන වැඩීමෙන් මහත් ප්‍රතිඵල ලැබෙන බවට උන්වහන්සේ විසින් ප්‍රත්‍යක්ෂ අත්දැකීම් ලබාගෙන විස්තර සහිතව ප්‍රකාශ කරල තියෙන නිසා විශේෂයෙන් සටහන් කරල තියෙනවා.

සමහර කමටහන් බැලු බැල්මට බොහෝ දුරට එක හා සමාන වගේ පෙනුනත්, සුළු සුළු වෙනස්කම් ❯

---

සාහසික අපරාධයන්ට ගොදුරු වන පාප කර්ම අපි අනන්ත සසරේ අතීත භවවල සිද්ධ කරල තියෙනව නම්, ඒවා මහා වැරදි බව අවංකව පිළිගත යුතුයි. එදා ඒ අවැඩ වූ අය මේ මොහොතේ කුමන උපතක, කුමන භවයක, කුමන ස්ථානයක හිටියත්, ඒ අයගෙන් අවංක චේතනාවෙන් කමා කර ගත යුතුයි. ඒ සඳහා, කමා කරමි! කමා කරමි! කමා කරමි! කියල චේතනා පිහිටුවිය යුතුයි.

2. පුණ්‍ය කුසල ආශිර්වාදයෙන් වන්දි ගෙවීම.

තමන් දැන් කරන උතුම් සාසනික පුණ්‍ය කුසල කර්මවල බල ශක්තීන් හෝ අතීතයේ කළ ඒ වගේ කුසල ශක්තීන් සිහියට ගත යුතුයි (චාගානුස්සතිය). ඒ මහා පුණ්‍ය ශක්තීන් මා / අප වටා ඒකරාශී වේවා කියල අධිෂ්ඨාන පිහිට විය යුතුයි. ඉන්පසුව ඒ බල ශක්තීන් අවැඩ වූ පිරිස් හට, ඔවුන්ගෙන් මටත් / අපටත්, මගෙන් / අපෙන් ඔවුන්ටත් යළි මෙවැනි කිසිදු අවැඩක් අසාධාරණයක් හිංගි හිංසාවක් නොවීම පිණිස විහිදී පැතිරී පිහිටාවා! විහිදී පැතිරී පිහිටාවා! විහිදී පැතිරී පිහිටාවා! කියල අවංකවම කිව යුතුයි. ඉන්පසු, ඒ අයට දස අකුසල්වලින් මිදී, දස කුසල්, දස පුණ්‍ය ක්‍රියා වඩාගෙන වර්ධනය කරමින් සම්දිටු සුගති අත්බැව් ලැබීමට හේතු වේවා! හේතු වේවා! හේතු වේවා! ආදී වශයෙන් මෙත් සිතින් පැතීම සිදු කළ යුතුයි.

3. තුනුරුවන් කමා කර ගැනීම.

තුනුරුවන් ඉදිරියේ කරන මහා කමාවක් සේ “කායේන වාචා චිත්තේන” ගාථාවෙන් කමා කර ගැනීම කළ යුතුයි. ඒ වගේම නැවත එවැනි අවැඩ අසාධාරණ හිංගි හිංසා සිදු නොකිරීමට අධිෂ්ඨාන පිහිටුවීම කළ යුතුයි (ආයති සංවරයට පත්වීම).

4. නිදහස් භාවය සනිටුහන් කිරීම.

මේ විදිහට අනන්ත සසරේ කළ අවැඩ අසාධාරණයන්ට මහා සාසනික වන්දි ගෙවීම නිසා, මා / අප විසින් මෙතෙක් සිදුකර ඇති දස අකුසල කර්ම, කර්ම පථ හේතු කරගෙන මා / අප හට එන්න තියෙන්නා වූ අනිෂ්ඨ අප්‍රිය විපාකයන්ගෙන් මා / අප නිදහස් වෙත්වා! නිදහස් වෙත්වා! නිදහස් වෙත්වා! කියල පැතීමත් ඉතා වැදගත්. වෛරයෙන් වෛරය නොසන්සිඳේ කියන දහම් කියමනටත් මේ කාරණා ගැලපෙනවා. **පවුලේ අසමගිය, අභූත චෝදනාවන්ට ලක් වීම, රැකියාවේ උසස්වීම් නොලැබීම, දිගුකල් පවතින රෝග පීඩා ආදී අපිට මුහුණ දෙන්න සිද්ධ වෙන ඕනෑම පාප විපාකයකට වුනත් එල්ල කරල මේ ප්‍රතිකර්මය සිද්ධ කරන්න පුළුවන්.**

හැබැයි මේ කාරණයෙන්, අතීතයේ සිද්ධ වෙච්ච අවැඩ අසාධාරණවලට පළිගන්න ඒ අයට අයිතියක් තියෙනවා, ඒක සාධාරණයි, එහෙම කළ යුතුයි කියල වරදවා තේරුම් නොගත යුතුයි. මොකද එහෙම අදහස් අරගෙන ක්‍රියා කළොත් මේ සසර ගනුදෙනු කවදාවත් කෙළවර වෙන්නෙ නෑ. දෙපැත්තම කෝපවෙලා පළිගන්න චේතනාවෙන් කටයුතු කළොත් ඒවා තවත් දිග්ගැස්සිලා තත්වය භයානක වෙන්න පුළුවන්.

ඒ නිසා වෛරයෙන් වෛරය නොසන්සිඳේ කියන උතුම් දහම් පාඨය අනුව, මේ බුදු දහම තේරුම් ගත්ත පින්වතුන් ඊට අනුව සාසනික ප්‍රතිකර්ම සිද්ධ කරල තමනුත් භයානක සසරෙන් ගොඩ යන්න කටයුතු කරන ගමන්, අන්‍ය සත්වයන් කෙරෙහිත් දයානුකම්පාවෙන් කටයුතු කළ යුතුයි.

**සටහන**

**අමිල සල්ගාදු**

සංචාරක මාර්ගෝපදේශක

077 - 7591155

සහිතව සඳහන් කරල තියෙන්නෙ, ඒ ඒ පින්වතුන්ට ගැලපෙන විදිහට අවස්ථානුකූලව සමාධියට නැගිච්ච ආකාරය අනුව. කාලයක් වඩාගෙන යනකොට තමන්ට වඩාත් හොඳින් ගෝචර වන සහ වැඩෙන කමටහන් වැඩි වැඩියෙන් භාවිතා කිරීමෙන් ඒ ඒ පින්වතුන්ගේ හේතු වාසනා අනුව ඉහල ප්‍රතිඵල අත්පත් කරගන්න පුළුවන්.

337. කරණීය සූත්‍රයේ 6, 7, 8 ගාථා තුන

(6) නපරෝ පරං නිකුබ්බේථ
නාතිමඤ්ඤේථ කත්ථචි නං කඤ්චි
බ්‍යාරෝසනා පටිඝ සංඥා
නාඤ්ඤ මඤ්ඤස්ස
දුක්ඛ මිච්ඡෙයිය

(7) මාතා යථා නියං පුත්තං
ආයුසා ඒක පුත්ත මනුරක්ඛේ
ඒවම්පි සබ්බ භූතේසු
මානසංභාවයේ අපරිමාණං

(8) මෙත්තංච සබ්බ ලෝකස්මිං
මානසංභාවයේ අපරිමාණං
උද්ධං අධෝච තිරියංච
අසම්බාධං අවේරං අසපත්තං

මේ ගාථා 3 ම එකට වඩන්න. ඒ මගින් ශරීරය වටා තියෙන ඕරා වළල්ල දීප්තිමත් වෙලා අමනුස්සයින්ට ළං වෙන්න බැරි වෙනවා. ඒ කාලෙ වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ වැඩ වාසය කරපු භික්ෂූන් වහන්සේ නමකට අමනුස්ස දෝස නිසා නිතර හැදෙන අසනීපයක් තිබුනා. ඒ අවස්ථාවෙදි වහරක හාමුදුරුවො ඒ භික්ෂූන් වහන්සේගේ නළලට දකුණු අතේ මහපට ඇඟිල්ල තියල අධිෂ්ඨාන කරල **"නපරෝ පරං නිකුබ්බේථ..." කියන පළවෙනි ගාථාව කිහිප වතාවක් කියනකොට, ඒ අසනීප තත්වය දුරු වෙලා නැවත යථා තත්වයට පත් වෙනවා. ඔය විදිහට උන්වහන්සේ වැඩ ඉඳෙද්දි, ඒ අසනීපය හැදෙන හැම අවස්ථාවකදිම මේ ගාථාවෙන් අධිෂ්ඨාන කරල ඒ විදිහට සෙත් කරනකොට ඒ අමනුස්ස බලපෑම් ඉවත් වෙලා සාමාන්‍ය තත්වයට පත්වෙනවා. මේ ගාථාවේ බලය ඒ තරම් ප්‍රබලයි.** උන්වහන්සේ ඒ ගැන කළ ධර්මානුකූල කෙටි පැහැදිලි කිරීමක් තමයි මේ.

කරණීය සූත්‍රය (6, 7, 8 ගාථා තුනේ පරමාර්ථ අර්ථයන් කෙටියෙන්)

කමටහන් වඩාගෙන යනකොට නොයෙක් බාධක එනව නම් ඒ වෙලාවට වඩන්න සුදුසු ඉතා ප්‍රබල කමටහනක් තමයි මේ. මේ කමටහන වඩාගෙන යනවා කියන්නෙ, ඒකෙන් කියවෙන දහම් අර්ථය පිළිපදින්න බහිනවා කියන එක. "ධම්මෝච යථා ධම්මෝ යථා අත්ථෝ තථා පටිපජ්ජි තබ්බං" කියන, ධර්මය ධර්මය විදිහට දැනගෙන අර්ථවත්ව දැනගෙන පිහිටනවා කියන එක මෙතැනදි ක්‍රියාත්මක කරන්න ඕන. ඒ නිසා **මේ කමටහන වඩන්න සූදානම් කෙනා, ධර්මය ධර්මය හැටියට දැනගෙන අර්ථවත්ව වටහාගෙන දැනගෙන තියෙන්න ඕන.** එහෙම වැටහීමක් නැතිව කමටහන් වාක්‍ය කොච්චර කිය කියා හිටියත් වැඩෙන්නෙ නෑ. එහෙනම් මේකෙන් කියැවෙන දහම් අර්ථය ඉස්සෙල්ලම වටහාගන්න ඕන.

නපරෝ පරං නිකුබ්බේථ... මෙච්චර කාලයක් මේ ලෝකෙ ඉඳගෙන අපිත් අනෙක් ලෝක සත්වයාත් කරපු කුබ්බැහිකම් දකින්න ඕන. කුම්බැහියා/ කුබ්බැහියා/කුම්මැහියා කියන වචනයක් අදත් අපි අතර තියෙනවා. කාටහරි අවැඩක්, අසාධාරණයක්, නපුරක් කළොත් ඒ වෙලාවට තමයි ඕක පාවිච්චි කරන්නෙ. එහෙනම් කුබ්බැහිකම් නොකරන තත්වයට පත් වෙන්න ඕන. අනුන් කුපිත කරන වැඩ නොකර ඉන්න ඕන. නොගැලපෙන විහිළු තහළු, කොලොප්පම්, ඇණුම් පද, නින්දා, අපහාස... මේවා තමයි මෙච්චර කාලයක් පුරුදු කරපු කුබ්බැහිකම්. අනන්ත සසරේ එනකොට ලෝභ, ද්වේශ, මෝහයන්ගෙන් ගහණ වෙලා අනුන්ට කුබ්බැහිකම් කළා. තවමත් කරනවා. හැබැයි **මේ දහම තේරුම් ගත්තම, කෙනෙක් ඒ වගේ කුබ්බැහිකම් කරනව දැක්කොත් ඔහුට පුද්ගලිකව දොස් කියන්නෙ කෑගහන්නෙ නැතිව, ලෝභ ද්වේශ මෝහ සහිතව ආපු සසර ගමනෙ සසර දෝසය කොච්චර බලවත්ද කියල සංවේගයක් උපදවා ගන්න ඕන.** සමහරවිට කොච්චර ඕනෑකමක් උනන්දුවක් තිබුනත් ඒවා ඇරගන්න බැරි විදිහට හිතේ කා වැදිල නිරන්තරයෙන් ක්‍රියාත්මක වෙන්න පුළුවන්. මොනවා කරන්නද? අනේ ලෝක සත්වයොත් කෙසේ හෝ මේකෙන් මිදෙත්වා. අන්න ඒ අදහස මෙතැන කියවෙනවා. මේකෙ තියෙන භයානකත්වය වටහාගෙන තමන් විසින් පුළුවන් තරම් අනුන්ට කුබ්බැහිකම් නොකරන්න කටයුතු කරන්න ඕන. ඒ වගේම, කෙනෙක් තවෙකෙකුට කුබ්බැහිකම් නොකරාවා කියල පතන්න ඕන.

ඉතින් මම මේ ලෝකයට ආශිර්වාද කරන්නෙ, එකෙක් අනිකෙකුට කුබ්බැහිකම් නොකරාවා කියල. හැබැයි මම අනුන්ගෙ හිත් කුපිත කරන ගමන්, කුබ්බැහිකම් කරන ගමන්, අනික් අයට මෙහෙම කරන්න නොලැබේවා කියල පත පතා ඒවාම කරනව නම්, මම මේ කියන වචනයට අනුකූලව යථාවාදී තථාකාරී වෙන්නෙ නෑ. බුදු **පියාණන් වහන්සේගේ දහම නම් අනුගමනය කරන්නෙ යථාවාදී තථාකාරී, යථාකාරී තථාවාදී විය යුතුයි.** ඒ කියන්නෙ, යමක් කිව්ව නම් ඒ විදිහට කරන කෙනෙක් වෙන්න ඕන. ඒ වගේම යමක් කරනකොට ඒ විදිහට කියන කෙනෙක් වෙන්න ඕන. ඒ නිසා මොන විදිහකින් හරි අනිකාගේ හිත කුපිත කරන යමක් ඇත්නම් මම ඒවා කරන්නෙ නෑ, එහෙම නොකරන ගමන්, අනිකෙක් අනිකෙකුගේ හිත කුපිත නොකරාවා කියන අදහස අරගෙන ලෝකයාට ආශිර්වාද කරන ගමන්, මේ කමටහන වඩනවා කියන්නෙ නපරෝ පරං නිකුබ්බේථ... කියන කාරණය.

ඊළඟට නාති මඤ්ඤේථ කත්ථචි නං කඤ්චි... නොකටයුතුකම් කියන්නෙ වැඩක් ඇති ඒවා නෙවෙයි. අනන්ත සසරේ එනකොට ලෝක සත්වයා වැඩිපුර හුරු කරල තියෙන්නෙ වැඩක් නැති ඒවා කරන්න. අද වුනත් සමාජය දිහා බැලුවම ඒ කාරණය ඉතා පැහැදිලියි. ලෝකයේ වැඩකට නැති, මුලාවට පත් කරන වැඩවලට තමයි ලෝක සත්වයා වැඩිපුර මෙහෙය වන්න පුරුදු වෙලා තියෙන්නෙ. ඒවා තමයි නොකටයුතු. **කටයුතු නම් නිවනට උපනිශ්‍රය වන දේ හැර වෙනත් දෙයක් නෑ. මේ දහම තේරුම් ගත්ත කෙනෙක් ඒ ගැන උපදෙස් නොදී වෙන මොන උපදෙසක් දෙන්නද?** නිවන් මගට හේතු නොවෙන දෙයක් ගැන උපදෙස් දුන්නොත් ඒක නොකටයුත්තක්. එබඳු නොකටයුතුකම් කරන්න වටින්නෙ නෑ. ඒ නිසා තමනුත් ඒ අනුව කටයුතු කරන ගමන්, එක් කෙනෙක් තව කෙනෙකුට නොකටයුතුකම් නොකරාවා කියල පතන්න ඕන. මෙන්න මේ අර්ථය තේරුම් අරගෙන අනුගමනය කරනව නම්, නාති මඤ්ඤේථ කත්ථචි නං කඤ්චි... කියන්න පුළුවන්.

ඒ වගේම අනුන්ගෙ හිතේ රොස් බවක්, කෲර බවක්, රෞද්‍ර බවක් ඇති කරනව නම් ඒවා රොස් වැඩ. බ්‍යාරෝසනා... කිව්වෙ ඒකයි. පටිඝ සංඥා කියන්නෙ අපි කරන වැඩ

නිසා අනික් අයට තරහ යෑම, ගැටීම. ඒවත් නිවන් මගට බාධකයි. ඒ නිසා මමත් කිසි විටෙක අනුන් රොස් බවට පත් කරවන, අනුන්ට ද්වේශය නගා සිටුවන එබඳු දේවල් කරන්නෙ නෑ. අනුන් සැඩ බවට පත්වෙන විදිහෙ පටිඝ සංඥා ඇතිවෙන්න කටයුතු කරන්නෙ නෑ.

මේක ලෝකයාගේ වරදක් නෙවෙයි. සසරෙ හැටි. මහ රහතන් වහන්සේ නමකට වගේ අරි මග පූර්ණය කරගෙන යන මුල් පෙළේ අයට අකම්පාව ඉන්න බෑ. පෘතජ්ජනයන්ට වගේ නැතත්, පොඩ්ඩක් ඇත්තම් හිතට සැඩ ගති එන්න පුළුවන්. අකමැති දෙයක්, කරදරයක් වෙන දෙයක් කරනව දැක්කොත් පටිඝ සංඥා පහල වෙනවා. ඒ නිසා මට මේ ලෝකයේ නිදහස් ස්වෛරී පුද්ගලයෙක් හැටියට තනියෙන් ඉන්න බෑ. අනෙක් අයට සැඩ ගති, පටිඝ සංඥා ඇති කරන ගති ලක්ෂණ, එබඳු වැඩපිළිවෙලක් මා ළඟ තියෙනව නම්, මම ඒවා හොඳට දැනගෙන ඒවායෙන් හික්මිලා, මගෙන් කෙනෙකුට දුක් කරදරයක් නොවේවා කියල ඒ අනුව ජීවත් වෙන්න කටයුතු කරනවා. ඒ අනුව මනස හැඩ ගසා ගන්නවා. මේවා නිසා එකිනෙකාට දුක් කරදර නොදේවා. ඒවා කරන්න ගියොත් නිවන් මග ලැබෙන්නෙ නෑ. මෙන්න මේ අදහස දැනගෙන වචනයට සීමා නොවී ක්‍රියාවෙන් කටයුතු කරන්න ඕන. එතකොට බ්‍යාරෝසනා පටිඝ සංඥා... කියන තත්වයට පත්වෙනවා.

<u>මාතා යථා නියං පුත්තං...</u> මෙතැන ලෞකික, ලෝකෝත්තර අදහස් 2 ක් කියවෙනවා. මවක් තමන්ගෙ එකම පුතා පණ වගේ ආරක්ෂා කරනවා කියන අදහස තමයි ලෞකික අදහස. ඒක ඡන්ද රාගයෙන් බැඳිල කරන දෙයක්. **අමා මෑණියන් නමැති බුදුන් වහන්සේගේ යථාර්ථවත් නියම පුතා වන මහ රහතන් වහන්සේ කියන තත්වයට පත් වෙනකල්, භික්ෂූන් වහන්සේලාව පුතෙක් හා සමානව අනුරක්ෂණය කරනවා කියන්නෙ ලෝකෝත්තර අදහස.** ඒ කියන්නෙ අරිහත්වයට පත්වෙනකල් බාධා පමුණුවන්න ඉඩදෙන්නෙ නෑ. ඒ සඳහා අවශ්‍ය අනුසාසනා උපදෙස් ආදිය ලබා දීල, එන්න තියෙන බාධකවලින් ආරක්ෂා කරනවා. මේ බුදුන් වහන්සේ උපමාවට අරගෙන මමත් ඒ විදිහට ඉන්නවා. මමත් ඒ අනුරක්ෂණය ආදර්ශයට අරගෙන ඒ අනුව කටයුතු කරනවා. නිවන් දකින අයට බාධා පමුණුවන්නෙ නෑ. අරිහත්වයට පත්වෙන්න උදව් උපකාර කරන ගමන් ලෝකයාටත් ඒ අයුරින්ම ආශිර්වාද කරමින් අනෙක් ලෝක සත්වයාත් ඒ තත්වයට පත් වේවා කියල පතනවා.

දැන් මෙහෙම පතනකොට, උදව් උපකාර කරනකොට, මානසං මට්ටමට විතරයි වඩන්න ඕන. හදයං හෙවත් හිතවත්කම් තියා නොගෙන මානසං මටමින් පුද්ගලයා හඳුනගන්න ඕන. මොකද හිතවත්කම් තියාගත්තොත් සංසනිකා දෝස සහිතයි. ඒවා පුද්ගලයන් කෙරෙහි ඇලීම් බැඳීම් ඇති කරනවා. එතකොට නිවනට බාධයි. ඒ නිසා එවැනි ඇලීම් බැඳීම් ඇති කරගන්නෙ නැතිව දයානුකම්පාවෙන් යුක්තව නිගමනය කරනවා, අනේ මේ ලෝක සත්වයොත් කවදහරි විමුක්තිය ලබා ගන්න ඕන, මේ අරි අටඟි මග යන්න ඕන, මේ මග අනුගමනය කරන්න ඕන කියල. ඒ මට්ටමෙන් අදහස් ගන්න ඕන, කටයුතු කරන්න ඕන. එයින් එහාට නොයාවා කියන අදහස ගන්න ඕන. **හදයං වෙලා යාළු මිත්‍රකම් හදාගෙන, පැත්තක් අරගෙන අයුතු අසාධාරණකම්වලට මුල පුරන්නෙ නැතිව, නිවන් දැකීමෙන් කෙළවර කරන්න ඉන්න ලෝක සත්වයෝ නේද කියන හැඟීම ඉක්මවන්නෙ නැතිව කටයුතු කරන්න ඕන.** මේ ආකාරයෙන් ඒ යහපත කරනවා කියන අධිෂ්ඨානය තියාගෙන තමන්ගෙ වැඩේ කරගන්න ගමන් ලෝකයාටත් ආශිර්වාද කරන්න ඕන.

<u>මෙත්තංච සබ්බ ලෝකස්මිං මානසංභාවයේ අපරිමාණං...</u> මේ ආකාරයෙන් මේ මෛත්‍රිය සියලු ලෝකයාටත්, මටත්, මේ කියන මාන සම්භවයෙන් හිතවත්කම් බැඳෙන්නෙ නැති උතුම් ගුණයට පත්වෙන ආකාරයට පිහිටාවා, අප්‍රමාණ මාන සම්භවය ඇති වේවා, මටත් සියලු ලෝකයාටත් මේ අප්‍රමාණ මාන සම්භවය වඩන්න ලැබේවා කියන අදහස අරගෙන වඩන්න ඕන.

<u>උද්ධං අධෝච තිරියංච...</u> මේ උතුම් ගුණයට පත්වෙන්න තියෙන බාධා නැති වේවා. මේ උතුම් නිවනට, ඒ වැඩපිළිවෙලට කිසිවෙකුත් බාධා නොකරාවා, වෛර නොකරාවා, සාප නොකරාවා.

**මේ අදහස / අර්ථය තේරුම් අරගෙන මේ කමටහන දිගටම වඩාගෙන යනකොට තමන්ට බැඳිල තිබ්බ්ච නොයෙක් අමනුස්ස බන්ධන, වින බන්ධන, හිංගි හිංසා තිබුන නම් ඒ සියල්ල දුරු වෙලා ගිහින් උඩ, යට, වට මහා ශක්තියක් ආරක්ෂාවක් නැගෙනවා.** ඒ ආරක්ෂක වළල්ල කඩ කරගෙන කාටවත් එන්න බෑ. හරියට ඕසෝන් ස්ථරය වගේ. උඩින් එන නොයෙක් විස කිරණවලින් පෘථිවිය ආරක්ෂා කරන්නෙ ඕසෝන් ස්ථරය මගින්. පොළව වට කරල තියෙන ආරක්ෂාව ඕසෝන් ස්ථරය වගේ, මේ කමටහන වඩාගෙන යනකොට අපිව වට කරල එක්තරා කිරණ පටලයක් හැදෙනවා. ඒ පටලය කඩාගෙන අමනුස්ස බලවේගයකට අපිට හිංගි හිංසා කරන්න ඇතුල් වෙන්න බැරිව යනවා. මුලා අදහස් දෙන්න එන්න බැරිව යනවා. ඒ වගේ යම් කොටස් ඉන්නව නම් විකර්ෂණය වෙලා අහකට විසි වෙනවා.

හැබැයි **මේ කමටහන මුලින් වඩාගෙන යනකොට අමනුස්සයන් රැඳිල බැඳිල හිරවෙලා ඉන්න තැන්වල තිබ්බ්ච විස ගුලි ඇඹරි ඇඹරි කැඩි කැඩි පිටවෙන්න පුළුවන්. එතකොට ඇඟපතේ අමාරුකම්, අතපයේ කැක්කුම්, හිරවීම් තදවීම, තුනටියේ කැක්කුම්, ගැස්සිලා යන ස්වභාවය... ආදිය ඇතිවෙන්න පුළුවන්. ඒවා එකක්වත් ගණන් ගන්නෙ නැතිව දිගටම වඩාගෙන යනකොට අර හිර කරල බැඳිල තිබ්බ්ච ඒවා ගැලවිලා යනවා.** ශරීරයට සම්බන්ධ වෙලා හිටපු ඥාති භූතාදී කොටස් ඉවත් වෙනවා. වසවර්තී මාරයාගේ මෙහෙය වීමෙන් ආපු දස බල මාර සේනා කොටස් පවා කවදහරි ඈත් වෙලා යනවා. මේ ගුණය අභිබවා ජයගෙන ඊට වඩා වැඩි බලයක් නගන්න කාටවත් බැරි වෙනවා. සියලු යන්ත්‍ර මන්ත්‍ර බලවලින් එන ආරක්ෂාවත් පරාදයි.

හැබැයි මොනවහරි වළක්වන්න බැරි පාප කර්මයක දෝසයක් තිබුනොත් එන්න පුළුවන්. ඒත් හෙණ ගහල ගියත් කමක් නෑ, මම ඉන්නේ යථාර්ථයේ කියන තැන ඉඳගෙන කමටහන වැඩුව නම් විපාකයෙන් වළකින තරමක් වළකියි, මග වැඩෙයි, බාධා දුරු වෙලා යයි. **ජීවිතය දෙවෙනි කරල, ඒ සත්‍යයේම මම පිහිටනවා කියල උපරිමයට වඩන්න පුළුවන් අවස්ථාවක්, ඒ වගේ මානසිකත්වයක් උදා වුනා නම්, ඒ පුද්ගලයට නැවත ලේසියෙන් කරදර කරන්න අවස්ථාවක් ලැබෙන්නෙ නෑ.** මනුස්සානං පියෝ හෝති අමනුස්සානං පියෝ හෝති... කියල පෙන්වන, මනුස්සයොත්

අමනුස්සයොත් ප්‍රිය කරන්න පටන් ගන්නවා. මුලාව දුරු වෙලා යනවා. මුඛ වර්ණය පැහැපත් වෙනවා. වස විස ගිනි විස වදින්නෙ නැතිව යනවා. කඩු කිණිසි පහරක් ගැහුවට වදින්නෙ නැතිව යනවා. දෙවියන් විසින් ආරක්ෂා කරනවා. වහා සිත සමාධිගත කරනවා. නුමුලාව (මුලාවට පත් නොවී) කළුරිය කරනවා. කවදහරි අරිහත් ඵලයෙන් කෙළවර නොවුනොත්, අනාගාමී ඵලයට පත් වෙලා බඹ ලොව ඉපදිලා සසර ගමන කෙළවර කරනව මිසක් නැවත මෙලොවට එන්නෙ නෑ. මේ විදිහට හරියට කළොත් <u>මෙත්තානිසංස සූත්‍රයේ</u> එන ආනිසංස 11 ම ලබනවා. එබඳු උතුම් බලයක් මේ භාවනා කමටහනේ තියෙනවා. හැබැයි මූලධර්මය තේරුම් අරගෙන අර්ථවත්ව වටහාගෙන වඩනව නම් විතරයි මේ කියන ශක්තිය නැගෙන්නෙ.

338.සෝ භගවා ඉතිපි සම්මා
සම්බුද්ධෝ
සම්මා සම්බුද්ධෝ වත සෝ භගවා
නමෝ තස්ස භගවතෝ අරහතෝ
සම්මා සම්බුද්ධස්ස
බුද්ධ රතනානුභාවේන
ධම්ම රතනානුභාවේන
සංඝ රතනානුභාවේන
සබ්බ රෝග විනස්සතු
සබ්බ භය විනස්සතු
සබ්බ විඝ විනස්සතු
සබ්බන්තරාය විනස්සතු
විඝ බන්ධන විනස්සතු

මාතා යථා නියං පුත්තං
ආයුසා ඒකපුත්ත මනුරක්ඛේ
ඒවම්පි සබ්බ භූතේසු
මානසංභාවයේ අපරිමාණං

මෙත්තංච සබ්බ ලෝකස්මිං
මානසංභාවයේ අපරිමාණං
උද්ධං අධෝච තිරියංච
අසම්බාධං අවේරං අසපත්තං

සාදු! සාදු!! සාදු!!!

339. රාගයෝ සුං
ද්වේශයෝ සුං
මෝහයෝ සුං
සියල්ලම සුං! සුං! සුං!

(විශේෂයෙන් තමන් ළඟ රාග, ද්වේශ, මෝහ ගති ලක්ෂණ තියේ නම් ඒවා සුන් වෙලා යන්න මේ කමටහන වැඩීම හේතු වෙනවා. ඊට අමතරව බාහිරින් එන කරදර බාධක දුරු වෙන්නත් හේතු වෙනවා.)

340. රාග බන්ධන සුං
ද්වේශ බන්ධන සුං
මෝහ බන්ධන සුං
මාර බන්ධන සුං
සියලු බන්ධන සුනේ සුං ///

(විශේෂයෙන් රාග, ද්වේශ, මෝහ මුල් කරගෙන බාහිරින්, අනුන්ගෙන්, තමන් ඇසුරු කරන පිරිස්වලින් එන අණවින බන්ධන, මාර බලපෑම්, නොරිස්සුම් ගති, කරදර කිරීම්... ආදිය තිබුන නම් ඒවා සුන් වෙලා යන්න මේ කමටහන හේතු වෙනවා. ඊට අමතරව තමන්ගෙ තියෙන රාග, ද්වේශ, මෝහ ප්‍රහාණයත් සිද්ධ වෙනවා.)

341.බුද්ධ සූර්යා නම් තමාය

බුජ්ජිතා සච්චානීති බුද්ධෝ - චතුරාර්ය සත්‍යය අවබෝධය බුද්ධ නම් වේ. මෙතැනදි බුද්ධ කියන්නෙ ශ්‍රාවක බුද්ධ. ඒ කියන්නෙ මේ ආර්ය මාර්ගය වඩාගෙන යන අට්ඨ පුරිස පුග්ගලා කියන පිරිස. අන්න ඒ විදිහට තමන් ශ්‍රාවක බුද්ධ කියල අදහස් අරගෙන මේ කමටහන වඩනකොට ඊට අදාළ ශක්තිය ඇදිල එනවා.

342. බුද්ධ සූරියාලෝක සිද්ධි බල ඒස්වඃ (ඒස්වහඃ)

මෙතැන "ඒස්වහඃ" කියල සටහන් කරල තිබුණට "හ" යන්න වෙනම උච්චාරණය වෙන්නෙ නෑ. "වහ්" (වඃ) කියල ස්වර ශබ්දය විතරයි උච්චාරණය වෙන්නෙ. මේ දෙවිදිහෙන් කොයි විදිහට සටහන් කරල තිබුණත් උච්චාරණය වෙන්නෙ එකම විදිහට. 91 කලාපයේ අංක 254 යටතේ සඳහන් කළ "සප්ත සූරියාලෝක සිද්ධි බල ඒස්වඃ" කර්මස්ථානය වගේම මේකත් ප්‍රබල කර්මස්ථානයක්. ඒ නිසා 91 කලාපය යටතේ විස්තර කරල තියෙන ඒ විස්තරය මේ කර්මස්ථානයටත් අදාළයි. කර්මස්ථානය අවශ්‍ය කාල වේලාවක් වඩල අවසානයේ, සත්‍යයි/// ස්ථිරයි/// අධිෂ්ඨානයි/// කියල තුන් වතාව බැගින් කියන්න. ඒ කියන්නෙ සත්‍ය වශයෙන්ම, ස්ථිර වශයෙන්ම අධිෂ්ඨානයේ පිහිටනවා කියන එක.

343. අනන්ත බුද්ධ බෝධි
රාජානුභාවේන
දසබිම්බර මාර හිර බන්ධන
ඡේදන ඡේදන ඡේදන
විනස්සතු
(බන්ධන කැපීමට සුදුසු
කමටහනකි.)

344. හත් ඉර අච්චයි

345. හත් ඉර අච්චයි ///
හත් ඉලව්වයි

මේ කර්මස්ථාන දෙකම රාග ප්‍රහාණයටත් යෝග්‍යයි. සූර්යා බිහි වුනේ අපේ තිබ්බ්ච සූර ගතියට අදාළ ශක්තිය ගිලිහිලා ගිහින්. මේ කර්මස්ථාන හරහා ඒ ශක්තිය තමයි නැවත ඇදිල එන්නෙ. ඉරවල් 7 ක් පායනකොට ලෝකය විනාස වෙලා යනව වගේ රාගය විනාස වෙන්න මේ කමටහන් වැඩීම හේතු වෙනවා. ඒ කියන්නෙ පංච කාමය ඇසුරු කරගෙන නැගිච්ච රාගයත් එක්ක බැඳිච්ච දෙයක් තියේ නම් දැවිල පිච්චිලා යනවා. ශරීරයේ තියෙන චක්‍ර හතම සුද්ධ වෙනවා.

ඒ වගේම යම් කිසි වැඩක් පලක් කරනකොට එන වෙහෙස මහන්සිය, බඩගින්න දුරු වෙලා යනවා. එතැනදි අර විදිහට වෙන්න මේ විදිහට වෙන්න කියල අමුතුවෙන් හිතන්න පතන්න දෙයක් නෑ. ධර්මතාවයෙන්ම කර්මස්ථානයට අනුව ඒ පහසුව ලැබෙනවා. ඒ විදිහට මේ කමටහන් වඩාගෙන පහසුව සලසගත්ත පින්වතුන් දැනටත් ඉන්නවා.

හැබැයි මේ කර්මස්ථාන දෙක සැහෙන වාර ගණනක් එක දිගටම වඩනකොට සමහර අයගෙ ශරීරයට සම්බන්ධ වෙලා ඉන්න අමනුස්සයො ඇවිස්සිලා ඇඟ රත්වෙලා නොයෙක් අපහසුතා ඇතිවෙන්න පුළුවන්. ඒ වගේම කර්මස්ථානයේ තියෙන ප්‍රබලත්වය නිසාත් එහෙම වෙන්න පුළුවන්. ඒ නිසා තමන්ට ගැලපෙනවනම්, දරා ගන්න පුළුවන්නම් විතරක් ක්‍රමානුකූලව වඩාගෙන යන්න.

346. හ්රීං නමඃ හ්රීං හ්රීං නමඃ හ්රීං හ්රීං
හ්රීං නමඃ
(බන්ධන කැපීමට)

347. ඕං නමඃ ඕං ඕං නමඃ ඕං ඕං ඕං
නමඃ
(අභිවෘද්ධියට/ආරක්ෂාවට)

ඉහත අවසන් ආරක්ෂක කර්මස්ථාන දෙකම නමඃ (නමහ්) කියල හයියෙන් කියවෙන්න ඕන. මොකද ශබ්දයෙන් තමයි ඒක බලවත් වෙන්නෙ. හැබැයි ඉස්සෙල්ල කියල පුරුදු වුනාට පස්සෙ රහසින් කිව්වත් කමක් නෑ. රහසින් කිව්වත් අවසානයේ අර විදිහට ශබ්දය ඇදිල යන්න ඕන.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නොපළ වූ ගුණ කඳ

## භික්ෂුන් වහන්සේ නමක් පොළව පලාගෙන අපාගත වූ හැටි...

## XXIV



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

### අභයරතනාලංකාරය - 95

අපි අතර ඉන්න සාමාන්‍ය මනුස්සයො විතරක් නෙවෙයි, මහණ දම් පුරන්න සිවුරු දරාගත්ත භික්ෂූන් වහන්සේලා පවා සතර අපාගත වෙච්ච අවස්ථා සම්බන්ධයෙන් වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ලබපු අත්දැකීම් බොහොමයක් මේ සඟරාවෙ "අභයරතනාලංකාරය" සහ "අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්" ලිපි පෙළ යටතේ පළ කරල තියෙනවා. ඒ අතර ඔසුපත් නිරය, අටමහා නිරය කියන නිරි ලෝකවලට ගියපු අයගෙ විස්තර පවා හෙළිදරව් කරල තියෙනවා. බුද්ධ කාලයේ පවා එහෙම වෙච්ච අවස්ථා ත්‍රිපිටක පෙළ දහම තුල ඕනෑ තරම් සඳහන් වෙනවා. ඉතින් අද වෙනකොට මිනිස්සු නොදැන කරගන්න අකුසල් දිහා බැලුවම මේ සතර අපාය විතරක් නෙවෙයි, මුළු සංසාරයම කොතරම් බියකරුද කියන කාරණය පෙන්වා දෙන තවත් අත්දැකීමක් තමයි මේ ඉදිරිපත් කරන්නෙ.

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේව ගිහි වතක පටන් ළඟින් ඇසුරු කරපු භික්ෂූන් වහන්සේ නමක් සහ දායක උපාසක මහත්තයෙක් ඇසුරෙන් තමයි මේ විස්තරය ඉදිරිපත් කරන්නෙ. අන්‍ය ලෝක සත්වයන් කෙරෙහි දයානුකම්පාවෙන් මේ කාරණය පළ කරන්න කියල ඒ භික්ෂූන් වහන්සේ සහ දායක උපාසක මහත්තය ඉල්ලා සිටි නිසා ඒ කාරණා එකින් එක ගලපල මේ විදිහට ඉදිරිපත් කරනවා. නමුත් පුද්ගලිකව මේ සිද්ධියට සම්බන්ධ භික්ෂූන් වහන්සේලාගේ නම්, ගම්... ආදී විස්තර සඳහන් කිරීම නොගැලපෙන නිසා ඒ සිද්ධිය විතරක් කෙටියෙන් ඉදිරිපත් කරනවා. ඒ අනුව පළමුවෙන්ම මේ විස්තරය ඉදිරිපත් කළේ ඒ දායක උපාසක මහත්තයා.

මමත් හොඳට දන්න කියන, බොහොම ළඟින් ඇසුරු කරපු හාමුදුරුවො නමකගේ... පාර්ශවයට තමයි මේ කියන හාමුදුරුවොත් සම්බන්ධ වෙලා හිටියෙ. ඉතින් ඒ කාලෙ වහරක හාමුදුරුවො මහණ වෙලා නෑ, අබේරත්න උපාසක මහත්තය විදිහට තමයි සාසනික කටයුතු කළේ. මම දවසක් අබේරත්න උපාසක මහත්තයත් එක්ක මේ දන්න කියන හාමුදුරුවන්ගෙ පන්සලට ගියාම ඒ හාමුදුරුවො කිව්වා, අහවල් නායක හාමුදුරුවො අසනීප වෙලා එකතැන් වෙලා ඉන්නවා, උන්වහන්සේ බොහොම වටින දක්ෂ ධර්ම දේශකයන් වහන්සේ නමක්, ගුවන් විදුලියේ එහෙමත් බණ දේශනා කරනවා, ඒ නිසා ඔබතුමාගෙ සමාධියෙන් උන්වහන්සේට තියෙන අසනීපය මොකක්ද කියල පොඩ්ඩක් බලමුද කියල. හොඳයි යමු හාමුදුරුවනේ කියල අබේරත්න මහත්තයත් ඒ කාරණයට එකඟ වුනා.

පහුවදාම මේ හාමුදුරුවොයි අබේරත්න උපාසක මහත්තයයි මමයි මේ අසනීප හාමුදුරුවන්ව බලන්න ඒ පන්සලට ගිහින් උන්වහන්සේත් එක්ක කතා කළා. උන්වහන්සේත් මාව දන්න හඳුනන නිසා මම කිව්වා, හාමුදුරුවනේ මම දන්න කියන, බොහොම හොඳට බුදු බණ දන්න මහා ගුණවත් මහත්තයෙක් තමයි මේ අබේරත්න උපාසක මහත්තයා, මේ මහත්තයගෙ දැනුමත් එක්ක බලත්දි අපිට අංශු මාත්‍රයක දැනීමක් තමයි තියෙන්නෙ කියල. එහෙම කියල අබේරත්න මහත්තය ගැන හඳුන්වා දුන්නා. එතකොට අපිත් එක්ක ගිය අනික් හාමුදුරුවොත් වහරක අබේරත්න මහත්තය ගැන විස්තර කළා. ඔව් ඔව් මේ මහත්තය ඇසුරු කරන්න බොහොම වටිනා කෙනෙක්, අපේ ගමේ පන්සලෙත් පූජාවක් තිව්වා, ඒ පූජාවෙදි මහ පුදුම සිද්ධි වුනා, මමත් ඒ සෙත් පැන් බිව්වා, මට නැගිටල යන්න එන්න බැරිව හිටියෙ, මම ඔය පන්සල තියෙන කන්දට අවුරුදු ගණනාවකින් ගිහින් තිබුණෙ නෑ, මේ සෙත් පැන් බීල මට දැන් දවසට දෙපාරක් යන්නත් පුළුවන්, මගේ සියලු ලෙඩ හොඳ වුනා කියල ඒ හාමුදුරුවොත් කිව්වා.

එතකොට අබේරත්න මහත්තය උන්වහන්සේ ගැන සමාධියෙන් යොමු කරල බැලුවා. උන්වහන්සේට මොනවහරි අකුසල කර්මයක් විපාක දීල තියෙනව කියන කාරණය කිව්වා. යන්තරයක් එහෙම දාන්න ඕන, ඊට ඉස්සෙල්ලා මේ පන්සලේ බෝධි පූජාවක් එහෙම තියල ආශිර්වාදයක් කරන්න ඕන හාමුදුරුවනේ කියල අබේරත්න මහත්තය තවත් විස්තරයක් කිව්වා. මේ ස්ථානයේ ලොකු බන්ධන වගයක් තියෙනවා. නාග බන්ධනයක් එහෙම තියෙනවා... මේ ස්ථානයේ මේ මේ වගේ සිද්ධි වුනාද කියල අබේරත්න මහත්තය සමාධියෙන් දැකපු විස්තර ඒ නායක හාමුදුරුවන්ගෙන් ඇහුවා. ගමේ දෙපිරිසක් භේද වෙලා පන්සලට පක්ෂව පිරිසකුත්, විපක්ෂව පිරිසකුත් හිටියද කියල ඇහුවම, ඔව් ඔව් එහෙම තිබුන කියල ඒ හාමුදුරුවොත් කිව්වා. බෝධියේ අත්තක් කඩාගෙන වැටිල පන්සලේ ගොඩනැගිලි කොටසක් යට වුනාද කියල ඇහුවම ඔව් එහෙමත් වුනා කිව්වා. ඒක අර බන්ධනයත් එක්ක වෙච්ච සිද්ධියක් බවත් අබේරත්න මහත්තය කිව්වා.

කොහොම හරි ඒ පන්සලේ දායක සභාවත් මුල් වෙලා බෝධි පූජාව තියනකොට ඒ ස්ථානයේ තිබ්ච්ච නාග බන්ධන පුපුරල නයි පුදුම විදිහට පිට වෙලා ගියාලු. එක එකා බැඳිල රැහැන් පිටින්ලු ගියේ. අබේරත්න මහත්තය පවත්වපු බෝධි පූජාවලින් වැඩිම කාල වේලාවක් අරගෙන කරපු බෝධි පූජාව තමයි ඒ. පැය 6 1/2 ක් විතර හිටගෙන සමාධියෙන් කරපු බෝධි පූජාවක්. සෙනගත් හිටියා. පූජාව ඉවර වුනාට පස්සෙ ඒ අසනීප හාමුදුරුවන්ට



නව ගුණ යන්තරයකුත් දැම්මා. ඊට පස්සෙ සනීප වෙලා අවුරුද්දක් විතර හිටියා. මට හරිම සතුටුයි, ඇත්තටම මහත්තය මට දැන් සනීපයි, මගේ කරුමෙට යන්න එන්න බැරි වුනාට මහත්තය කරපු වැඩ කටයුතු නිසා කයට පුදුම සැහැල්ලුවක් දැනෙනවා කියල ඒ හාමුදුරුවො කිව්වා. අබේරත්න මහත්තයත් ඉතින් ඒ ස්ථානයට ගරු කළා.

කොහොම හරි අවුරුද්දකට විතර පස්සෙ උන්වහන්සේ අපවත් වුනා. අපවත් වෙලා දවස් 2 ක් විතර ගියාට පස්සෙ මමත් ගිහින් උන්වහන්සේගේ දේහය බලල ආදාහන උත්සවයේ කටයුතුවලටත් ආධාර උපකාර කළා. මටත් ඉතින් හරි සංවේගයක් ඇති වුනා. මොකද මේ හාමුදුරුවො මමත් එක්කත් බොහොම හිතවත්. මල්ලි කියල තමයි මට කතා කළේ. අපේ තාත්තා අන්තරා වෙච්ච වෙලාවෙත් ගෙදරට වැඩියා. තාත්තත් ඒ පන්සලේ වැඩ කටයුතු එහෙම කරල දීල තියෙනවා. ඒ හිතවත්කම අපිත් එක්කත් තිබුනා.

ඉතින් දවස් 7 ක් ගියාට පස්සෙ දවසක් රෑ මම තවත් හිතවතුන් දෙතුන් දෙනෙක් එක්ක අබේරත්න මහත්තය මුණගැහුනා. මහත්තයගෙන් අපි මේ අපවත් වෙච්ච හාමුදුරුවන්ගෙ අත්බැව ගැන ඇහුවා. අපි ඉල්ලීමක් කළා, මේ හාමුදුරුවන්ගෙ අත්බැව ගැන පොඩ්ඩක් යොමු කරල බලන්න බැරිද කියල. එතකොට අබේරත්න මහත්තය හාමුදුරුවන්ගෙ නමයි පන්සලේ නමයි අහල යොමු කරල බැලුවා. මහත්තය සමාධිගත වෙලා විනාඩි ගණනක් හිටියා. සාමාන්‍යයෙන් වෙනත් අවස්ථාවල සමාධිගත වුනාම එච්චර කාලයක් ගත කරන්නෙ නෑ. ක්ෂණයකින්ම කාරණය විස්තරත් එක්ක කියනවා. නමුත් මේ අවස්ථාවෙදි විනාඩි ගණනාවක්ම යොමු කරගෙන ඉඳල “අප්පච්චියේ මේ සසරෙ හැටි” කිව්වා. මහා දයානුකම්පාවකින් තමයි ඒ වචන ටික කිව්වෙ. මම දැනගත්තා සතුටු හිතකින් නම් නෙවෙයි එහෙම කිව්වෙ කියල. මම ඇහුවා මොකද තත්වෙ කියල.

මහත්තයෝ මේ හාමුදුරුවො පොළව පලාගෙන යනවා, ඉනෙන් පල්ලෙහා ගිහින් දැන් පොළව යට, ඉනෙන් උඩ විතරක් පේනවා කිව්වා. මම ඇහුවා බේරගන්න බැරිද කියල. පුළුවන්, හැබැයි බේරගන්න පොඩි වැඩක් කරන්න තියෙනවා කිව්වා. දින 9 ක් යන්න පෙර කුල දරුවො 8 දෙනෙක් මහණ කරන්න ඕන. ඒ පින මේ භික්ෂූන් වහන්සේගෙ නමට අනුමෝදන් කරන්න ඕන. එතකොට උන්වහන්සේ එතැනින් ගැලවෙනවා. ගැලවුනාට පස්සෙ වෙනත් මොකවත් සාසනික ප්‍රතිකර්මයක් නොකළොත් ඔය ගමේම කෙල තොල්ලෙක් (මන්ද බුද්ධිකයෙක්) හැටියට තමයි පහල වෙන්නෙ. මිනිසත් භවයක් ලැබුවත් කෙල තොල්ලෙක්.

හැබැයි ඒකෙන් බේරගන්නත් පුළුවන් කිව්වා. තුන් මාසයක් යන්න පෙර, හදාගෙන යන චෛත්‍යයකට කොතක් පළන්දල ඒ පිංකම උන්වහන්සේගේ නමට අනුමෝදන් කරන්න ඕන. මේ සාසනයේ උතුම් චෛත්‍ය රාජයාණන් වහන්සේට පූජා කරපු කොත මුල් කරගෙන ඒ පින එල්ල කරල මේ හාමුදුරුවන්ට අනුමෝදන් කළාම ඒ අවස්ථාවෙනුත් ගැලවිලා අවුරුදු 500 ක් අන්තරා භවයේ චීවරය දරාගෙනම ඉන්නවා. ඒ කියන්නෙ ශ්‍රමණ ගන්ධබ්බයෙක් විදිහට. එතකොට ගැටළුවක් නෑ. මොකද මේ කියන බණ උන්වහන්සේට ඇහෙනවා. එතකොට උන්වහන්සේට ගොඩ යන්න හේතු තියෙනවා. අන්තරා භවයෙ මිනිස් ලෝකය වගේ නෙවෙයි, ආරාධනා කරනකොට මේ බණ ඇහෙනවා. මොකද මේ මතු කරපු දහම තවත් අවුරුදු 700 ක් පවතින බව අබේරත්න මහත්තයගෙ මුල් අවසර දේශනාවෙම සඳහන් වෙනවා. ඒ කාරණය පසුකාලීනවත් කිව්වා. ඉතින් මේ හාමුදුරුවන්ව ගොඩගන්න නම් පුළුවන්, මේ ටික කරන්න ඕන කියල ඔය විස්තරය කිව්වා. හැබැයි මේ කාරණා ටික ඒ පන්සලේ දැන් ඉන්න අනෙක් හාමුදුරුවන්ට කිව්වට තේරෙන්නෙ නෑ කියලත් අබේරත්න මහත්තය කිව්වා.

එතකොට අපිට හිතවත් තවත් හාමුදුරුවො නමක් හිටියා අබේරත්න මහත්තයගෙන් බණ අහපු. උන්වහන්සේ අපිට බොහොම හිතවත් අවංක කෙනෙක්. අපේ තාත්තගෙ තුන් මාසෙ දානෙට වැඩිය වෙලාවෙ තමයි අබේරත්න මහත්තයව ඉස්සෙල්ලම මුණගැහුනෙ. ඉතින් ඒ හාමුදුරුවො එදා අපේ ගෙදර බණ කියල වැඩියට පස්සෙ තමයි අබේරත්න මහත්තය බණ කිව්වෙ. එතැනදි අබේරත්න මහත්තය මේ හාමුදුරුවො දිහා බලාගෙන ඉඳල මට කිව්වා, මේ හාමුදුරුවො හොඳ ගමනක් තියෙන කෙනෙක්, අපිට කතා කරන්න සුදුසු කෙනෙක්, වෙලාවක අපි කතා කරමු කියල. ඉතින් උන්වහන්සේ බණ කියල වඩිනකොට මම කිව්වා අබේරත්න මහත්තයගෙ බණත් අහල වඩින්න කියල. මම පන්සලේ ඉඳගෙන අහන්නම් කියල වැඩියා. මොකද ඒ පන්සලත් පේන දුරින් තිබුනෙ. ශබ්ද විකාශන යන්ත්‍ර සවි කරල තිබුන නිසා පන්සලටත් ඇහෙනවා. කොහොම හරි කිව්ව වගේම ඒ හාමුදුරුවො පන්සලේ ඉඳගෙන බණ අහල තිබුනා.

ඉතින් උන්වහන්සේ අපිට හිතවත් නිසා උන්වහන්සේව මේ කටයුත්තට සම්බන්ධ කරගන්න අපි කතා වුනා. හැබැයි මේ කියන කාරණය (පොළව පලාගෙන අපාගත වීම) ඕන නම් බලාගන්න ක්‍රමයකුත් තියෙනව කියල, ඉස්සෙල්ලම ඒක බලන්න කියලත් අබේරත්න මහත්තය ක්‍රමයක් කියල දුන්නා. හැබැයි දවස් 9 ක් යන්න කලින් ඒක කරන්න ඕන. 9 පැන්නට පස්සෙ පොළව පලාගෙන ගිහින් ඉවරයි. එතකොට දැන් මම මේ හත්වෙනි දවසෙ තමයි අබේරත්න මහත්තයත් එක්ක කතා කරන්නෙ. තව දවස් 2 යි ඉතිරි වෙලා තියෙන්නෙ. මම ඉතින් මේක කරන්න පුළුවන් වෙයි කිව්වම, අබේරත්න මහත්තය බොහොම සංවේගයෙන් ඒ සිද්ධිය බලන විදිහකුත් කියල දුන්නා.

හැබැයි මේක කරන්න ඕන මේ අපවත් වෙච්ච හාමුදුරුවො වැඩ හිටපු කාමරයේ / කුටියේ. වොට් 5 ක විදුලි බුබුලක් අරගෙන කළු පාට හෝ සව්කොළ වගේ මොනව හරි වර්ණ කඩදාසියකින් පොටවල් කිහිපයක් ඔතල ඒක අඳුරු කරන්න කිව්වා. ඒ කුටියේ ඒ විදිහට ඒ අන්ධකාරය හදල විදුලි බුබුල දල්වල ස්ටූල් එකක් උඩ වතුර වීදුරුවක් තියල විනාඩි 3 - 4 ක් බලාගෙන ඉන්නකොට ඇහැට ඡායාවක් වගේ පේනවා මේ තියෙන්නෙ වතුර වීදුරුවක් කියල. ඒ තියෙන ආලෝක මට්ටමින් මේ තියෙන්නෙ වතුර වීදුරුවක් කියල හඳුනගන්න පුළුවන්. මේ වගේ අත්දැකීම් අපි හැමෝටම වගේ තියෙනවා. කළුවර කාමරයකට ඉස්සෙල්ලම ගියාට මොකුත් පේන්නෙ නෑ. හැබැයි ටික වෙලාවක් ඉන්නකොට ඒ කාමරයේ තියෙන සමහර දේවල් යන්තමට පේන්න ගන්නවා.

ඉතින් ඒ කුටියේ මෙන්න මෙහෙම ආලෝක මට්ටමක් හදල භික්ෂූන් වහන්සේලා 7 නමක් ඒ කුටියේ ඇතුලෙ බිම වටේට ඉඳගෙන ඔය කියන මැද සීමාව බලාගෙන ඉන්න කියන්න කිව්වා. හැබැයි අවුරුදු 18 - 25 වගේ තරුණ භික්ෂූන් වහන්සේලා තමයි එතැන


විශේෂ බුද්ධ බෝධි සෙත් ආශිර්වාද පූජාවක් සිදුකරමින්

ඉන්න කිව්වෙ. වයසක අයත් නෙවෙයි, පොඩිම අයත් නෙවෙයි. මොකද මේ වගේ තරුණ භික්ෂූන් වහන්සේලාට කෙනෙක් අපාගත වන දර්ශනයක් දැක්කම ඒ කාරණය පහසුවෙන් තේරුම් ගන්න පුළුවන්. සිහි කල්පනාවෙ අඩුවක්, අසනීප ගති... ආදියත් නැති නිසා මනෝ විකාර කියල කාටවත් කියන්නත් බෑ. පොඩි අයට නොතේරෙන නිසාත්, වැඩිහිටි අයට අසනීප ගති කියල, මනෝ විකාර කියල ප්‍රතික්ෂේප කරන්න පුළුවන් නිසාත් තමයි තරුණ අයව ගන්නෙ. එතකොට මේ කාරණය ඔප්පු කරන්න පහසුයි. ඊට පස්සෙ මේ ගැන තවත් දැනුවත් වෙච්ච දෙතුන් දෙනෙක් එළියෙ ඉන්න ඕන. ඒ අයට වයස් සීමාවක් ඕන නෑ.

එතකොට මේ කුටිය ඇතුලෙ ඉන්න අයගෙන් තුන් නමකට වැඩි ගණනකට අර පොළව පලාගෙන යන සිද්ධිය පෙනෙයි කිව්වා. තුන් දෙනෙකුට වැඩි ගණනකට පෙනෙනවයි කියන්නෙ ඒ කාරණය ඔප්පු වෙනවා. ඒක දැක්ක ගමන් මේ අය නැගිටල බයේ දුවනවා ආයෙ දෙකක් නෑ. එතකොට එතැන එළියෙ දැනුවත් වෙලා ඉන්න දෙතුන් දෙනා මේ අය දුවනකොට අහනවා මොකක්ද දැක්කෙ කියල. අන්න එතකොට දැකපු දේ කියනවා. අර අපවත් වෙච්ච හාමුදුරුවෝ, මාව බේරගන්න කියල අත් දෙක උස්සගෙන කෑ ගහනවා. තවමත් ඉනෙන් පහළ පොළව යට, ඉනෙන් ඉහළ පොළොවෙන් උඩ. දින 9 ක් යනකල් ටික ටික තමයි පොළව යටට ඇදෙන්නෙ. දැන් මේ සිද්ධිය දැක්කම සාක්ෂියක් තියෙනවා, මේ කිව්ව කාරණය බොරුවක් නෙවෙයි ඇත්තනේ, අනේ අපි මේ හාමුදුරුවන්ව බේරගන්න ඕන කියල.

ඉතින් අබේරත්න මහත්තය මුණගැහිල මේ කතාව අහගෙන ඉවර වෙනකොට වෙලාව රෑ 12.00 යි. මම එවෙලෙම තවත් හිතවත් මහත්තයෙක් එක්ක යතුරු පැදියක නැගල අර හිතවත් නායක හාමුදුරුවෝ මුණගැහෙන්න ගියා මේ කාරණය දැනුම් දෙන්න. මොකද අපිට ගිහියො වශයෙන් මේකට මැදිහත් වෙන්න බෑ, උන්වහන්සේ තමයි මැදිහත් වෙන්න සුදුස්සා. මහ රෑම අපි ගිහින් උන්වහන්සේට මේ කාරණය කිව්වම උන්වහන්සේටත් විසාල කම්පාවක් ඇති වුනා. මහත්තය මම හෙට එළිය වැටෙනකොටම කොහොම හරි මේක කරන්න පුළුවන් තරම් උත්සාහයක් විරියක් ගන්නවා, මම හෙට දානෙවත් ගන්නෙ නැතිව නැගිට්ට ගමන් පාන්දරම ගිහින් මේ කාරණය ඒ හාමුදුරුවෝ හිටපු පන්සලේ දැන් ඉන්න නායක හාමුදුරුවන්ට කියල දැනුවත් කරන්නම් කිව්වා. මම කිව්වා ඔබවහන්සේට තමයි මේක විසඳන්න පුළුවන් කියල. මම ඇත්තටම මේක කිව්වෙ අපවත් වෙච්ච හාමුදුරුවො කෙරෙහි තියෙන අනුකම්පාවට. මොකද අපිත් ඇසුරු කරපු, අපි දන්න විදිහට හොඳ හාමුදුරුවො නමක්. නමුත් ඉතින් අපිට කරන්න දේකුත් නෑ. අපිට කරන්න පුළුවන් හරිය නොකර හිටියොත් ඒක වරදක් නිසා තමයි මම ඇවිත් ඔබවහන්සේව දැනුවත් කළේ කියල මම කිව්වා. උන්වහන්සේත්, ඖව් කොච්චර දෙයක්ද අපි කරමු ඉතින් මටත් හරි සංවේගයි කිව්වා. කිව්ව වගේම උන්වහන්සේ මහ පාන්දරින්ම අර පන්සලට ගිහින් තිබුනා. ඒ පන්සලේ දැන් ඉන්න නායක හාමුදුරුවො මුණගැහිල මේ විස්තරය කියල දැනුවත් කළාම උන්වහන්සේ ඒකට කැමති වෙලා නෑ.

මොකද මේක කරන්න නම් ඒ පන්සලේ නායක හාමුදුරුවො කැමති වෙන්න එපැයි. මේ කියන කාමරය / කුටිය උන්වහන්සේගේ අවසරයෙන් තමයි ගන්න වෙන්නෙ. ඉතින් උන්වහන්සේ මේ අපවත් වෙච්ච හාමුදුරුවන්ගෙ තවත් ශිෂ්‍ය භික්ෂූන් වහන්සේ නමක්. නමුත්, ඕව ගණන් ගන්න එපා, මොන බොරුද කියල ඒ හාමුදුරුවො ඒක ප්‍රතික්ෂේප කරල තිබුනා. අන්තිමට මේ හාමුදුරුවො නැවතත් මාව මුණගැහෙන්න ඇවිත් කිව්වා, අයියෙ වැඩේ හරියන්නෙ නෑ මටත් හරි කණගාටුයි මම එන්න ආව කියල. මුන්වහන්සේ ඉතින් අන්තිමට කිව්වලු, එහෙනම් මේ පින්කම කරන්න බැරි නම් අර පරීක්ෂණයවත් කරල බලමු කියල. ඒකටත් කැමති වුනේ නැතිලු. මම කිව්ව ඉතින් මොනව කරන්නද අපිට කරන්න පුළුවන් උත්සාහය කළානෙ කියල.

ඊට පස්සෙ දැන් දවස් 9 ක් ගිහින් මම 10 වෙනි දවසෙ උදේ අබේරත්න මහත්තය මුණගැහිල කිව්වා, මහත්තයෝ වැඩේ කෙරුනෙ නෑ දැන් මොකද වෙලා තියෙන්නෙ කියල. ඒ වෙලාවෙ අබේරත්න මහත්තය බොහොම සංවේගයෙන් කිව්ව වචන ටික මට තවම මතකයි. මොනව කරන්නද ඉතින්, දැන්වත් මම කියපු පරීක්ෂණය කරල බලන්න කියන්න, එතකොට පොළව පලාගෙන යනකොට ඉතිරි වෙච්ච ලේ පැල්ලමවත් බලාගන්න පුළුවන් වෙයි කිව්වා. ඒ කියන්නෙ අර ආලෝකයට ඒ ලේ පැල්ලමත් පේනවලු. මේක බොරුවක් නෙවෙයි කියල, ඕන නම් ඒ ලේ පැල්ලමෙන්වත් වෙච්ච සිද්ධිය හිතාගන්න පුළුවන් කිව්වා. නමුත් එහෙම පරීක්ෂණයක් කරල බැලුවෙත් නෑ. ඉතින් උන්වහන්සේ බේරගන්න තිබ්ච්ච අවස්ථාව ගිලිහිලා ගියා. එතකොට යටට ගිහින් ඉවරයි.

ඉතින් මේ හාමුදුරුවො පොළව පලාගෙන යන්න හේතුව මම අබේරත්න මහත්තයගෙන් ඇහුවා. හැබැයි ඒකට එල්ල කරල උත්තරයක් දුන්නෙ නෑ, නිහඬව හිටියා. මොකද සමහරවිට ඒවා ආරංචි වුනා නම් ඒ අවස්ථාවෙදි නොගැලපෙන්න තිබුනා. කොහොම හරි මේ හාමුදුරුවො ඒ වෙනකොට බාහිරින් භික්ෂූන් වහන්සේ නමක් විදිහට හිටියට, අපි දන්න කියන කතාවලින් අහල තිබුනා හාමුදුරුවන්ට නොගැලපෙන සම්බන්ධකම් එහෙමත් තිබුන කියල. මොකද යාන වාහන එහෙමත් තිබුනා. ඉතින් හැමතැනම වගේ ගියා, ස්ත්‍රීන් එහෙමත් ඇසුරු කළා. සමහරවිට පන්සලේ දේපළත්

තිබ්බ්ච නිසා ඒවා වැරදියට පරිහරණය කළා වෙන්නත් පුළුවන්. මොකද සාංඝික දේපල නිසා එතකොට විපාකය දරුණුයි. ඒවා ගැන මම දැනුවත්ව හිටියෙ නැතත් ළඟින් හිටපු අය මාත් එක්ක කියල තිබුනා උන්වහන්සේට මේ වගේ සම්බන්ධකම් තිබුන කියල. හැබැයි ඒ කාලෙ ගුවන් විදුලියෙත් බණ කියපු දක්ෂ දේශකයන් වහන්සේ නමක්. දැනටත් ලංකාවෙ ඕනෑම වැඩිහිටි වයසක හාමුදුරුවො නමක් උන්වහන්සේ ගැන දන්නවා. ඒ පළාතේ නම කිව්වම දන්නවා. මම සමහරවිට ඔය ඈත පළාත්වල ගිහින්... අහවල් පළාතෙ කිව්වම, මේ අර ගුවන් විදුලියේ බණ කියපු හාමුදුරුවන්ගෙ පන්සල කිට්ටුවද කියල එහෙම තමයි අහන්නෙ. ඒ තරම් රටේ සමාජයේ හැමතැනම ප්‍රසිද්ධයි.

කොහොම හරි වහරක හාමුදුරුවො අබේරත්න මහත්තය කාලෙ ඉඳන් තිබ්බ්ච විශේෂ ගුණයක් තමයි, **කොච්චර වැරදි දුශ්චරිත කළත් භික්ෂූන් වහන්සේලාට දොස් කිව්වෙ නෑ. අපේ සමාජයේ මිනිස්සු සමහරවිට භික්ෂූන් වහන්සේලාගේ පුංචි අඩුපාඩුවක් / දුශ්චරිතයක් දැකල විවේචනය කරනවා, දොස් කියනවා, අපි නම් උන්වහන්සේව ගණන් ගන්නෙ නෑ... ඔය වගේ කතා කියනවා. හැබැයි වහරක හාමුදුරුවො තවත් හාමුදුරුවො නමකගෙ දුශ්චරිතයක් දැක්කත් පුද්ගලිකව එහෙම අගුණ කියන්න ගියේ නෑ. අපිටත් කිව්වෙ භික්ෂූන් වහන්සේලාගෙ අගුණ කියන්න එපා සෙල්ලම් නෙවෙයි කියල. ඒකෙ බරපතලකම උන්වහන්සේ ගිහි කාලෙ පටන්ම දැනගෙන හිටියා. එහෙම දුශ්චරිත අයට වුනත් වහරක හාමුදුරුවො ගිහි වතේදි පවා මහා ගෞරවයකින් වැන්දා.** ඒත් අබේරත්න මහත්තයගෙන් බණ අහන්න ආපු සමහර භික්ෂූන් වහන්සේලා කියනවා මහත්තය අපිට වඳින්න එපා කියල. අබේරත්න මහත්තය ගැන දන්න හාමුදුරුවරු මාත් එක්ක කියල තියෙනවා, මහත්තය අපිට ඉතින් වැන්දෙ නැති වුනාට ප්‍රශ්නයක් නෑ කියල. සමහර භික්ෂූන් වහන්සේලා අබේරත්න මහත්තය වඳියි කියල මග හැරල ගියපු අවස්ථාත් තියෙනවා. පන්සලට ගියාමත් සමහර හාමුදුරුවරු අබේරත්න මහත්තය වඳියි කියල මග හැරපු අවස්ථා තිබුනා.

ඉතින් මේ හාමුදුරුවො අපවත් වෙන්න කලින්, එදා පළවෙනි දවසෙදිම සමාධියෙන් අසනීපය ගැන බලත්දි මේ වගේ බාධක තියෙනව කියල අබේරත්න මහත්තය දකින්න ඇති. ඒ නිසාම තමයි බෝධි පූජාවක් තියල නව ගුණ යන්තරයක් බැන්දෙත්. ඒ තියෙන බාධකයෙන් ටිකක් හරි ගැලවෙන්න අවස්ථාවක් උදා කරල දෙන්න තමයි ඒ විදිහට කටයුතු කළේ. නමුත් ඒ පන්සලේ හිටපු අනෙක් හාමුදුරුවරු නිසා අන්තිමට ඒ අවස්ථාව ගිලිහිලා ගියා. මොකද ඒ කියපු ප්‍රතිකර්මයත් ඒ පරපුරේ කෙනෙක්ම කරන්න එපැයි. ඒ පන්සලේ අයිතිය තියන්නෙ දැන් ඉන්න නායක හාමුදුරුවන්ට නිසා වෙන කෙනෙකුට ඒක කරන්න බෑ. කොහොම හරි ඉතින් පොළව පලාගෙන ගියත්, මේ හාමුදුරුවන්ට වහරක අබේරත්න මහත්තය වගේ උත්තමයෙක්ගෙන් ආශිර්වාද ගන්න, යන්තරයක් දමාගන්න, ඒ පන්සලේ බෝධි පූජාවක් පවත්වගන්න හේතු වාසනාව තිබුණා. එහෙම සසරෙ සම්බන්ධයක්, හිමිකමක් තිබ්බ්ච නිසාම තමයි අබේරත්න මහත්තයා දයානුකම්පාවෙන් උන්වහන්සේව ගොඩ දාන්න උදව් කරන්න ගියේ. නැත්නම් එහෙම යන්නෙත් නෑ.

ඉතින් කුල දරුවො අටදෙනෙක් මහණ කළාම මේ හාමුදුරුවො ඒ තැනින් ගැලවිලා මිනිස් භවයකට යන්න හේතු යෙදෙනවයි කිව්වා. හැබැයි මහා බුද්ධිවන්තයෙක් විදිහට නෙවෙයි, මන්ද බුද්ධිකයෙක් විදිහට. ඉතින් පොළව පලාගෙන අපායට යනවට වඩා මන්ද බුද්ධිකයෙක් වුනත් මිනිස් ලෝකයේනෙ! එතකොට පිනකට හරි අතගහන්න හේතුවක් යෙදෙනවා. ඊළඟට ඒ මන්ද බුද්ධිකබව්නුත් බේරන්න තමයි චෛත්‍යයකට කොතක් පළන්දල අනුමෝදන් කරන්න කිව්වෙ. ඉතින් මේ හාමුදුරුවො ගොඩගන්න පුළුවන් ක්‍රමවේදය අබේරත්න මහත්තය කියල දුන්නත් ඒක කළේ නෑ. ඒක හරියට කළා නම් උන්වහන්සේ අද වෙනකොට අන්තරා භවයෙ ඉඳගෙන මේ බණ අහන්න, පුණ්‍ය කටයුතුවලට සම්බන්ධ වෙන්න, වන්දනාමාන කරගන්න අවස්ථාව තිබුනා. ඒත් ඒ අවස්ථාව ගිලිහිලා ගියා.

අද වුනත් කාටහරි දිවැසකින් / සමාධියකින් බලල කියන්න පුළුවන් නම්, අහවලා පොළව පලාගෙන අපායට යන්නයි ඉන්නෙ කියල, මේ පරීක්ෂණය දැන් වුනත් කරල බලන්න පුළුවන්. මොකද සියුම් කිරණමය කය බොහෝකොටම ආලෝකයට පේන්නෙ නෑ. එක්තරා ආලෝක මට්ටමකදි විතරයි දර්ශනය වෙන්නෙ. අන්න ඒ ආලෝක මට්ටම ගන්න තමයි අර විදිහට පරිසරය සකස් කරන්න කිව්වෙ. අබේරත්න මහත්තයට ඒ කාරණය සමාධියට පෙනුනට අනික් අයට එහෙම බලාගන්න බැරි නිසයි මේ විදිහෙ පරීක්ෂණයක් කරන්න කිව්වෙ.

ඊට පස්සෙ මම අබේරත්න උපාසක මහත්තයගෙන් ඇහුවා, මේක කරන්න හේතු තියෙන, උරුමකම් තියෙන ඒ භික්ෂූන් වහන්සේලා ඒක නොකර පැහැර හැරිය එකට ඒ අයට මොකද වෙන්නෙ කියල. එතකොට කිව්වා, ඒක හිතාගන්නත් බෑ කියල. මොකද මේ තමන්ගෙ මව්පියො වගේ හිටිය ගුරු හාමුදුරුවන්ට තමයි යුතුකම ඉටු නොකළෙ. ඉතින් එහෙම තමන්ට හොඳ නරක කියල දීල තමන්ව ඒ තත්වයට ගෙනත් පන්සලත් බාර දීපු ගුරු හාමුදුරුවන්ව අනාථ වෙලා ඉන්න වෙලාවක, ඒ ගැන දන්න කියන කෙනෙක් ඒ අනාථ තත්වයෙන් මුදව ගන්න ක්‍රමය කියල දුන්නමත්, උපකාරයට කෘතෝපකාර කිරීම නොකළයි කියන්නෙ ඒකත් බරපතල වරදක්. කොහොම හරි ඉතින් මේ සද්ධර්මය අහපු කෙනෙකුට තමයි සසරෙ භයානකත්වය වැටහෙන්නෙ. පොතපතින් කියවපු පළියට ඒක වැටහෙන්නෙ නෑ. ඇහුවෙ සද්ධර්මය නම් අඩුම තරමින් කළ්‍යාණ මිත්‍ර ඇසුරවත් ලැබෙන්න ඕන. ඉතින් ඒ වගේ අය මේ වෙනකොට අපි දැනුවත්ව ඕනෑ තරම් ඉන්නවා. එහෙම කෙනෙක්ගෙන් බණ ඇහුවොත් විතරයි සසර බය වැටහිලා ගොඩ යන්න අවස්ථාව ලැබෙන්නෙ. නැත්නම් ඉතින් මේ රටේ කොච්චර නම් උදේ ඉඳන් රෑ වෙනකල් බණ කියනවද? කෝ ප්‍රතිඵල? ඉතින් මේ සිද්ධියෙන් ලෝකයට ගන්න පුළුවන් ආදර්ශ බොහොමයි.

---

ඊළඟට මේ සිද්ධිය අබේරත්න උපාසක මහත්තයගෙන් ඒ කාලයේ අහල දැනගත්තු ගෞරවනීය භික්ෂූන් වහන්සේත් මේ විදිහට කෙටි පැහැදිලි කිරීමක් කළා.

අපිත් ඒ කාලෙ අහනකොට අබේරත්න උපාසක මහත්තය ඔය සිද්ධිය ගැන කියල තියෙනවා. ඒ අපවත් වෙච්ච හාමුදුරුවන්ව ළඟින් ඇසුරු කරපු අය සැරින් සැරේ ඇවිත් ඒ ගැන විස්තර ඇහුවලු. හැබැයි මේක බලාගන්න සහ වළක්වන ක්‍රමවේදය කියල දුන්නට ඒ අයට ඒක කරන්න 



නම් හම්බ වෙන්නෙ නෑ කියලත් කිව්වලු. මොකද කර්ම විපාකය ඒ තරම් බලවත්. කෙනෙකුට පිහිට වෙන්නත් නිකම්ම බෑ. කර්ම විපාකය බලවත් නම්, අනෙක් ගෝල හාමුදුරුවන්ටත් ඒකට හිත දෙන්නෙ නැත්තෙ ඒ නිසයි කිව්වා. ඔය වගේ පුණ්‍ය කර්මයක් කරල තාවකාලිකව බේරුවත්, වෙනත් කෙනෙක්ව සම්පූර්ණයෙන්ම බේරගන්න අපිට බෑ කියන එක තමයි අබේරත්න මහත්තය කිව්වෙ. දැන් මෙතැනදි උපකාරයට කෘතෝපකාරය කරන්න ඕන වුනත්, ඒ අපවත් වෙච්ච හාමුදුරුවන්ගෙ කර්ම විපාකය බලවත් නිසා තමයි ගෝලයින්ට ඒකට හිත දුන්නෙ නැත්තෙ. අබේරත්න මහත්තය ඒ කාරණය උදාහරණයකින් පැහැදිලි කළා.

බුදුන් වහන්සේ පාරිලෙයිය වනයේ වස් වසන කාලයේ ඇතෙක් ඇවිත් සැලකුවයි කියනවා. වේරංජාවේ වස් වසනකොට යවහාල් වළඳමින් දුෂ්කරව වැඩ ඉන්න වෙලාවෙ, ඇයි දෙයියනේ මෙච්චර දෙයක් වෙලත් දෙවියන්ගෙත් ඇස් පොට්ට වෙලාද, දෙවියන්වත් දන්නෙ නැත්ද කියල අබේරත්න මහත්තය ප්‍රශ්නයක් අහල ඒකට උත්තරත් දුන්නා. දෙවියො දන්නෙත් වස් කාලය අවසන් වුනාට පස්සෙ. මහේශාක්‍ය දෙවියන්ට පවා ඒ අවස්ථාවෙ ඒ කාරණය පේන්නෙ නැතිව ගියා. මොකද කර්ම ශක්තිය බලවත් නම් ඒ පැත්ත බලන්නත් අමතක වෙනවා. ඉතින් බුදුන් වහන්සේගෙ පෙර කර්ම විපාකයක් නිසා ඒ අවස්ථාවෙ ඒ වගේ දුෂ්කරතාවයන්ට මුහුණ දෙන්න සිද්ධ වුනයි කියල උන්වහන්සේම දේශනා කරනවා. ඒ වගේ අපිට කාට හරි උදව් කරන්න ඕන වුනාට එහෙම හැමෝටම උදව් කරන්න බෑ කියල අබේරත්න මහත්තය කිව්වා.

දැන් මේ උපකාරයට කෘතෝපකාර කරන ගුණයත් අබේරත්න මහත්තය උදාහරණයකින් පැහැදිලි කළා. කෙනෙක් මහ සුළි සුළඟකට අහුවෙලා ගහගෙන යන වෙලාවක කවුරුහරි පැනල බේරගත්තොත් ඒ බේරගත්ත කෙනාට මොන වගේ උදව්වක් කරන්න හිතෙයිද? ඒ වගේම මහා සැඩ පහරකට ගෙවල් දොරවල් ඉඩකඩම් පවා ගහගෙන යන වෙලාවකදි, මනුස්සයෙක් ඒ සැඩ පහරට අහුවෙලා ගහගෙන යනකොට පණ යන්න අවසන් මොහොතෙ කවුරුහරි ඔහුව බේරගත්තොත් ඒ පුද්ගලයට මොන ජාතියේ උදව් කරන්න හිතෙයිද? **අම්ම තාත්ත කියන්නෙ, ගන්ධබ්බ ලෝකවල අසහනකාරීව සැරිසරනකොට මස් ලේ කයක් අරගෙන මෙළොව උපදින්න උදව් කරපු අය.** එතකොට ඒ උදව් උපකාර කිරීම අර කලින් කිව්ව උදව් උපකාර දෙකටම වඩා මහ විසාල උදව්වක් උපකාරයක් කියල කියනවා. අබේරත්න මහත්තය එච්චරටම මව්පියන්ගෙ ගුණ වර්ණනා කළා. ඒ වගේ මව්පියන්ට බාධාවක් කරදරයක් කළොත් එන විපාකය අමුතුවෙන් කියන්න ඕන නෑ. අබේරත්න මහත්තය ඒ ගැන තවත් පැහැදිලි කළා.

අම්ම කෙනෙකුට දරුවෙක් ලැබුණම ඒ ළමය කැලේකට විසිකරල අතරමං කරල ගියොත් එහෙම, වෙනත් කෙනෙක් විසින් ඒ ළමයව අරගෙන ගිහින් උස් මහත් කරල හදාගන්නවා. හැබැයි ඒ ළමයට, අර විසිකරල ගිය වදපු අම්මට විරුද්ධව වචනයක්වත් කියල බනින්න අයිතියක් නෑ කියනවා. මොකද **මේ ලෝකයට මස් ලේ කයක් අරගෙන උපදින්න උදව් උපකාර කිරීම කියන්නෙ ලේසි පහසු දෙයක් නෙවෙයි. ඒක එක කාරණයක්. ඊට පස්සෙ ඒ වදපු මවගෙන් උදව් උපකාර නැතිවී යාම තවත් කර්ම විපාකයක්. දැන් ඕක නොදන්න අය මේ දෙක එකට හිලව් කරන්න යනවා. දරුවා හම්බවෙච්ච හැටියෙ අතරමං කරල ගිය ඕකි අම්ම කෙනෙක්ද කියලත් අහනවා. නමුත් අපිට එහෙම අහන්න අයිතියක්වත් නෑ කියල කියනවා. එහෙම අතරමං වෙන්න හේතු වෙන්නෙ වෙනත් කර්මයක විපාකයක් නිසා.** මෙළොව පහළ වෙන්න හේතු වෙන්නෙ තවත් කර්මයක විපාකයක් නිසා. ඒ නිසා ළමයා හම්බ වෙච්ච හැටියෙ අතරමං කරල ගියත්, ඒ ළමයා ලොකු මහත් වුනාට පසු ඒ වදපු අම්මට බැන්නොත්, දොස් කිව්වොත් ඒකෙ විපාකයත් එනවා. **අතරමං කරල ගියත් වදපු අම්මව නොදැනුවත්ව හරි මැරුවොත් ඒක ආනන්තරීය පාප කර්මයක්. හදාගත්තු අම්මව මැරුවට ආනන්තරීය පාප කර්මයක් වෙන්නෙ නෑ. ඒක ඊට වඩා අඩු විපාකයක් එන පාප කර්මයක්. වදපු මව්පියන් ඒ තරම්ම විශේෂයි කියනවා.** (මේ ගැන වැඩි විස්තර සඳහා ශ්‍රී සද්ධර්මයෙන් බිඳක් පොතේ එන "මව්පිය දරු සම්බන්ධතාවය ඇති වන්නේ කෙසේද, ලෝ සතුන්ගේ උපත සිදුවන අයුරු, මස් ලේ කයක් ලබාගැනීමට මව් ගැබක් සොයා අසහනකාරීව සැරිසරන සංජාතිකයා" නම් ලිපි පෙළ බලන්න.

ඉතින් මව්පියන් තරම් නැතත් ඊළඟට ඉන්නෙ තමන්ගෙ ගුරුවරු. ලෝකයේ ජීවත් වෙන්න හොඳ නරක කියල දීල ඉගැන්නුව නිසා ඒ අයටත් කෘතෝපකාර කරන්න ඕන. හැබැයි මෙතැනදි අර හාමුදුරුවන්ගෙ ගෝලයන්ට ඒ පුණ්‍ය කර්ම ටික කරල උන්වහන්සේව බේරගන්න හිත දුන්නෙ නැත්තෙ, ඒ අවස්ථාවෙදි උන්වහන්සේගෙ කර්ම විපාකය ඒ තරම්ම බලවත් නිසයි කිව්වා. උන්වහන්සේලාගේ අවධානය ගුරුහාමුදුරුවන් කරා යොමු නොවුනෙ ඒ නිසයි කිව්වා. **කෙනෙක්ගෙ මහ බලවත් කර්ම විපාකයක් එනකොට ඒකට තව කෙනෙකුට අවශ්‍ය විදිහට මැදිහත් වෙන්න බෑ.** මේ හාමුදුරුවන්ව ඒ තත්ත්වයෙන් බේරගන්න ක්‍රමය කියල දුන්නට, අඩුගානෙ ඒ පරීක්ෂණයවත් කරන්න ගෝලයන්ට ඉඩ ලැබෙන්නෙ නැති බවත් අබේරත්න මහත්තය කලින්ම සමාධියෙන් දැකල කිව්වෙ ඒ නිසා. ඒ නිසා අපිට කාටවත් දොස් කියන්නත් බෑ. කර්ම විෂය කියන එක අචින්ත්‍යයි. ඒක බුදුන් වහන්සේ නමකට විතරයි 100% ක් ම ගෝචර වෙන්නෙ.

**සටහන**
**නිතිඥ චන්දන සිරිවර්ධන**



# දිවැස් ලැබෙන පහන් පූජාව ඇතුළු මහත් ආනිසංස ගෙනෙන සාසනික පින්කම් 2

## පංචදීපක ථේරාපදානය

පදුමුත්තර කියන බුදු රජාණන් වහන්සේගෙ කාලයේ මම ලෞකික සම්මා දිට්ඨියේ පිහිටල කටයුතු කළා. උන්වහන්සේට බුදු වෙන්න උපකාර වුන බෝධිය වටා පහන් පූජා කළා. ඒ පින හේතු කොටගෙන දිව්‍ය, මනුස්ස යම් තැනක ඉපදුනාද අහසේ පහන් වැටක් දැල්වුනා. පර්වත, බිත්ති ආදියෙන් පිටත කිසි බාධාවක් නැතිව හැම තැනම යොදුන් 100 ක් දුර සියල්ල දැකීමේ හැකියාවක් ලැබුවා. එක් කල්පයක සත චක්ඛු නමින් සක්විති රජ සම්පත් ලැබුවා. පහන් පූජාවේ ආනිසංස වශයෙන් මේ විදිහට සසර නොයෙක් ලෞකික සැප සම්පත් ලබල ගෞතම බුදු සසුනේ සියලු කෙලෙසුන් නසල සසර දුක් නිමා කළා. සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්‍ෂ, ෂඩ් අභිඥා ලබා ගත්තා.

## ඒකදීපක ථේරාපදානය

පදුමුත්තර තථාගතයන් වහන්සේට බුදු වෙන්න උපකාර වුන සල් බෝධියට එක පහනක් පූජා කළා. ඒ පිනෙන් දුගතියක ඉපදුනේ නෑ. පසු කල්පයක චන්ද්‍රභ නමින් සිව් වරක් සක්විති රජ වුනා. සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්‍ෂ, ෂඩ් අභිඥා ලැබුවා. බුද්ධ සාසනය සම්පූර්ණ කර ගත්තා.

## පදීපීය ථේරාපදානය

එක් කාලයක දෙවියෙක් වෙලා ඉන්නකොට මනුස්ස ලෝකයට ඇවිත් තථාගතයන් වහන්සේ උදෙසා සියතින් පහන් 5 ක් පූජා කළා. පසු කල්පයක සමන්ත චක්ඛු නමින් මහත් බල ඇති සක්විති රජෙක් වුනා. සිව්පිළිසිඹියා, අෂ්ට විමෝක්‍ෂ, ෂඩ් අභිඥා සාක්‍ෂාත් කළා.

## අජිත ථේරාපදානය

පදුමුත්තර බුදු රජුන් හිමවතේ වැඩ ඉන්නකොට මම තථාගතයන් වහන්සේ නොදැක, උන්වහන්සේගේ කටහඬවත් අහන්නෙ නැතිව ආහාර සොයමින් වනයේ හැසිරුනා. එතැනදි මට බුදු රජාණන් වහන්සේ දැකල මේ කවරෙක්ද කියල හිතුනා. ලක්‍ෂණ සාස්ත්‍රය අනුව මගේ ගුරුවරු කියල තිබුන දෙතිස් මහා පුරිස ලක්‍ෂණ අනුව මේ නම් බුදුවරයෙක් කියල හඳුනගෙන, මේ වගේ උතුමෙකුට සත්කාර කළා නම් මහත් වැඩදායක වෙනව වගේම මගේ ගතියත් යහපත් වෙනව කියල කල්පනා කළා.

මම වහාම මීතෙල් අරගෙන බුදුන් වහන්සේ වෙතට ගිහින් පිරිවැජි පුටුව එළියෙ තියල පහනක් දල්වල අට වරක් වන්දනා කළා. තථාගතයන් වහන්සේ සතියක් එහි නිරෝධ සමාපත්තියෙන් වැඩ සිටියා. මම ප්‍රසන්න සිතින් දිවා රාත්‍රී දින 7 ක් පහන් පූජා පැවැත්වුවා. ඒ කාලෙ ගන්ධමාදන පර්වතයේ වනාන්තරය බුද්ධානුභාව බලයෙන් එතැනට ඇවිත් ඒ ස්ථානයේ සියලු මල් වර්ග පිපුනා. වනයේ සියලු මල් වර්ග සහ සුවඳ ඒ ස්ථානයේ රැස් වුනා. හිමාලයේ නාග ගුරුළු සියල්ලෝම ධර්ම ශ්‍රවණය කරන්න එතැනට රැස් වුනා. පදුමුත්තර බුදු රජාණන් වහන්සේගේ අග්‍ර ශ්‍රාවක දේවල කියන මහ රහතන් වහන්සේ තවත් රහතන් වහන්සේලා ලක්‍ෂයක් සමග ඒ ස්ථානයට වැඩම කළා. පදුමුත්තර බුදු රජාණන් වහන්සේ සංඝයා මැද වැඩ හිඳගෙන මේ විදිහට දේශනා කළා.

පහන් සිතින් මට පහන් පූජා කරපු මේ තැනැත්තා කවරෙක්ද කියල ප්‍රකාශ කරනවා. මෙය හොඳින් අහගන්න. මේ කරගත් පහන් පූජාවේ ආනිසංසයෙන් කල්ප 60,000 ක් දෙව්ලොව වාසය කරනවා. දහස් වාරයක් සක්විති රජ වෙනවා. 36 වරක් දෙදෙව් ලොවට අධිපති සක් දෙව් වෙනවා. ප්‍රදේශ රාජ්‍යවල රජ සම්පත් වාර ගණනක් නෑ. මේ පහන් පූජාවේ බලයෙන් දිවැස් ඥානය ලබනවා. දුනු 4,000 ක් දුර දැකීමේ හැකියාව ලැබෙනවා. දෙව් මිනිස් අත්බැව්වල කොතැනක ඉපදුනත් නිතරම පහන් දරනවා. මොහු උපදින යම් නගරයක් වෙනවද ඒ ස්ථානය බබළනවා. කොතැනක උපන්නත් කිසිවෙකුට මොහු පරාජය කරන්න බැරි වෙනවා. ගෞතම බුදු හිමි ලෝකයට පහල වුනාම බුදු සසුනේ පැවිදි වෙලා ආස්‍රව නසල අරිහත්වයට පත්වෙලා පිරිනිවන් පානවා.

මම බුදු රජාණන් වහන්සේ ගැන සිත පහදවගෙන අජිත නම් ශ්‍රාවකයෙක් වුනා. කල්ප 60,000 ක් දෙව් ලොව සතුටු වුනා. එතකොට හැම වෙලාවෙම පහන් 100 ක් බබළනවා. දෙව් මිනිස් දෙලොවට මගේ ප්‍රභාව පැතිරෙනවා. බුදු හිමි සිහි කරල තව තවත් සතුටු වෙනවා. මම තුසිත දෙව් ලොවෙන් චුත වෙලා මව් කුස පිළිසිඳගෙන මෙලොවට බිහිවෙනකොට මහත් ආලෝකයක් ඇති වුනා.

මම ගිහි ගෙයින් නික්මිලා බාවාරි කියන තවුස්තුමා ළඟ පැවිදි වෙලා හිමාලයේ වාසය කරනකොට, බුදු හිමි ගැන අහල නිවන් අවබෝධ කර ගැනීමේ අදහසින් උන්වහන්සේ වෙතට පැමිණියා. දැමුණු තථාගතයන් වහන්සේ අනුන්ද දමනය කරල (දන්තෝ සෝ භගවා දමථාය ධම්මං දේසේති) සසරින් එතෙර වුනා. සියලු උපධීන් පහ කරල නිවනත් දේශනා කළා. මම

උන්වහන්සේ වෙතට ඇවිත් ත්‍රිවිද්‍යාව ලබල බුද්ධානුසාසනය සම්පූර්ණ කරගත්තා.

## පංච දීපකා ථේරී අපදානය

මම ඒ කාලෙ හංසවතී නුවර පිං කරන්න කැමතිව ආරාමයෙන් ආරාමයට ගියා. අමාවක පොහොය දවසක බෝධියක් දැකල සිත පහදවාගෙන බෝරුක යට වාඩි වුනා. ගරු සිතින් ඇඳිලි බැඳගෙන සොම්නසින් යුතුව මේ විදිහට අධිෂ්ඨාන කළා. බුදු රජාණන් වහන්සේ අප්‍රමාණ ගුණ ඇත්නම්, අසමසම අප්‍රති පුද්ගලයෙක් (ප්‍රතිමාවකින් පෙන්වන්න බැරි) නම් මට පේන්න ප්‍රාතිහාර්යක් පාන සේක්වා, මේ බෝධිය බබළන සේක්වා.

මගේ මෙනෙහි කිරීමත් සමගම බෝධිය බබළන්න පටන් ගත්තා. බෝධිය රත්රන් වගේ වෙලා සියලු දිසාවන් බැබළීමට පත්වුනා. මම දිවා රෑ 7 ක්ම ඒ බෝධි මූලයේ හිටියා. හත්වෙනි දවසෙ බෝධියට පහන් පූජාවක් කළා. පහුවදා ඉර පායන කල් ඒ පහන් දැල්වුනා. මේ කළ පිනෙන් සහ ප්‍රාර්ථනයෙන් හැට යොදුනක් උස, තිස් යොදුනක් පළල "පංචදීපි" නමින් දිව්‍ය විමානයක් පහළ වුනා. මගේ දෙව් විමන මුළුමනින්ම පහන් එළියෙන් බබළන විදිහට අසංඛ්‍ය ගණන් පහන් දැල්වුනා.

මගේ පිටුපස යම් තාක් දේවල් දකින්න කැමති නම් ගස් ගල් ආදියේ ආවරණයක් නැතිව දකින්න පුළුවන්. දෙව් රජවරු අසූවකට අග මෙහෙසිය වුනා. සක්විති රජවරු සියයකට අග මෙහෙසිය වුනා. දෙව් මිනිස් කවර තැනක ඉපදුනත් මා පිරිවරාගෙන පහන් 100 ක් දැල්වුනා.

දෙව් ලොවෙන් චුත වෙලා මිනිස් ලොව මව් ගැබකට උපත කරා පැමිණියා. මව් ගැබේ ඉන්නකොට ඇස් පියවීමක් නැතිවම හිටියා. දරුවන් බිහිවෙන සූතිකාගාරයේ සිය දහසක් පහන් දැල්වුනා. ගෞතම බුදු හිමි කාලයේ පශ්චිම භවයට ඇවිත් සියලු කෙලෙස් නසල සිසිල් නිවනට පත් වුනා. (සීති භූතෝස්මි නිබ්බුතෝ)

උපතින් හත් අවුරුදු වයසෙදිම අරිහත්වයට පත් වුන නිසා මගේ ගුණ සළකල තථාගතයන් වහන්සේ මාව උපසම්පදා කළා. රුක්මුල්, සුන්‍යාගාරවල, ප්‍රාසාදවල කොතැනක හෝ ඉඳගෙන ධ්‍යාන වඩනකොට පහන් 5 ක් දැල්වෙනවා. මගේ දිවැස පිරිසිදු භාවයට පත් වුනා. පහන් පිදීමේ ආනිසංස තමයි මේ. මහා වීරයන් වහන්ස, ඇස් ඇත්තවුන් වහන්ස, සියලු බඹසර වාසය කරල අවසන් වූ කටයුතු ඇති ආස්‍රව රහිත මම සිරිපා වඳිනවා. යම් කාලයක පහන් පූජා කළාද, මම දුගතියක ඉපදුනේ නෑ. මේ තමයි පහන් පිදීමේ ආනිසංස.

**බුදු රජුන්ට, සංඝ රත්නයට පහන් පූජා කිරීමෙන් ආනිසංස 3 ක් ලැබෙන බව සඳහන් වෙනවා. උසස් කුලවල ඉපදීම, අංග සම්පූර්ණ ජීවිතයක් ලැබීම, නුවණ ඇති කෙනෙක් විදිහට මිනිස්සු අතර පිළිගැනීමක් ඇතිවීම** තමයි ඒ කාරණා තුන.

සම්මජ්ජනී සතං පුඤ්ඤං
සහස්සම්පි ලිම්පතේ

කප්පානි සත සහස්සානි
දීප පූජා අසංඛයා

**චෛත්‍ය මළු, බෝ මළු, විහාර මළු, සංඝාවාස මළු... ආදී තැන් ඇමදල පිරිසිදු කිරීම ආනිසංස සියයක් ලැබෙන වටිනා පිංකමක්.** ඒ වගේම "පංචානිසංසා සම්මජ්ජනියා" ඇමදීමෙන් ප්‍රධාන ආනිසංස පහක් ලැබෙන බවත් දේශනාවේ සඳහන් වෙනවා.

"සක චිත්තං පසීදති" තමන්ගෙ හිත පැහැදීමට පත්වෙනවා. මිදුල් ඇමදීම කියන්නෙ කෙළෙස් පහ කරගන්න පුළුවන් වැඩපිළිවෙලක්. මිදුල කියන්නෙ කොළ රොඩු, අතු රිකිළි, ගල් බොරලු... ආදිය තියෙන තැනක්. මේක අපේ හිතට උපමා කරගන්න පුළුවන්. මළුවක තියෙන කුණු රොඩු වගේ අපේ සිත්සතන් රාග, ද්වේශ, මෝහාදී කෙළෙස් කුණුවලින් කිළිටි වෙලා තියෙන්නෙ.

මිදුලක තියෙන කුණු රොඩු ඉවත් කරල දැම්මම ටික වෙලාවකට පිරිසිදුව තියෙනවා වගේ, අපේ සිත්වලත් තියෙන රාග, ද්වේශ, මෝහාදී කුණු විදර්ශනා ප්‍රඥාවෙන් දැකල සුද්ධ කරගත්තම නැවත කිළිටි වෙනකල් පිරිසිදුව පවතිනවා. මිදුල එක වරක් අතු ගෑවත් නැවත නැවතත් කුණු රොඩු එකතු වෙලා අපිරිසිදු වෙනව වගේ, විස භාග අරමුණු හේතු කොටගෙන සිත අපිරිසිදු භාවයට පත් වෙනවා. නැවත නැවතත් ධර්ම මනසිකාරයෙන් අඩුපාඩු සිද්ධ වෙන තැන් දැකල සුද්ධ කරගෙන ආර්ය මාර්ගය දියුණු කරගන්න ඕන. මිදුල කිළිටි වෙනකොට නැවත නැවත සුද්ධ කරනව වගේ අපේ සිතත් කිළිටි වෙන හැටි දැකල පිරිසිදු කරගන්න ඕන. මේ ආකාරයට මිදුල උපමා කරගෙන හිතේ ස්වභාවය දකින්න මලු පෙත්මන් (මළුවෙන් මළුවට යන පාරවල්) ඇමදීම නිවන් මගට උපනිශ්‍රය කරගන්න පුළුවන්.

ඇමදීමේ ආනිසංසයක් විදිහට තමන්ගෙ සිත ප්‍රසාදයට පත්වෙනව කිව්වෙ, මිදුල උපමා කරගෙන සිතේ කුණු නැති බව නුවණින් දකින කොට ඇතිවෙන චිත්ත ප්‍රසාදය. සක චිත්තං පසීදති කියන්නෙ ඒ කාරණය. "පරචිත්තං පසීදති" ඇමදීමේ දෙවෙනි ආනිසංසය තමයි අනුන්ගෙ සිතත් ප්‍රසාදයට පත් වීම. මිදුලක් ඇමදල පිරිසිදුවට තියෙනව දකින බාහිර පුද්ගලයෙකුට වුනත්, මිදුල උපමා කරගෙන දහම් දැකල කෙළෙසුන්ගෙන් සිත පිරිසිදු කරගෙන චිත්ත ප්‍රසාදයක් ඇති කරගන්න පුළුවන්.

ඇමදීමේ තුන්වෙනි ආනිසංසය විදිහට පෙන්වල තියෙන්නෙ "දේවතා අත්තමනෝ හොන්ති" දේවතාවෝ පවා, පිරිසිදුව ඇමදල තියෙන බෝ මළු, චෛත්‍ය මළු දැකල චිත්ත ප්‍රසාදය ඇති කරගන්නවා කියන කාරණය. ධර්මාවබෝධයක් නැති දේවතාවෝ පිරිසිදුකම විතරක් දැකල ප්‍රසාදය ඇති කරගන්න පුළුවන්. නමුත් ධර්මාවබෝධය ලබපු දෙවිවරුන්ට ඉහතින් විස්තර කළ විදිහට ධර්ම මනසිකාරයෙන් ප්‍රසාදයට පත් වෙන්නත් පුළුවන්. ඇමදීමෙන් නිවන් දකින හැටි හෙළ බොදු පියුම සඟරාවේ 68 වන කලාපයේ දීර්ඝ විස්තරයක් සහිතව පළ කරල තියෙන නිසා ඒ ලිපිය නැවත කියවල මේ කාරණය වඩාත් පැහැදිලි කරගන්න පුළුවන්.

ඇමදීමේ හතරවෙනි ආනිසංසය "පුඤ්ඤං උපචිනානි" කියන කාරණය. සාසනික පුණ්‍ය භූමිවල මළුපෙත්මන් ඇමදීම උතුම් පින්කමකුත් වෙනවා. ඒ තැන්වල තියෙන පරමල් අස් කරල ආසන සෝදා පිරිසිදු කරල, මළුවල තණකොළ ආදිය සුද්ධ පවිත්‍ර කරල, ඒවායේ තියෙන බඩු මුට්ටු පිළිවෙලකට අසුරල තියල... මේ ආදී වශයෙන් වත්පිළිවෙත් කිරීම නිසා මුදල් වියදමක් නැතිවම වටිනා පිනක් සිද්ධ කරගන්න පුළුවන්.

"කායස්සභේදා පරම්මරණා සුගතිං සග්ගං ලෝක උප්පජ්ජති" මළු පෙත්මන් ඇමදීම් ආදී කටයුතුවලින් සිද්ධ කරගත්ත පුණ්‍ය ශක්තිය හේතු කොටගෙන, මරණින් පසු දුගතියෙන් වැළකිලා සුගති සම්පත් හිමි කරගන්නත් පුළුවන්. මේ විදිහට ඇමදීමෙන් ආනිසංස පහක් ලැබෙන බව දේශනාවේ සඳහන් වෙනවා.

## චූස්සදේව හිමිගේ කතාව

ලංකාවේ කුරුණෑගල ප්‍රදේශයේ මරළුවාව විහාරයේ වැඩ හිටපු චූස්සදේව හාමුදුරුවො දවසක් චෛතිය මළුව අමදල භාවනා කරන්න සූදානම් වුනා. ඒ අවස්ථාවෙදි වසවර්ති මාරයා භාවනාවට බාධා කරන්න මහළු මිනිස් වෙසක්

මවාගෙන ඇවිත් සැරයටියෙන් මළුව අප්‍රසන්න වෙන විදිහට ඉරි ඇඳල යන්න ගියා. එදා වුස්සදේව හාමුදුරුවන්ට සිත සමාධිගත කරගන්න බැරි වුනා.

දෙවෙනි දවසෙත් චෛතිය මළුව අමදල භාවනා කරන්න සූදානම් වෙනකොට මාරයා හරක් වේශයක් මවාගෙන ඇවිත් මළුව පුරා ගොම ඉහිරවල යන්න ගියා. එදත් හාමුදුරුවන්ට භාවනා කරන්න බැරි වුනා. මේ විදිහට දින කිහිපයක්ම එක එක වේශවලින් ඇවිත් මළුව අපිරිසිදු කරනකොට වුස්සදේව හාමුදුරුවො කල්පනා කළා, මේක නම් වසවර්ති මාරයාගෙම වැඩක් වෙන්න ඕන කියල. ඔය විදිහට වෙස් වලාගෙන ආපු දවසක, මේ විදිහට දවස් කිහිපයක්ම මළුව අපිරිසිදු කළ ඔබ මාරයාද කියල ඇහුවා. මාරයා බොරු කියන්නෙ නැති නිසා තමන් වසවත් මරු බව ප්‍රකාශ කළා.

ඔබට මේ විදිහට එක එක ජාතියේ වෙස් අරගන්න පුළුවන් නම් බුදු රජාණන් වහන්සේගේ රූපය මවන්න පුළුවන්ද කියල ඇහුවා. එතකොට, බුදු හාමුදුරුවන්ගෙ රූපය ඒ විදිහටම නම් මවන්න අමාරුයි, නමුත් ආසන්න මට්ටමකට මවන්න පුළුවන් කියල මාරයා බුදු හාමුදුරුවන්ගෙ රූපය වගේ පෙනී සිටියා. මාරයා මවපු බුදු රුවත් මේ ආකාර නම් සැබෑ බුදු පියාණන් වහන්සේ කොතරම් ප්‍රසාදජනක වෙන්න ඕනද කියල බුද්ධාලම්භන ප්‍රීතිය ඇති කරගෙන බුද්ධානුස්සති භාවනාව වඩල සියලු කෙලෙසුන් නසල අරිහත්වයට පත් වුනා. මාරයා තමන් මවපු බුදු රුවෙන්ම මේ භික්ෂුව රහත් වුනා කියල බොහොම දුකට අසතුටට පත් වෙලා අතුරුදහන් වෙලා යන්න ගිහින් තියෙනවා.

මේක මේ විදිහට සාහිත්‍ය කතාවක් ආකාරයට සඳහන් වෙලා තිබුනට මේකෙ ගැඹුරු අර්ථයක් සැඟවිලා තියෙන්නත් පුළුවන්. වුස්සදේව හාමුදුරුවො චෛතිය මළුව අමදල මළුව උපමා කරගෙන හිතේ කෙලෙස් දුරු කරගන්න වෑයම් කරන්න ඇති. දින ගණනාවක්ම මාරයා මළුව විවිධාකාර ක්‍රමවලට අපිරිසිදු කළා කියන්නෙ, සිතට නොයෙක් ආකාරයෙන් කෙලෙස් මාරයා ඇවිත් ඒ නිසාම සිත සමාධිගත කරගන්න බැරි වුනා කියන අදහස වෙන්න පුළුවන්.

චේ + තිය කියන්නෙ සිත තැබිය යුතු තැන කියන එක. අපි සිත තියන්න ඕන සතර සතිපට්ඨානයට. අවසානයේ වුස්සදේව තෙරුන් වහන්සේ මාරයා හඳුනගත්ත බව කතාවේ සඳහන් වෙනවා. ඒකෙන් තමන් කෙලෙස් මැනවින් හඳුනා ගත්තා කියන අදහස කියවෙනවා.

මාරයා බුදු රුව වගේ පෙනී හිටියට පස්සෙ, ඒකම අරමුණු කරගෙන වුස්සදේව තෙරුන් අරිහත් වුන බව සඳහන් වෙනවා. මෙයින් කෙලෙස් මාරයා හඳුනගෙන "බුද්ධ" හෙවත් භවය උදුරා දමල සියලු කෙලෙස් නසල අරිහත් වුනා කියන අදහසත් ගන්න පුළුවන්. මේ සිතේම ඇති වෙච්ච ස්වභාවය පසුකාලීනව සාහිත්‍ය කතාවක ස්වරූපයෙන් සමාජගත වුනා වෙන්නත් පුළුවන්.

වුස්සදේව හාමුදුරුවො මාරයා පරාජය කරල අරිහත් වුන ස්ථානය අදත් මරලුවාව පන්සල නමින් හඳුන්වනවා. මර + ලූ - මාරයා ඉවත් කළ, මාරයා පරාජය කළ අර්ථය මේ වචනයේ නිරුක්තිය අනුව ගන්න පුළුවන්.

පුද්ගලයෙක් වශයෙන්, දේව පුත්‍රයෙක් වශයෙන් ඉන්න වසවත් මරු ආර්ය මග වඩන අයට නොයෙක් විදිහට බාධා කරන නිසා, වසවත් මාරයාම ඇවිත් සෑ මළුව අපිරිසිදු කළ සිද්ධිය, බුදු රුව මැවූ සිද්ධිය ඒ විදිහටම වුනා වෙන්නත් පුළුවන්. කොහොම වුනත් වුස්සදේව හාමුදුරුවො චෛතිය මළුව ඇමදීම කියන කාරණය හේතු කරගෙන කෙලෙස් මාරයා පරාජය කරල අරිහත්වයට පත්වෙලා තියෙන බව මේකෙන් සනාථ වෙනවා.

භික්ෂූන් වහන්සේලාගේ පැරණි දින චර්යාව පටන් ගන්නෙ "අරුණට පළමුව අවදි වී දැහැටි වළඳා මළු පෙත්මන් ඇමද නිමවා තබා, පැන් පෙරා තබා..." ආදී වශයෙන්. භික්ෂුවගේ අනිවාර්ය වතක් තමයි විහාරාරාමවල මළු පෙත්මන් ඇමදීම. රහතන් වහන්සේලා වුනත් මේ වත්පිළිවෙත් සිද්ධ කරනවා.

ඇමදීමෙන් ආනිසංස 100ක් ලැබෙන හැටිත්, තවත් දේශනාවල ආනිසංස 5 ක් ලැබෙන හැටිත් ඉහතින් විස්තර කළා. විනය පිටකයේ වත්තක්ඛන්ධකයේ ආචාර්ය උපාධ්‍යාය වත, ආගන්තුක වත, පිණ්ඩපාතික වත, දාන ශාලා වත, වැසිකිළි වත... ආදී වත් 14 ක් දේශනා කරල තියෙනවා. මේ සියලු වත්පිළිවෙත් භික්ෂු ජීවිතයේ අනිවාර්ය අංගයන්.

ඇමදීම කියන වචනයේ පාළි පදය වෙන්නෙ "සංමජ්ජානි". (සං + මජ්ජ + නී) රාග, ද්වේශ, මෝහ නමැති කෙලෙස්වලට මත් නොවී සිටීම සංමජ්ජනී කියල නිරුක්ති අනුව අර්ථ දක්වන්න පුළුවන්.

මළුවක් ඇමදීම උපමා කරගෙන සිතේ ඇතිවෙන කෙලෙස්වලට මත් නොවී සිටීමයි මෙයින් වටහා ගන්න ඕන. ඇමදීම කියන වචනයම අම දිනව කියලත් ව්‍යවහාර කරනවා. "අම" කියන්නෙ නිවනට. නිවන් ලබාදීමට මළුව අමදීම උපකාර වෙනවා.

ඉහතින් සඳහන් කළ ගාථාවේ දෙවෙනි පදයෙන් විස්තර වෙන්නෙ **(සහස්සම්පි ලිම්පතෝ) බෝමළු, චෛත්‍ය මළු ආදියේ සුවඳ වර්ග තැවරීම, ගොම මැටි ගා සැකසීම වගේ වතාවත් කිරීමෙන් ආනිසංස දහසක් ලැබෙන බව.**

පෙර රජ දවස බෝධි ඝර, චෛතිය ඝර තිබුන බව දැනට තියෙන නටඹුන්වලින් වගේම පුරාවිද්‍යාත්මක තොරතුරුවලිනුත් සනාථ වෙනවා. ඝර කියන්නෙ ගෘහය කියන අර්ථය. පෙර කාලෙ බෝධියට, චෛතියට ගෘහයක් හදල තියෙනවා. ඒවායේ බිම ගොම මැටි වගේ දේවල්වලින් සකස් කරල තියෙනවා. "ලිම්පතේ" කියන්නෙ තවරනවා කියන අර්ථය. ඒ වගේ තැන්වල ගොම මැටි ගා පිරිසිදු කිරීමෙන් ආනිසංස දහසක් ලැබෙන බව මුලින් සඳහන් කළ අටුවා ගාථාවේ සඳහන් වෙනවා.

"කප්පානි සත සහස්සානි දීප පූජා අසංඛයා" **තුනුරුවන් උදෙසා කරන පහන් පූජාව කල්ප සිය දහස් ගණනක් විපාක ලැබෙන "අසංඛයා" සංඛ්‍යාවකින් කියන්න බැරි තරම් ආනිසංස ලැබෙන විශේෂ පින්කමක්.** ඒ බව ඉහතින් විස්තර කළ ථේර අපදානවලින් මනාව ඔප්පු වෙනවා. "දීපදෝ හෝති චක්ඛුදෝ" **පහන් පූජාව දිවැස් ලබාදෙන ප්‍රධාන පින්කමක් වෙනවා.**

හිස මුල් කරගෙන හැදෙන රෝගාබාධවලට වගේම සියලු රෝගවලට, ඒ වගේම නැණ නුවණ වැඩීමට පහන් දහසක පූජාවක් පැවැත්වීමේ වැදගත්කම සම්බන්ධයෙන් ඉතා හරවත් විවරණයක් හෙළ බොදු පියුම 55 කලාපයේ "අභයරතනාලංකාරය" යටතේ විස්තර කරල තියෙනවා. ඒක නැවත කියවීමෙන් ඒ පිළිබඳ වැඩි විස්තර බලාගන්න පුළුවන්. සියලු දෙනාටම ප්‍රඥා ලෝකය පහළ වේවා (චක්ඛුං උදපාදි, ඥානං උදපාදි, පඤ්ඤා උදපාදි, විජ්ජා උදපාදි, ආලෝකෝ උදපාදි).

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**
**මැටිකුඹුර, පොල්ගහවෙල**
**071-6839346**







## භූමි දෝස දුරු වෙන්න

# නිවැරදිව බහිරව පූජාවක් තබන අයුරු

ප්‍රසුගිය කලාප දෙකෙන් බහිරවයන් සම්බන්ධ විවිධ තොරතුරු සහ බහිරව පූජාවක දහම් පැතිකඩ විග්‍රහ කළා. දැන් මේ ඉදිරිපත් කරන්නෙ ඉඩකඩම්, ගෙවල්දොරවල්, ව්‍යාපාරික ස්ථාන, වගා භූමි, ළිං තොටු, වැව් පොකුණු ආදී සියලු ස්ථානවල තියෙන බහිරව දොස් ඉවත් කරල අභිවෘද්ධිය ලැබෙන විදිහට නිවැරදිව බහිරව පූජාවක් තියන ආකාරය. බහිරව පූජා තියනව කියල නොයෙක් ආකාරයෙන් වංචනිකව මුදල් උපයා ගැනීමේ අරමුණුවලින් ජනතාව රවටන උදවියත් ඉන්න කාලවකවානුවක, තමන්ටම තනියෙන් බොහොම සරලව දැහැමිව බහිරව පූජාවක් තියන ආකාරය වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ගිහි වතක සිටියදී සමාධියෙන් නැවත මතුකරගෙන හෙළිදරව් කරල තිබුණා. ඒ ක්‍රමවේදය ලෝකයේ පෙර පැවතිලා යටගිය ක්‍රමවේදයක්. සමහර විට මීට වඩා වෙනස්, තවත් දැහැමි ක්‍රමවේද තියෙන්න පුළුවන් වුනත්, උන්වහන්සේ විසින් මතු කර දුන් සරල ප්‍රත්‍යක්ෂ දැහැමි ක්‍රමවේදයක් තමයි මේ හෙළිදරව් කරන්නෙ.

මීට පෙර කලාපයෙන් සඳහන් කළ බහිරව කොටස් අට ගත්තම, අපි මේ ජීවිතය තුළදී ඇසුරු කරන ගේ දොර ඉඩකඩම් ආරක්ෂා කරගෙන, අපිත් රැකිල, ඔවුනුත් රැකිල, ඔවුන් සමග ගැටුම් ඇති කර ගන්නෙ නැතිව, අප විසින් ගොඩනගාගෙන තියෙන නිවෙස්, ව්‍යාපාරික ස්ථාන ආදිය තුළ දොස් දුරුවෙන්න බහිරව පූජාවක් නිවැරදිව තියන ආකාරයත්, අලුතෙන් ඉඩමක් මිලදී ගෙන හෝ දැනට තියෙන ඉඩමක හෝ නිවසක් තැනීමට ප්‍රථමයෙන් ඒ ස්ථානයේ තියෙන බහිරව දෝස දුරු වෙන්න නිවැරදි බහිරව පූජාවක් තියන ධර්මානුකූල ක්‍රමවේදයත් තමයි මේ මතු කරන්නෙ. සියලු ජනයාගේ යහපත උදෙසා මේ ක්‍රමවේදය තම තමන්ටම කර ගන්න පුළුවන් ආකාරය මේ විදිහට සටහන් කරනවා. හැබැයි මේ සඳහන් කරන්නෙ, පුළුවන් උපරිම ගෞරවයෙන් තමන්ගෙ කාලය, ශ්‍රමය, ධනය වියපැහැදම් කරල පූජාවක් සිදු කරන ආකාරය. නමුත් ඒ මට්ටමට කරන්න අපහසු නම් තම තමන්ගේ හැකියාවන් අනුව අවස්ථානුකූලවත් ප්‍රායෝගිකවත් පුළුවන් මට්ටමකින් කරන්න.

පළමුවෙන්ම අලුතෙන් නිවසක්, ව්‍යාපාරික ගොඩනැගිල්ලක්, ළිඳක්, වැසිකිලියක් ඉදිකිරීමට පෙර ඉඩමක තියෙන බහිරව දෝස ඉවත් කරල ඒ ඉදිකිරීම කරන ආකාරය විමසල බලමු. ව්‍යාපාරික ගොඩනැගිල්ලක් ඉදිකරනකොට මේ පූජාව තියන කෙනා ඉඩම් හිමියාම වෙන්න ඕන නෑ. ව්‍යාපාරය කරන්න බලාපොරොත්තුවන කෙනාට හෝ වෙන කෙනෙකුට කරන්නත් පුළුවන්.

ඉස්සෙල්ලම යම්කිසි සුචරිත වතක පිහිටල ඒ වත යම්කිසි අධිෂ්ඨාන කරගත් කාලයක් තුළ සමාදන් වෙන්න. ඒක දින ගණනාවක් තිස්සේ සමාදන් නොවුනට ගැටළුවක් නෑ, බහිරව පූජාව තියන දවසට විතරක් අධිෂ්ඨාන කරගෙන කළාම ඒකත් ප්‍රමාණවත්. ඒකත් ගෙදර සියල්ලෝම නොකළට ගැටළුවක් නෑ. මේ සියලු කටයුතුවල මූලිකත්වය ගන්න කෙනා තමයි විශේෂයෙන් ඒක කළ යුත්තේ. එතකොට ඉදිරියේදී කෙරෙන ජීවම් ඇතුළු ප්‍රධාන කටයුතු, වත සමාදන් වෙලා මූලිකත්වය ගත් තැනැත්තා විසින්ම සිදුකළ යුතුයි.

අනන්ත සසර පටන් අප ආ ගමනේදී සම්මා සම්බුද්ධ සාසනයටත්, බුදු පසේ බුදු මහරහතන් වහන්සේලා ඇතුළු ආර්ය උත්තමයන් වහන්සේලාටත්, දිව්‍ය බ්‍රහ්ම මනුස්ස අමනුස්ස සතර වර්ගයක ඥාතීන්ටත්, මේ ඉඩකඩම්වලට පෙර උරුමකම් කීවා වූ, වවා හදා ගත්තා වූ, ඊට ලොබ බැඳ ගත්තා වූ සෑම සියල්ලන්ටමත්, අෂ්ට බහිරවයන්ටත්, සියලු ලෝක සියලු සත්වයන්ටත් දැනුවත්ව හෝ නොදැනුවත්ව හෝ අපගෙන් යම් වරදක් ප්‍රමාද දෝසයක් හිංගියක් හිංසාවක් සිදු වී ඇත්නම්, ඒවා වැරදි හැටියට පිළිගෙන සම්මා සම්බුද්ධ සාසනය ඉදිරියේ, බුදු

පසේ බුදු මහරහතන් වහන්සේලා ඇතුලු ආර්ය උත්තමයන් වහන්සේලා ඉදිරියේ, සියලු ලෝක සියලු සත්වයන් ඉදිරියේ කමා කරමි, කමා කරමි, කමා කරමි, කමාව ලැබෙත්වා! කමාව ලැබෙත්වා!! කමාව ලැබෙත්වා!!! කියල අධිෂ්ඨාන කරල, ඒ සියලු පාපාන්ධකාරයන්ට වන්දි ගෙවිල නිදහස් වෙන්න, අප විසින් කරන්නා වූ මේ මහා ගුණ උපහාර පූජාවත්, අනන්ත සසර පටන් මේ මොහොත දක්වා රැස් කර ගත්තා වූ සියලු පුණ්‍ය කුසල ආශිර්වාද ශක්තියත් ඔබ සියලු දෙනාම අනුමෝදන් වේවා! අනුමෝදන් වේවා!! අනුමෝදන්ම වේවා!!! යනුවෙන් තුන් වරක් කියල අධිෂ්ඨාන කරන්න. ඉන්පසු "කායේන වාචා චිත්තේන" ගාථාව 3 වරක් කියල තුනුරුවන් කමා කර ගන්න.

බහිරව පූජාව පැවැත්වීම සඳහා අඟහරුවාදා, සිකුරාදා හැර වෙනත් ඕනෑම දවසක් (පසළොස්වක පොහොය හැර) යොදා ගැනීම සුදුසුයි. ඒ වගේම දවල් 12 න් පසු මේ සියලු කටයුතු ආරම්භ කරන්න. ඒ කියන්නෙ ඊට අවශ්‍ය බඩු භාණ්ඩ එකතු කරගෙන සුද්ධ පවිත්‍ර කරන කටයුතුවලට නෙවෙයි. ඒවා තමන්ට පහසු විදිහට කලින් දවසෙ කළත් ගැටළුවක් නෑ. පහන් පැල් හදල බහිරව පූජාව සූදානම් කිරීමේ පටන් අවසානය දක්වා වූ කොටස අදාළ දවසෙ දවල් 12 න් පසු සිදුකරන්න. මේ සියලු පූජාවන් මස් මාළු ආදී කිසිම පුළුටක් නැති සුද්ධ පූජාවන්.

පළමුවෙන්ම මැටි මුට්ටියකට අමුකහ ටිකක් අඹරගෙන පිරිසිදු ජලයේ දිය කරගෙන දෙහි ගෙඩියකුත් කපල එකතු කරල කහදිය කොතලයක් හදාගන්න. ඒකට පුවක් මල් කිනිත්තක් දමා සබ්බපාපස්ස ගාථාවෙන් 21 වරක් ජීවම් කර ගන්න. ඉන් පසු ඒ කහදිය කොතලය බුදු ගුණ නවයෙන් සහ පහත ගාථාවෙන් 108 වතාවක් ජීවම් කර ගන්න. මේ කටයුතු ටික ඉඩමෙදිම කරන්න බැරිනම් ඉඩමට එන්න පෙර තමන් දැන් ඉන්න තැන (නිවසෙදි) හෝ පූජනීය ස්ථානයකදි වුනත් කර ගන්න පුළුවන්.

**නමෝතස්ස භගවතෝ අරහතෝ**
**සම්මා සම්බුද්ධස්ස///**

**සබ්බපාපස්ස අකරණං**
**කුසලස්ස උපසම්පදා**
**සචිත්ත පරියෝ දපනං**
**ඒතං බුද්ධානසාසනං**

(21 වරක්)

**ඉතිපි සෝ භගවා අරහං**
**සම්මා සම්බුද්ධෝ**
**විජ්ජාචරණ සම්පන්නෝ**
**සුගතෝ ලෝක විදූ**
**අනුත්තරෝ පුරිස දම්ම සාරථී**
**සත්තා දේව මනුස්සානං**
**බුද්ධෝ භගවාති.**

**ඒතේන සච්ච වජ්ජේන**
**සබ්බ රෝග විනස්සතු**
**ඒතේන සච්ච වජ්ජේන**
**සබ්බ දෝස විනස්සතු**
**ඒතේන සච්ච වජ්ජේන**
**සබ්බ භය විනස්සතු**
**ඒතේන සච්ච වජ්ජේන**
**සබ්බ වින විනස්සතු**
**ඒතේන සච්ච වජ්ජේන**
**සබ්බන්තරාය විනස්සතු**
**ඒතේන සච්ච වජ්ජේන**
**සබ්බ කාය වින හිර බන්ධන**
**විනස්සතු**
**ඒතේන සච්ච වජ්ජේන**
**සොත්ති මේ හෝතු සබ්බදා**
**ඒතේන සච්ච වජ්ජේන**
**සොත්ති තේ හෝතු සබ්බදා**

(108 වරක්)

මේ විදිහට ජීවම් කර ගත්ත කහදිය කොතලය අරගෙන පුවක් මල් කිණිත්තක ආධාරයෙන් ඉඩමේ සියලු තැන්වලට පහත ගාථාව කියමින් කහ දිය ඉහින්න.

**දීපේ රට්ඨේච ථූපේ**
**තරුවන ගහනේ**
**ගේහ වත්තුම් භිත්තේ භුම්මා**
**ඡායන්තු දේවා**
**ජලතල විසමේ**
**යක්ඛ ගන්ධබ්බ නාගා**
**තිට්ටන්තා සන්තිවේදං**
**මුනිවර වචනං**
**සාදවෝමේ සුනන්තු**

ඉන්පසු පළමුවෙන්ම කුඤ්ඤයක් ගැසීමෙන් හෝ පස් පිඩැල්ලක් කැපීමෙන් ඉඩමේ මැද (බ්‍රහ්ම පාදය) ලකුණු කරන්න. ඒ මැද සිට ඕනෑම දුරකින් පහසු තැනකින් උතුරු දිසාව අරගෙන බුදුන්, දහම්, සඟුන් යන තෙරුවන් උදෙසා යහනක් (පහන් පැලක්) හදල තෙරුවන් උදෙසා ගුණ උපහාර පූජාවක් තියන්න. ඒ කටයුත්ත මේ විදිහට කළ යුතුයි.

පළමුවෙන්ම යහන සකස් කර ගත යුතුයි. ඒ සඳහා කෝටු අටක් හෝ සුදුසු ගණනක් හිටවල පපු මට්ටමින් ඉහළට තට්ටුවක් සිටින ආකාරයට සකස් කර ගෙන, ඒ තට්ටුවට කෙසෙල් පතුරු තියල ඊට උඩින් කෙසෙල් දල්ලක් අතුරල ඒ මත පුවක් මල් කිනිතිවලින් එක කාමරයකට කොටු 9 බැගින් හිටින විදිහට කාමර 3 ක් වෙන් කරන්න. ඒවා බිත්ති වගේ හරහට වෙන් කරන්න අවශ්‍ය නෑ. නිකං කොටස් තුනකට බෙදා ගත්තම ප්‍රමාණවත්. ඒ එක් කාමරයක තියෙන කොටු 9 මත බුලත් කොළ 9 ක් තියන්න. කොටු 9 ක් හදන්න යම්කිසි අපහසුතාවයක් ඇති වුනොත්, බුලත් කොළ 9 කුටිය ඇතුලෙ නිකම්ම තැන්පත් කරන්න. මැද තියෙන බුලත් කොළය උඩින් පහනක් තියන්න. ඒ ආකාරයෙන්ම ඉතුරු කාමර 2 ත් සකස් කර ගන්න. වහළය සහ වටේට ගොක් අතු උයල ආවරණය කරන්න. කෝටු සියල්ලත් වැහෙන විදිහට ගොක් කොළවලින් සරසල තුනුරුවන් කෙරෙහි පුළුවන් උපරිම ගෞරවයෙන් සකස්කර ගන්න.

මේ අතර තුනුරුවන් උදෙසා ඉදිකළ පහන් පැලට දකුණු පසින් ඊට ටිකක් පහතින් ඊටම ඇඳෙන විදිහට, මේ ක්‍රමවේදය ලොවට විද්‍යමාන කළ ගුරුවරයා උදෙසාත් මල් යහනක් (පහන් පැලක්) සකස් කර ගන්න. ඒකත් අර විදිහටම සරසන්න. ඒ මැදත් බුලත් කොළ 9 ක් තියල මැදින් පහනක් තියන්න. කහදිය කොතලය ඒ මල් යහන යටින් තියන්න.

ඉන්පසු තමන් නිවස, ව්‍යාපාරික ගොඩනැගිල්ල, ළිඳ... හදන කොටස ලකුණු කර ගෙන ඊට ඇතින් රූප සටහනේ දක්වා ඇති ආකාරයට හතර කොනේ පහන් පැල් 4 ක් හදන්න. මේ 4 හදන්නේ දථරාෂ්ට, විරූඪ, විරූපාක්ෂ, වෛශ්‍රවණ කියන සතරවරම් දෙවියන් උදෙසා. ඒ ප්‍රධාන පහන් පැල්, ගොක් අත්තක් වියල කුඩයක් ආකාරයට බැඳල, තුනුරුවන් සහ මේ ක්‍රමවේදය ලොවට විද්‍යමාන කළ ගුරුවරයා උදෙසා සකස් කළ යහන්වල උසට වඩා අඩු උසකින් සකස් කළ යුතුයි. තුනුරුවන් උදෙසා සකස් කළ පහන් පැලේ දකුණු දිසාවට වෙන්න දථරාෂ්ට දෙවියන් වෙනුවෙනුත්, වමට වෛශ්‍රවණ දෙවියන් වෙනුවෙනුත්, ඉතිරි දෙක පිටුපසින් කොන් දෙකට හිටින විදිහටත් පහන් පැල් සකස් කරගන්න. මේ පහන් පැල් ඇතුළෙ කෙසෙල් පතුරු තියල ඒ මතට කෙසෙල් කොළයක් එළල ඒ මත බුලත් කොළ 7 ක් තියල, මැද බුලත් කොළය උඩින් පහන තියන්න. ඒ පහන් පැල් හතරත් ගොක් කොළවලින් සරසන්න.



දැන් මේ තුනුරුවන් උදෙසා, ගුරුවරයා උදෙසා, සතරවරම් දෙවියන් උදෙසා සැරසිලි සහිතව පහන් පැල් හදල පූජා උපහාර පැවැත්වීම බහිරව පූජාවේ අනිවාර්ය අංගයක් නොවුනත්, වැඩි හොඳට තමයි ඒ දේවල් ගෞරවයෙන් සිද්ධ කරන්නෙ. ඒ නිසා තමන්ගෙ කාලය, ශ්‍රමය, ධනය, හැකියාව අනුව එහෙම කරන්න අපහසු නම්, පහන් පැල් හදල සරසන්නෙ නැතිව, සුද්ධ පවිත්‍ර කරන ලද පොළව මතම ගෙදර තියෙන පුටුවක්, බංකුවක්, මේසයක් තියල ඒ මතට සුදු රෙද්දක් එලල තුනුරුවන්, ගුරුවරයා, සතර වරම් දෙවියන් උදෙසා බුලත් කොළ තියල පහන බැගින් පත්තු කරල පූජා වට්ටිත් ඒ මතින් තියල ගරු උපහාරය කරන්න පුළුවන්. බුලත් කියන්නෙ බුහුමන් ලත්. ඒ නිසා බුලත් කොළයක් තියල ඒ මත පහන තිව්වම කිසිම අගෞරවයක් නෑ.

ඉන් පසු රූපයේ දක්වා ඇති ආකාරයට හොඳින් සුද්ද කර ගත් බිම පස්වලින් සමතලා කරගෙන අඩි 3×3 කොටු 9 ක් සිටින සේ අෂ්ට බහිරව යන්ත්‍රය ඇඳ ගන්න. මැදම කොටුව තුළ අඩියක් පමණ ගැඹුරට අඩි 1 1/2 × 1 1/2 පමණ වළක් කපා ගන්න. ඒක යමකාල බහිරවයා උදෙසා. වළ මැදි කරගෙන කොන් හතරේ ත්‍රිශූල හතරක් සහිතව මුහුදු වැලිවලින් අෂ්ට බහිරව යන්ත්‍රය ඇඳ ගන්න. යන්ත්‍රය අඳින්න පෙර වළ කපා ගත් පසු වළ ඇතුළටත් ඒ අවටත් කහදිය කොතලයෙන් පුවක් මල් කිණිත්තක් භාවිතා කරල කලින් ගාථාවම (දීපේ රට්ඨේච...) කියමින් පැන් ඉහින්න. ඉන් පසු තුනුරුවන් උදෙසා ගුණ උපහාර පූජාව මේ විදිහට පවත්වන්න.

ලදපස්මල්, පූජා කරන මල් වර්ග 5 ක්, විලඳ, මී පැණි, අෂ්ටපාන, තැඹිලි ගෙඩියක්, දැහැත් විට, චතුමධුර, පහන්, සුවඳ දුම්, හඳුන් කූරු ආදී සියල්ල බුද්ධ, ධම්ම, සංඝ යන තුනුරුවන්ට අදාළ පහන් පැල ඇතුලෙ වෙන වෙනම තැන්පත් කරල පූජා කරල පොදුවේ පඬුරක් තියල, මේ ඉඩමට පෙර උරුමකම් කී, වචා හදා සකස් කොට දැනට ඊට ලොබ බැඳගෙන ඉන්නා හතරවරිගයේ ඥාතීන් ඇතුලු සෑම සියලු දෙනාමත්, අනවින කොඩිවින නීච හිර කුල බන්ධනවලට බැඳී සිටින්නා වූ යම් තාක් පිරිස් ඇත්නම් ඒ සෑම සියලු දෙනාමත්, දේව, ඉෂ්ට, නාග, ඔඩ්ඩි, යමකාල, ආතාල, පාතාල, ගිනි යන අෂ්ට බහිරවයන්ටත්, නුඹලා සෑම සියලු දෙනාමත් විසින් ත්‍රිවිධ රත්නය කෙරෙහි කරන්නා වූ ගුණ උපහාර පූජාවක් හා සමානව මේ මහා උත්තම උපහාර පූජාව මහා ගුණ උපහාර පූජාවක්ම වේවායි සිතා මීට අත හිත තබා ගනිත්වා කියල අධිෂ්ඨාන කරන්න. මේ විදිහට අධිෂ්ඨාන කරල තුනුරුවන්ට පූජා කළ ආකාරයටම ගුරුවරයාටත් ඒ පූජාවම තියල පූජා කරන්න. ඉන් පසු සතරවරම් දෙවියන්ගේ පහන් 4 ත් පත්තු කරල අෂ්ට බහිරවයන් සඳහා සකස් කර ගත් පූජා වට්ටි 8 සහ සතර වරම් දෙවියන් උදෙසා සකස් කර ගත් පූජා වට්ටි 4 අදාල තැන්වල තැන්පත් කරල පූජා කරන්න. දෙවියන් උදෙසා සකස් කළ පූජා වට්ටි 4 ඊට අදාල පහන් පැල්වලත්, අෂ්ඨ බහිරවයන් උදෙසා පූජා වට්ටි 8 බහිරව යන්ත්‍රයේ ඊට නියමිත කොටුවලත් තැන්පත් කරන්න.

සතරවරම් දෙවියන්ගේ පූජා වට්ටිත් අෂ්ට බහිරවයන්ට තියන ආකාරයටම තමයි සකස් කරන්නෙ. නමුත් අෂ්ට බහිරවයන්ගේ පූජා වට්ටියට තියන්නෙ කුරුම්බා ගෙඩිය බැගින්. තුනුරුවන්ට, ගුරුවරයාට සහ සතරවරම් දෙවියන්ට තියන්නෙ තැඹිලි ගෙඩිය බැගින්.

තුනුරුවන්ට සහ ගුරුවරයාට පූජා කරල අවසන් වුනාට පසු සතරවරම් දෙවියන්ට පූජා කරන්න. ඉන්පසු අෂ්ඨ බහිරවයන්ට පූජා කරන්න. කිසිම අවස්ථාවක තුනුරුවන් උදෙසා පූජා කළ කිසිම දෙයක් දෙවියන්ගේ හෝ අෂ්ට බහිරවයන්ගේ හෝ පූජාවන් සඳහා භාවිතා නොකරන්න. (තෙල්, හඳුන්කූරු... ආදිය.) සතරවරම් දෙවියන්ට සහ අෂ්ඨ බහිරවයන්ට පූජා වට්ටි 12 පහත ආකාරයට සකස් කරගන්න.




A බුදුන්ගේ කුටිය
B ධර්ම රත්නයේ කුටිය
C සංඝ රත්නයේ කුටිය
D ගුරුවරයා උදෙසා කුටිය
E කහකොතලය
F දථරාෂ්ට දෙවියන්ගේ පහන් පැල
G විරූඪ දෙවියන්ගේ පහන් පැල
H විරූපාක්ෂ දෙවියන්ගේ පහන් පැල
I වෛශ්‍රවණ දෙවියන්ගේ පහන් පැල

1 දේව බහිරව
2 ඉෂ්ට බහිරව
3 නාග බහිරව
4 ඔඩ්ඩි බහිරව
5 යමකාල බහිරව
6 ආතාල බහිරව
7 පාතාල බහිරව
8 ගිණි බහිරව
9 හිස් කොටුව

පළමුවෙන්ම නෙලුම් කොළ 12 ක් අරගෙන ඒ එක එක කොළය මතුපිට තැඹිලි නැට්ටෙන් පහත වාක්‍ය සටහන් කරන්න. ඒ වාක්‍ය 100% ක්ම පැහැදිලිව පිටට පේන්න තිබීම අවශ්‍ය නෑ. ඡායාවක් වශයෙන් තිබුණත් ප්‍රමාණවත්. නෙළුම් කොළය තැලිල ඒ කහටවලින්ම ඒක ඇඳෙනවා.

දථරාෂ්ට දේවයාය නමහඃ
විරූඪ දේවයාය නමහඃ
විරූපාක්ෂ දේවයාය නමහඃ
වෛශ්‍රවණ දේවයාය නමහඃ

යනුවෙන් සතර වරම් දෙවියන්ටත්,

දේව බහිරවයාය නමහඃ
ඉෂ්ට බහිරවයාය නමහඃ
නාග බහිරවයාය නමහඃ
ඔඩ්ඩි බහිරවයාය නමහඃ
යමකාල බහිරවයාය නමහඃ
ආතාල බහිරවයාය නමහඃ
පාතාල බහිරවයාය නමහඃ
ගිනි බහිරවයාය නමහඃ

යනුවෙන් අෂ්ට බහිරවයන්ටත් සටහන් කරන්න.

ඉන්පසු ඒ නෙලුම් කොළ 12 වෙන වෙනම ත්‍රිකෝණයක් ආකාරයට කෙසෙල් පතුරු 3 ක් මැද තියල ගොක් කොළවලින් සරසල ඒ මත ඇස්ස කැපූ කුරුම්බ ගෙඩියක් සමග පළතුරු වර්ග 8 ක් තියල විලඳ, මී පැණි, අඳුන් හඳුන් (සුවඳ දුම්), මල් වර්ග 5 ක් (එක මල් වර්ගයක් විදිහට බකිණි මල් ගන්න පුළුවන් නම් වඩා හොඳයි), පිනි දිය, දෙහි ගෙඩිය බෑගින් තියල සියල්ල යන්ත්‍රයේ ඡායාරූපයේ පෙන්වා ඇති ආකාරයට සකස් කරගෙන පාට තුනක් සහිත ලේන්සු අටකින් පූජා වට්ටි අට වහන්න. කැප කරනකොට ඒවා ඉවත් කරන්න. පිනිදිය වෙන වෙනම තියන්නෙ නැතිව එක පිනිදිය කුප්පියක් අරගෙන සියලු වට්ටිවලට ඉස්සත් ප්‍රමාණවත්. මේ විදිහට සකස් කරගත්ත එක පූජා වට්ටියක් පොළව ඇතුලෙ තියෙන වළට තැබිය යුතුයි. දේව බහිරවයන් උදෙසා දෙන පූජාව විතරක් අඩියක් පමණ උස කෙසෙල් කොටයක් අරගෙන පුන්කලසක් විදිහට සරසල ඒ මත තැබිය යුතුයි. ඉතිරි පූජා වට්ටි හය අදාල කොටු තුළ තැන්පත් කරන්න. සතර වරම් දෙවියන්ගෙ පූජා වට්ටිත් ඒ විදිහටම සකස් කරල ඇස්ස කැපූ තැඹිලි ගෙඩියක් සහිතව අදාල පහන් පැල්වල තැන්පත් කරන්න.

ඉන් පසු මේ සියලු පූජා වට්ටි තියපු කොටුවල (බහිරව යන්ත්‍රයේ) පහන් පත්තු කරල මැද කොටුවේ පටන් මේ යන්ත්‍රය ජීවම් කළ යුතුයි. පූජාවට මුල් වෙච්ච කෙනා මැද කොටුවේ වළ ඇතුලට කකුල් දෙක දාගෙන වළ බැම්මෙ වාඩිවෙලා ජීවම පටන් ගන්න. ඒ සඳහා සබ්බ පාපස්ස ගාථාව 3 වරක් සජ්ඣායනා කරල "දීපේ රට්ඨේව තුජේ" ගාථාවෙන් 3 වරක් කියල පහත ගාථාව 21 වරක් කියන්න. මේ ගාථාව සජ්ඣායනා කිරීමේ පටන් පූජා වට්ටි තැන්පත් කරල කැප කිරීම ඇතුළු පූජාවේ ඉතිරි කොටස කරන්න තියෙන්නෙ රාත්‍රී 10.08 න් පසුව. එතෙක් අනෙක් කටයුතු ටික සූදානම් කරල අහවර කරගන්න. කොහොමත් ඔය විදිහට සකස් කරගෙන සූදානම් වෙනකොට රාත්‍රී 10.00 විතර වෙනවා. ඒ නිසා නිකං බලාගෙන ඉන්න වෙලාවක් ඉතුරු වෙන්නෙ නෑ.

## ජීවම් ගාථාව

**ඕම් සූර්යාය නමහඃ**
**ඕම් සූර්ය රාජයාය නමහඃ**
**ඕම් සූර්ය රාජ දේව දිෂ්ටි**
**බැල්ම දිෂ්ටි**
**මණ්ඩල දිෂ්ටි මංගර දිෂ්ටි**
**බහිරව දිෂ්ටි වා! වා!**
**සර්වජන සිද්ධි**
**සූර්ය මණ්ඩල ඒස්වහඃ**

(මෙහි නමහඃ, ඒස්වහඃ යන වචන උච්චාරණය කරන කොට "හහ්" කියල "හ" යන්න වෙනම උච්චාරණය වෙන්නෙ නෑ. නමහ් (නමඃ), ඒස්වහ් (ඒස්වඃ) කියල (හ්) ස්වරය විතරයි උච්චාරණය වෙන්නෙ.

ඊළඟට ගෙදර සෑම සියලු දෙනාටම පූජා වට්ටි අත ගස්සවන්න. තවත් පිටින් සහභාගි වෙච්ච අය ඉන්නවනම් ඒ අයටත් අතගැස්සුවට ගැටළුවක් නෑ. දැන් වළේ තියෙන යමකාල බහිරව පූජාවට්ටිය පිටුපස හිස් කොටුවෙන් තියල වළට බැහැල වළ බැම්මේ වාඩි වෙලා ඒ ඒ පූජා වට්ටියේ නම සඳහන් ආකාරයට, දේව බහිරවයාගේ පූජාවෙන් පටන් ගෙන මේ විදිහට කැප කරන්න.

දේව බහිරවයාණෙනි, අනන්ත සසර ගමනේදී අපගෙන් ඔබට වරදක් ප්‍රමාද දෝසයක් හිංගියක් හිංසාවක් දැන හෝ නොදැන සිදු වූවා නම් ඒ සෑම සියලු දේට වන්දි ගෙවා නිදහස් වීමට, අනන්ත සසර පටන් අප විසින් රැස් කර ජනිත කර ගත්තා වූ සියලු පුණ්‍ය කුසල ශක්තියත් අනුමෝදන් වී, මේ මහා පූජාවත් භුක්ති විඳ ගනිත්වා, මේ පුණ්‍ය කුසල ශක්තියෙන් නුඹලාගේ යහපත් සිතුම් පැතුම් ඇත්ද, ඒවා ඒ ආකාරයෙන්ම ඉෂ්ට සිද්ධ වේවා, කිසි කලෙක පිරිහීමක් නොවේවා, අභිවෘද්ධියක්ම වේවා, දුගතියකට නොයාවා, සුගතියකටම යාවා කියල අධිෂ්ඨාන කරල, එසේ අනුමෝදන් කළා වූ පුණ්‍ය කුසල ශක්තියත් මේ මහා පූජාවත් දේව බහිරවයාණෙනි, නුඹටත් නුඹේ සහපිරිසටත් කැපයි කැපයි කැපයි කියල තුන් වරක් කියල දෙහි ගෙඩියක් කපල ඒ පූජා වට්ටියටම දමන්න. මේ විදිහට ඉතිරි බහිරවයන් 7 දෙනාටම නම කියල පූජාව කැප කරල දෙන්න. අදාල කොටු තුළ ඒවා තැන්පත් කරන්න. යමකාල බහිරවයන්ගෙ පූජා වට්ටිය අරගෙන වළේ තැන්පත් කරල ගොඩට එන්න. මේ විදිහට කැප කරන්න මුල් වෙන කෙනා පිරිසිදු සුදු ඇඳුමක් ඇඳගෙන ඒක කරනවනම් වඩාත් හොඳයි.

ඉන් පසු, අද මේ මොහොතෙන් පසු අප විසින් මේ ඉඩමේ ගොඩනැගිල්ලක් හෝ නිවසක් හෝ යම්කිසි ඉදිකිරීමක්, ළිං කැපීමක්, සංවර්ධන කටයුත්තක් කරනවා (තමන් කරන කටයුත්ත සහ එහි යහපත් පැත්ත පෙන්වා). අෂ්ට බහිරවයාණෙනි මා/අප මේ යහපත් කටයුත්ත කරනවා මිසක් නුඹලාට වරදක් නොකරමි/නොකරමු. මගෙන්/අපෙන් නුඹලාට වරදක් නොවේවා! නොවේවා!! නොවේවා!! නුඹලාගෙන් දැනුවත්ව හෝ නොදැනුවත්ව මටද/අපටද වරදක් නොවේවා! නොවේවා!! නොවේවා!!! කියල අධිෂ්ඨාන කරල, තුනුරුවන්ගේ පහන් පැලේ තැන්පත් කළ පඬුර ඒ පහන් පැලේම ගැට ගහන්න. ඉන් පසු දෙවියන්ට සහ සෑම සියලු දෙනාටම පින් දීල කරණීයමෙත්ත සූත්‍රය සහ මෙත්තානිසංස සූත්‍රය සජ්ඣායනා කරල කටයුතු අහවර කරන්න.

පූජාව ඉවර වුනාට පසුව පඬුර සම්බුද්ධ සාසනස උදෙසා පන්සලක පිං කැටයකට පූජා කරන්න. ඒ වගේම අෂ්ඨ බහිරවයන්ගෙ පූජා වට්ටි 12 කිසිවෙකුටත් කෑමට නොදී එතැන් පටන් විනාඩි 40 ක් ඉක්ම ගිය පසු තමන්ට පහසු වෙලාවක ගලා යන දොළ පාරකට හෝ තුන්මං හංදියකට හෝ දමන්න. සතරවරම් දෙවියන්ගෙ පූජා වට්ටිත් කිසිවෙකුටත් කෑමට නොදී සාමාන්‍ය විදිහට ඉවත් කරන්න. තුනුරුවන්ට සහ ගුරුවරයාට තැබූ පූජාවන් බුද්ධ පූජාව ඉවත් කරන ආකාරයට සුදුසු විදිහට ඉවත් කරන්න. වළ මුහුදු වැලිවලින් සහ අවට පස්වලින් වහන්න.

සියල්ල ඉවර වුනාට පසු කහ කොතලයේ ඉතිරි වෙච්ච කහ දියර ටිකත් අර ගාථාවම කියමින් ඉඩමට ඉහින්න. ඉන්පසු මුට්ටියත් බහිරව යන්ත්‍රයේ වළට දාල ශක්තිය විසිරිලා යන්න කුඩු කරල වහන්න. වළ වැහුවට පස්සෙ පුවක් මල් කිණිත්තත් ඒ මත කුඤ්ඤයක් විදිහට නිකන් හිටවන්න. ඊට පස්සෙ ඒ ස්ථානය සාමාන්‍ය විදිහට ඕනෑම කටයුත්තකට පාවිච්චි කරන්න පුළුවන්.

## තවත් වැදගත් කරුණු

**1.** භූමියේ ඉදිකිරීම කරන තැනම බහිරව පූජාව පැවැත්විය යුතු නෑ. භූමියේ ඉහත ආකාරයට සුදුසු තැනක පූජාව තියල තමන්ට අවශ්‍ය ස්ථානයේ ඉදිකිරීම කරන්න පුළුවන්.

**2.** තුනුරුවන් උදෙසා පහන් පැල සකසාගත යුත්තේ අදාල භූමියේ බ්‍රහ්ම පාදය මුල් කරගෙන උතුරු දිසාවෙන්. එතැනදි ස්ථානය නෙවෙයි වැදගත් වෙන්නෙ දිසාව. භූමියේ පහසු පිරිසිදු තැනක උතුරු දිසාව මුල් කරගන්න. ඒක මූලාරම්භ කරගෙන අනෙක් ඒවා රූපයේ පෙන්වා තියෙන විදිහට ස්ථානගත කරන්න. බහිරව යන්ත්‍රය අඳින්නෙ තුනුරුවන් උදෙසා සකස් කළ පහන් පැල ඉදිරියෙන්, සතර වරම් දෙවියන්ගෙ පහන් පැල් මැදිකරගෙන.

**3.** අෂ්ට බහිරවයන් උදෙසා වන පූජා වට්ටි 8 ම ත්‍රිකෝණාකාර හැඩයට පිළියෙල කරගත යුතුයි. ඒත් එක්කම වඩාත් පහසු නිසා සතර වරම් දෙවියන්ගේ පූජා වට්ටිත් ඒ විදිහටම හදා ගන්න. ඒ වට්ටි කෙසෙල් පතුරුවලින්, තුනී ලීවලින් හෝ තමන්ට පුළුවන් අමුද්‍රව්‍යයක් යොදාගෙන සකස් කරගන්න. නමුත් සාමාන්‍යයෙන් කෙසෙල් පතුරුවලින් හදන එක තමයි වඩාත් පහසු. වට්ටි හදනකොට කෙසෙල් පතුරු එකිනෙක යා වෙන්න තියල ඉරටු කැලිවලින් පහසුවෙන් අමුණා ගන්න පුළුවන්. පළමුව කෙසෙල් පතුරු තබා ඒ මත නෙළුම් කොළය තබා පළතුරු ටික විසිරෙනවට තුන් පැත්තෙන් නෙළුම් කොළය මත නැවතත් කෙසෙල් පතුරු තැන්පත් කිරීමෙන් වට්ටිය හදාගන්න පුළුවන්. තෙරුවන් උදෙසා සහ ගුරුවරයා උදෙසා හදන පූජා වට්ටිවලට එහෙම විශේෂ හැඩයක් නෑ, සාමාන්‍ය විදිහට පහන් පැල් තුළ තැන්පත් කරන්න.

**4.** කෙසෙල් පතුරුවලින් හදපු වට්ටිය උඩින් නෙළුම් කොළය තබා ඒ මත පළතුරු තබන්න. නෙළුම් කොළයේ ඉඩ මදි නම්, වට්ටියට පළතුරු ගියාට ගැටළුවක් නෑ. කුරුම්බ ගෙඩිය පළමුව නෙළුම් කොළය මැදින් තබාගත්තම ඒ වටා ඉතිරි පළතුරු වර්ග තැන්පත් කිරීම වඩාත් පහසුයි.

**5.** අෂ්ඨ බහිරවයන් උදෙසා සාදන ලද වට්ටිවලින් බහිරව යන්ත්‍රයේ කොන් හතරට එන වට්ටිවල ත්‍රිකෝණයේ උල් පැත්තක් ත්‍රිශූලයට එල්ල වෙන විදිහට තැන්පත් කරන්න. අනෙක් වට්ටි හතරේ උල් පැත්තක් ලම්බකව බාහිරට එල්ල වෙන විදිහට තැන්පත් කරන්න. මේ සියල්ල ඡායාරූපයෙන් බලාගෙන වටහා ගන්න පුළුවන්.

**6.** ඒ වගේම තෙරුවන් උදෙසා, ගුරුවරයා උදෙසා පිදෙන වට්ටිවලට පළතුරු වගේ ඝන ආහාර තියන්නෙ නෑ. මොකද ලෝක සම්මතයට අනුව දවල් 12.00 න් පසු විකාල භෝජනයට වැටෙන නිසා. ඒ නිසා ඒවාට තියන්නෙ අෂ්ට පාන, චතුමධුර, ගිලන්පස, පැන් වීදුරුවක්, දැහැත් විට, තැඹිලි... ආදිය. ඒ වගේම මේ අෂ්ටපාන, චතුමධුර, ගිලන්පස... ආදිය අනෙක් පූජා වට්ටි 12 ට තියන්නෙ නෑ.

**7.** පූජා වට්ටි 12 සඳහා සාමාන්‍යයෙන් යොදාගන්නා පළතුරු වර්ග විදිහට කෙසෙල්, වරකා, කොමඩු, අන්නාසි, අඹ, බෙලි, දිවුල්, පේර, උක්ගස්, (පළතුරු වර්ග 8 කට නොඅඩු සංඛ්‍යාවක් ගත යුතුයි). අමතර පළතුරු වර්ග - මොර, හිඹුටු, මාදම්, පලු, වීර. කෙසෙල් සහ වරකා ගන්නකොට කෙසෙල් ගෙඩි 7 බැගින් සහ වරකා මදුලු 7 බැගින් එක වට්ටියකට තියන්න. කෙසෙල් ගෙඩි ගන්නකොටත් තමන්ට පුළුවන් විදිහට කෝලිකුට්ටු හෝ ඇඹුල් කෙසෙල් ගන්න. සියලු පළතුරු වර්ග කපා ගත යුතුයි. ගස්ලබු, ලාවුළු, අලිපේර, ජම්බෝල පූජාවලට තියන්නෙ නෑ. පළතුරු වට්ටියේ බුලත් තියන කොට නැට්ට පැත්ත (අග) ඇතුලට සිටින සේ තබන්න. ඒ වගේම කුරුම්බා ගෙඩිවල ඇස්ස කපල වහල තියල පූජාව පටන් ගන්න කොට විවෘත කරල තියන්න.

**8.** අෂ්ට බහිරව යන්ත්‍රයේ ත්‍රිශූල හතරට ඒවා නොවැසෙන සේ අයිනෙන් වෙනම බුලත් කොළ හතරක් තියල ඒවා මතත් පහන් තබන්න.

**9.** තෙරුවන් උදෙසා තියන සියලු පූජා භාණ්ඩ ගුරුවරයාගේ පූජාවටත් තබන්න. තෙරුවන් උදෙසා සාමාන්‍යයෙන් බෝධි පූජාවක් තියන ආකාරයට ගාථා කියල පූජා කරන්න. තෙරුවන්/ගුරුවරයා උදෙසා තබන පූජාවන් පළමුවත්, ඉන්පසු සතර වරම් දෙවියන්ගේ පූජාවත් තබා අවසන් වූ පසුවයි අෂ්ඨ බහිරවයන් උදෙසා පූජාවන් කැප කරල දෙන්නෙ.

**10.** බහිරව යන්ත්‍රය ජීවම් කිරීම, පහන් පත්තු කිරීම, අෂ්ඨ බහිරව පූජා වට්ටි කැප කිරීම කියන කාරණා සිද්ධ කිරීමට පෙර තෙරුවන් / ගුරු / සතරවරම් දෙවි පූජෝපහාරය සිදුකරන්න. ඒ දක්වා වූ සියලු කටයුතු එකී පූජෝපහාරයන්ට පෙර සිදු කරන්න පුළුවන්.

**11.** තෙරුවන් වැඳ පූජෝපහාරය කරන කොට, පඬුර පහන් පැලේ තැන්පත් කරල, සියලු කටයුතු අවසානයේ පින් දීමෙන් අනතුරුව පඬුර පහන් පැලේම ගැටගසන්න.

**12.** විලඳ සහ මී පැණි තෙරුවන් සහ ගුරුවරයා සඳහා වන පූජාවන්ටත් අනෙක් සියලු පූජා වට්ටිවලටත් තබන්න. තෙරුවන් පූජෝපහාරයට ගන්නා මල් වර්ග 5 ම බහිරව පූජාව සඳහාත් ගන්න පුළුවන්. එහෙම නැත්නම් වෙනත් මල් වර්ග 5 ක් ගන්න පුළුවන්.

**13.** යන්ත්‍රය ජීවම් කිරීම කියන්නෙ, මැද වළේ බැම්මෙ වාඩි වෙලා උතුරු දිසාව බලා ගෙන ඉහත ජීවම් ගාථාව දී ඇති වාර ගණනක් කීම. රාත්‍රී 10.08 න් පසු ජීවම සිදුකරන්නේ, බහිරව පූජාවට ගම්භාර දෙවියන්ගේත් ආශිර්වාදය ලබාගැනීම සඳහා. මොකද ගම්භාර දෙවියන් බැල්ම හෙළන්නෙ රාත්‍රී 10.08න් පසුව.

**14.** තෙරුවන් සහ ගුරුවරයා උදෙසා තැන්පත් කළ භාජන වෙනත් ලෞකික කටයුතුවලට නොගෙන බෝධි පූජා වගේ සාසනික කටයුතුවලට විතරක් පාවිච්චි කරන්න.

(ප්‍රායෝගිකව බහිරව පූජාවක් තියනකොට දැනගත යුතු, මේ ලිපියෙන් මගහැරුණු තවත් කරුණු ඇත්නම් ඒවා සහ දැනටමත් ඉදිකර ඇති නිවාස, වාසස්ථාන, ව්‍යාපාරික ස්ථානවල දොස් ඉවත් වෙන්න බහිරව පූජාවක් තබන ආකාරය ලබන කලාපයෙන් බලාපොරොත්තුවන්න.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...

27 වන කොටස



**සංයුක්ත නිකාය - 1**

**තුදු බ්‍රහ්ම සූත්‍රය - 270 පිටුව**

කෝකාලික මහණ වෙතට පැමිණි තුදු නම් පච්චේක බ්‍රහ්ම, සැරියුත් මුගලන් දෙනම ප්‍රියශීලී බවද සිත පහදවයිද කී විට කෝකාලික මහණ එම බඹුටද දොස් කීය. ගුණ කිව යුත්තන්ගේ අගුණ කියා අපාගත වන පාපයක් රැස් කළේය.

**දුතිය කෝකාලික සූත්‍රය - 270 පිටුව**

කෝකාලික මහණ බුදු රජුන් කරා ගොස්, සැරියුත් මුගලන් දෙනම ගුණ හීනයන් බව තෙවරක්ම කීය. බුදු පියාණන් වහන්සේ ඒ තෙවරම එසේ නොකියන ලෙසත්, ඒ දෙනම ප්‍රියශීලී බවත් කීවද දෘෂ්ටිය බැහැර නොකළේය. බුදුන් වැඳ ගියේය. කෝකාලිකගේ මුළු සිරුරෙහිම කුඩා ගෙඩි හටගෙන ක්‍රමයෙන් ලොකු වී බෙලි ගෙඩි පමණ වී පිපිරී ඕජස් ගලා මියගොස් පදුම නම් නිරයේ ඉපදුනි.

**(අදත් බුද්ධ සාසනය තුලම ඉඳගෙන, තමන් ගුණ නොවඩා අනුන්ගේ ගුණ නොදැන, ප්‍රසිද්ධියේ මාධ්‍ය හරහාද සිල්වත් ගුණවත් භික්ෂූන්ට ගරහන ඇතැම් උදවිය මේ සූත්‍ර දේශනාව කියවා බලන්නේ නම් මැනවි.)**

**සනං කුමාර සූත්‍රය - 276 පිටුව**

බුදු රජුන් කරා පැමිණි සනං කුමාර බ්‍රහ්ම තෙමේ, ප්‍රජාවෙහි වංශය සළකන්නවුන් අතර ක්ෂත්‍රිය ශ්‍රේෂ්ඨයි, ත්‍රිවිද්‍යාවෙන්, පසළොස් චරණ... ආදී ධර්මයන්ගෙන් යුක්ත වූ ඛීණාසුව බ්‍රාහ්මණ තෙමේ (අරිහතුන් වහන්සේ) දෙව් මිනිසුන් අතරින් ශ්‍රේෂ්ඨයි කී විට බුදු රජුන් එය අනුමත කළේය.

(පසළොස් චරණ ධර්ම :- ප්‍රාතිමෝක්ෂ සංවර සීලය, ඉන්ද්‍රිය සංවර සීලය, භෝජනයේ පමණ දැන වැළඳීම, ජාගරියානු යෝගය (නිදි වැරීම), ශ්‍රද්ධාව, හිරි (පාපයට ලැජ්ජා ඇති බව), ඔත්තප්පය (පාපයට බිය වීම), බහුශ්‍රැත භාවය, විරිය, සතිය, ප්‍රඥාව, ප්‍රථම, ද්විතීය, තෘතීය, චතුර්ථ ධ්‍යාන)

**දේවදත්ත සූත්‍රය - 276 පිටුව**

සහම්පති බඹ බුදු රජුන් කරා පැමිණ දේවදත්ත අරබයා මෙසේ කීය.

> ඵලං වේ කදලිං හන්ති
> ඵලං වේළුං ඵලං නළං
> සක්කාරෝ කා පුරිසා හන්ති
> ගබ්භෝ අස්සතරිං යථාති
>
> කෙසෙල්, මහ උණ, රණ උණ යන
> මේවායේ ඵලය නිසා ගස නැසේද,
> කොටළුවකුට දාව වෙළඹට උපන්
> දරු ගැබ නිසා වෙළඹ නැසේද,
> එසේම ලාභ සත්කාර නිසා නින්දිත
> පුරුෂයා නැසේ.

**අන්ධකවින්ද සූත්‍රය - 276 පිටුව**

සහම්පති බඹ බුදු රජුන් දැක රහතුන්ගේද, ශෛක්ෂයන්ගේද (අරිහත් ඵලයෙන් මෙහා මග ඵල ලාභීන්) ගුණ වනා, මින් අන්‍යයන් පිනට පමණක් හිමි යැයි කීවත්, වරදට අසු වෙතැයි බිය නිසා නොබනිමියි කීය (මග ඵල නොමැති අය නිවන් මග නොවඩා පින් දහම් විතරක් කරගෙන හිටියත් ඒ අයටවත් දොස් කීම නුසුදුසු නිසා දොස් නොකී බව).

**අරුණවතී සූත්‍රය - 278 පිටුව**

බුදු රජුන් වරෙක භික්ෂූන් අමතා, අරුණවතී නම් පෙර කලෙක රාජ්‍යයක සිඛී නම් බුදු රජුන්ට අභිභූ, සම්භව නමින් අගසව් යුවළක් සිටි බවත්, දිනක් දාන වේලාව එනතුරු සිඛී මුනිඳු අභිභූ අග්‍ර ශ්‍රාවක සමග දික් කළ අතක් වක් කළ සැණින් බඹ ලොවට වැඩ ඒ බඹුන්ට ගාථාවකින් දම් දෙසූ හැටිත් ප්‍රකාශ වේ. ඒ ඇසූ බඹුන්, සාස්තෘන් වහන්සේ ළඟ සිටියදී කෙසේ නම් ශ්‍රාවක මෙසේ දෙසාදැයි අවමන් කළේය. සිඛී බුදු රජුන් අභිභූ ශ්‍රාවකයන්ට බඹුන්ව සංවේගයට පත් කරන ලෙස දැන්වීය. අභිභූ ශ්‍රාවක පෙනෙන ලෙසද, අඩ කයක් පෙනෙන ලෙසද, නොපෙනෙන ලෙසද බඹුන්ට දහම් දෙසන විට සියලු බඹුන් පුදුම විය. අභිභූ තෙරුන් බඹ ලොව සිට සහශ්‍රී ලෝක ධාතුවට ඇසෙන්ට ශබ්දය පතුරවන්ට හැකි යැයි සඟුන්ට පැවසූ බව බුදු රජුන්ට කී විට බුදුන් වහන්සේ ඊට කල් බව පැවසීය. එවිට ආරභථ නික්ඛමථ යන ගයෙන් (ආර්ය මාර්ගය ආරම්භ කර පංචකාමයන්ගෙන් නික්මෙන) ස්වර හඬ නංවා දෙසීය. ඉන්පසු බඹුන් මෙසේ සංවේගයට පමුණුවා සිඛී බුදුන් සහ අග්‍ර ශ්‍රාවක පෙර සේම මනු ලොවට වැඩියේය. බුදු රජුන් භික්ෂූන්ගෙන් ඒ හඬ ඇසී දැයි විමසූ විට ගාථාවද කියමින් හඬ ඇසූ හැටි භික්ෂූන් කීය. භික්ෂූන් ඉතා සතුටු විය.

**පරිනිබ්බාන සූත්‍රය - 282 පිටුව**

මල්ල රජ දරුවන්ගේ උපවර්ථන නම් සල් උයනෙහි පිරිනිවන් පෑ බුදු රජුන් අනුපූර්ව සමාපත්තියෙන් නිරෝධයටද, නැවත ආපසු ප්‍රථම ධ්‍යානයටද, නැවත චතුර්ථ ධ්‍යානයටද සම වදිනවාත් සමග පිරිනිවීය. එවිට සහම්පති බ්‍රහ්ම, සක්‍ර දේවේන්ද්‍ර, ආනන්ද හිමි, අනුරුද්ධ හිමි ආදී උතුමන් කී ගාථා මෙහි ඇත.



**ධනඤ්ජානි සූත්‍රය - 286 පිටුව**

ධනඤ්ජානි බැමිණිය බෞද්ධ උපාසිකාවකි. පය පැකිළීමකදී ඇය නමස්කාරය කීය. මින් කුපිත වූ භාරද්වාජ බමුණා ඇයගේ සාස්තෘන් වහන්සේට බනිමින් වාද කරන්නට ගියේය. ක්‍රෝධය නසා සුව සේ සිටින බවත්, ශෝක නොකරන බවත් ඇසූ පැනයට බුදු පියාණන් වහන්සේගෙන් ලැබුන පිළිතුරෙන් පැහැදුන බමුණා බුදු සසුනෙහි මහණව අරිහත්වයට පත්විය.

**අක්කෝස සූත්‍රය - 288 පිටුව**

ඉහත සූත්‍රයේ කී භාරද්වාජ බමුණා බුදු සසුනෙහි මහණ වූ බව ඇසූ අක්කෝසක බමුණා ගොස් භාග්‍යවතුන් වහන්සේට අසභ්‍ය පරුෂ වචනයෙන් ආක්‍රෝස පරිභව කළේය.

නිවසට එන අමුත්තන්ට සංග්‍රහ කළ විට බාර නොගතහොත් කුමක් කරන්නේදැයි බුදු රජුන් අක්කෝසක බමුණාගෙන් පැනයක් ඇසීය. ඒවා අපටම වේ යැයි පිළිතුරු දින. මේ බනින බැනුම්ද බුදු රජුන් බාර නොගන්නා බව කී විට බමුණා රත් විය. බුදු පියාණන් වහන්සේ මේ පිළිබඳව තවදුරටත් කරුණු පැවසීමේදී පැහැදුන බමුණා පිරිසිදු සිතින් පැවිදි වී අරිහත්වයටද පත් විය.

**අසුරින්දක සූත්‍රය - 292 පිටුව**

භාරද්වාජ බමුණා පැවිදි වූ බව ඇසූ අසුරින්දක බමුණාද විත් බුදු රජුන්ට ආක්‍රෝස පරිභව කළේය. බුදු රජුන් නිශ්ශබ්ද විය. බමුණා, මහණ දිනුයෙහිද දිනුයෙහිදැයි ඇසීය. බුදු රජුන්, අඥාන තෙමේ පරුස බිනුමෙන් තමන්ට ජය ලැබුනේ යැයි සිතයි, දන්නහුගේ යම් ඉවසීමක් වේද ඒ ඔහුට ජයක්ම වේ, යමෙක් මෙරමා කිපියේ දැන ඉවසාද දෙදෙනාටම වැඩ සාදයි කී විට, අසුරින්දක බමුණාද පැහැදී පැවිදිව අරිහත්වයට පත්විය.

**බිලංගික සූත්‍රය - 292 පිටුව**

භාරද්වාජ බමුණා පැවිදි වූ බව ඇසූ බිලංගික බමුණාද කිපී නොසතුටු සිතින් ගොස් බුදු රජුන් ළඟ නිහඬව සිටියේය. තතු දත් බුදු රජුන් බමුණාට දහමක් දෙසීය. යමෙක් නිරපරාද වූ නික්ලේසී පිරිසිදු උතුමන්ට ආක්‍රෝස පරිභව කෙරේද, උඩු සුළඟට දැමූ දූහුවිලි තමා වෙත එන සේ ඒ පාපය තමාට අවැඩ කරයි යනුවෙන් දෙසූ විට, ඒ බමුණාද සසුනෙහි පැහැදී පැවිදිව අරිහත්වයට පත් විය.

**ජටා සූත්‍රය - 294 පිටුව**

අන්තෝ ජටා බහි ජටා ගාථාවට පිළිතුරු ගාථා 3 ක් ඇත.

අන්තෝ ජටා බහි ජටා
ජටාය ජටිතා පජා
තං තං ගෝතම පුච්චාමි
කෝ ඉමං විජටයේ ජටන්ති

ඇතුලතත් ගැට, පිටතත් ගැට. ඒ ගැටවලින් සත්ව ප්‍රජාව පැටලී ඇත. ගෞතමයන් වහන්ස, සත්ත්වයා කෙසේ නම් ඒවා ලිහා ගන්නේද?

සීලේ පතිට්ඨාය නරෝ සපඤ්ඤෝ
චිත්තං පඤ්ඤඤ්ච භාවයං
ආතාපි නිපකෝ භික්ඛු
සෝ ඉමං විජටයේ ජටං

ප්‍රඥාවන්තයා කෙලෙස් තවන වීර්ය ඇතිව, ප්‍රඥාව ඇතිව, සීලයක පිහිටා සමාධිය හා ප්‍රඥාව වඩමින් තෘෂ්ණා ගැටය ලිහා ගනී.

යේ සං රාගෝච දෝසෝච
අවිජ්ජාච විරාජිතා
ඛීණාසවා අරහන්තෝ
තේසං විරයිතා ජටා

යම් කෙනෙකු විසින් රාගයත්, ද්වේශයත්, අවිද්‍යාවත් දුරු කරන ලද්දේද, ඒ ආශ්‍රව ක්ෂය කළ අරිහතුන් වේ.

යත්ථ නාමංච රූපංච
අසේසං උපරුජ්ජති
පටිසං රූප සඤ්ඤාච
එත්තේසා ගිජ්ජතේ ජටාති

යම් තැනක නාමයත්, රූපයත්, රූප සඤ්ඤාවත් ශේෂයක් නැතිව නිරුද්ධ වේද, මෙහි තෘෂ්ණා නමැති ගැටය බිඳේ.

**සුද්ධික සූත්‍රය - 296 පිටුව**

සුද්ධික භාරද්වාජ බමුණා මෙසේ කීය. ලෝකයේ යම් බමුණෙක් සිල්වත්ද, තපස්කම් කරන්නේද, එපමණකින් පිරිසිදු නොවේ. විද්‍යාවෙන් සහ චරණයන්ගෙන් යුක්ත වූවේ පිරිසිදු වේ.

බුදු රජුන් : **පටන් ගත් වෙර විරිය ඇති, නිවනට මෙහෙය වූ සිත් ඇති, දැඩි පැරකුම් ඇති ක්ෂත්‍රියාද, බමුණාද, වෛශ්‍යයාද, ක්ෂුද්‍රයාද, සැඩොලාද, පුප්සඩුවාද (කසල ශෝධකයා) උත්තම ශුද්ධි සංඛ්‍යාත නිවනට පැමිණේ.**

දම් අසා පැහැදුන බමුණාද සසුනෙහි පැවිදි වී අරිහත්වයට පත්විය.

**අග්ගික සූත්‍රය - 296 පිටුව**

අග්ගික භාරද්වාජ බමුණා ගිනි දෙවියන් පිදීමට දිය නුමුසු කිරිබතක් සෑදීය. බුදු රජුන් ගෙපිළිවෙලින් පිඩුසිගා වැඩිය විට ඒ බමුණු ගෘහය ළඟටද වැඩ සිටියේය. බමුණා බුදු රජුන්ට මෙසේ කීය. යම් බමුණෙක් ත්‍රිවිද්‍යාවෙන් සමන්නාගතද, ජාතිමත්ද, බොහෝ ග්‍රන්ථ හදාලේද, ත්‍රිවේද සංඛ්‍යාත වේදයෙන් සහ ගෝත්‍ර සංඛ්‍යාත චරණයෙන් යුක්තද (බමුණන් සිතා සිටි විජ්ජාචරණයයි) ඒ බමුණු තෙමේම මේ පායාසය (කිරිබත) වළඳන්ට සුදුස්සේය.

බුදු රජුන් : බොහෝ ප්‍රලාප බෙනෙන ඇතුලත කුණු කිළිටි කොහොන් (කුහකකම) බැවින් යුතු වූයේ ජාතියෙන් බමුණෙක් නොවේ. යමෙක් පෙර විසූ කඳ පිළිවෙල, ස්වර්ගය, අපාය දැන ජාතික්ෂය සංඛ්‍යාත අරිහත්වයට පැමිණියේද, ඒ ත්‍රිවිද්‍යාවෙන් විජ්ජාචරණයෙන් යුක්ත වූ හෙතෙම පායාසය වළඳන්ට සුදුසුය. ගාථාභිගීත දානය නොපිළිගති (බණ දෙසා ඒ වෙනුවෙන් දානය ගැනීම නුසුදුසු නිසා). බමුණා සසුනෙහි පැහැදී මහණව අරිහත්වයට පත්විය.

**සුන්දරික සූත්‍රය - 298 පිටුව**

සුන්දරික පරිබ්‍රාජක ගිනි දෙවි පුදා යාග ද්‍රව්‍ය ශේෂය වූ පායාසය පුදනට බමුණෙක් සොයන විට බුදු රජුන් එක් රුකක් මුල වැඩ සිටිනු දැක බමුණෙක් යැයි සිතා ගොස් බැලූ විට මේ මුඩු මහණෙකැයි සිතීය. යළි විචාරා නියම බ්‍රාහ්මණ ධර්මානුකූලව වටහාගෙන පූජා කළ පායාසය ගාථාභිගීත දානය බැවින් නොවැළඳීය. එවිට කාට දෙම්දෝයි ඇසූ විට, ශ්‍රාවකයෙක් හෝ පරිණාමකයෙකුට මිස අන් කෙනෙකුට නොදිරවන බව පැවසීය. තවද දහම් ශ්‍රවණය කළ සුන්දරික බමුණා, බුදු සස්නෙහි පැවිදිව අරිහත්වයට පත්විය.

**බහුධීතු සූත්‍රය - 302 පිටුව**

භාරද්වාජ ගෝත්‍රයේ බමුණෙක් තම ගොනුන් තුදුස් දෙනෙක් (14 ක්) දින 7 කට පෙර පටන් නැතිවී සොයා යන විට බුදු රජුන් ගසක් මුල වැඩ හිඳිනු දැක, **තමාට දුක් දෙන ලෞකික වස්තු වන ගවයන්, තල හේන්, වැන්දඹු දූවරුන්, භාර්යාව... ආදී නොයෙක් දේ නොමැති මේ මහණ සුවෙන් සිටී යැයි කීය. බුදු පියාණන්ද ඒ ලෞකික වස්තු නැති විට සුව බව අනුමත කළේය.** පැහැදුන බමුණා සසුනෙහි පැවිදිව අරිහත්වයට පත්විය.



**කසී සූත්‍රය - 306 පිටුව**

කසී භාරද්වාජ බමුණා තම කෘෂි කර්මාන්ත කටයුතු කරමින් කුඹුරේ කටයුතු කරන දිනෙක බුදු පියාණන් වහන්සේ පිඬු සිඟා වැඩිය විට, හිඟමන් නොගොස් හැල මඩවල ගොවිතැන් කර භුක්ති විඳින ලෙස උන්වහන්සේට කීය. උන්වහන්සේ ඒ වචනම මුල් කරගෙන කළ ධර්ම දේශනාවකින් පැහැදුන බමුණා සසුනේ උපාසකයෙක් විය.

**උදය සූත්‍රය - 310 පිටුව**

භාග්‍යවතුන් වහන්සේ උදය බමුණාගේ නිවසට දින 3 ක්ම පිට පිටම වැඩි සේක. එවිට බමුණා මෙසේ සිතීය. රසයට ගිජු වූ මහණ පුන පුනා ඒ. බුදු රජුන් මේ පුන පුනා යන වචනයම මුල් කර දම් දෙසීය. බමුණා දිවි හිමියෙන් සරණ ගිය උපාසකයෙක් විය.

**දේවහිත සූත්‍රය - 312 පිටුව**

බුදු පියාණන් වහන්සේට එක් කලෙක වාතාබාධයක් උපන්නේය. සත්කාර කළ උපවාන තෙරුන්ට බුදු රජුන් උණු දිය ලැබෙන මගක් දනුවයි දෙසීය. උපවාන තෙරුන් දේවහිත බමුණු හමු වී ඒ බව පැවසූ විට, උණු දිය කඳක් සහ සකුරු පිඬක්ද, උණු දිය ගෙනයන්ට දූතයෙක්ද දුනි. පසුව බුදු රජුන් හමු වූ දේවහිත බමුණා දානය දිය යුතු උතුමන් ගැන ඇසූ විට දෙසූ ධර්මයට පැහැදී සදහටම උවසුවෙක් විය.

**මහාසාල සූත්‍රය - 314 පිටුව**

දරුවන් සිවු දෙනෙක් භාර්යාවන්ගේ කීම පිට වයසක පිය මහසලුන් (මහළු පියා) නිවෙස්වලින් පන්නා දැමීය. සිඟමනෙන් දිවි ගෙවන මොහු බුදු රජුන් හමු වූ කලෙක උන්වහන්සේ ඉගැන්වූ ගාථා 4 ක් තම පුතුන් ඉඳගත් සභාවක කීය. දරුවන් මොහුව ගෙන ගොස් නහවා වස්ත්‍ර යුග්ම 2 ක්ද පිදීය. ගුරු පඬුරු ලෙස ඒ වස්ත්‍ර යුග්මයක් බමුණා (මහළු පියා) බුදු රජුන්ටද පිදීය. බමුණාද දිවි ඇතිතුරු උපාසකයෙක් විය.

**මානත්ථද්ධ සූත්‍රය - 316 පිටුව**

මානත්ථද්ධ බමුණා මව්පිය වැඩිහිටි කිසිවෙකුට නොවඳී. බුදුන් වැඩිය කලෙක තමන් පළමුව කතා නොකරන බවත්, පළමුව බුදුන්ම කතා කළොත් කතා කරන බවත් කියමින් බුදු රජුන් ළඟ හුන්නේය. උන්වහන්සේද කතා නොකළේය. කිසිත් නොදත් මහණෙකැයි සිතා යන්ට හදන විට බුදු රජුන් ඔහුට, මානයෙන් තද නොවී ඇසිය යුත්තක් ඇත්නම් අසවයි කීය. තම සිත දත් බව තේරුම් ගත් බමුණා බුදු පාමුල වැඳ වැටී පා සිඹිමින් නමදින්ට විය. සැමට පුදුම හිතුනි. බමුණා දිවි හිමියෙන් සරණ ගිය උපාසකයෙක් විය.

**පච්චනීක සූත්‍රය - 320 පිටුව**

පච්චනීකසාත නම් බමුණෙක් බුදු රජුන් දෙසන දෙසන දහමට විරුද්ධව කතා කරමියි සිතා උන්වහන්සේ සක්මන් කරන විට ගොස් සක්මන් කරමින්, ශ්‍රමණය දහම් දෙසවයි කීය. **අප්‍රසාද සිතද බද්ධ වෛරයද සාරම්භයද (එකට එක කරන ගතිය) බහුල පුද්ගලයාට සුභාසිත දහම දැනගත නොහැකි යැයි** දෙසූ විට, කරුණු තේරුම් ගත් බමුණා පැහැදී බෞද්ධයෙක් විය.

**නවකම්මික සූත්‍රය - 320 පිටුව**

කර්මාන්ත කරන නවකම්මික භාරද්වාජ බමුණු, සල් රුකක් මුල වැඩහුන් බුදුන් දැක, තමන් මේ කැලයේ කර්මාන්ත කරමින් ප්‍රයෝජනයක් ලබන බවත්, මහණ ගෞතමයන් කෙබඳු ප්‍රයෝජනයක් ලබමින් මෙහි සිටී දැයි සිතා ගොස් මෙසේ ඇසීය. මහණ, ඔබ වහන්සේ කුමන ප්‍රයෝජනයක් සඳහා මේ වනයෙහි සිටින්නේද? ඇලුම් කරන්නේද? බමුණ මට වනයෙහි කටයුත්තක් නැත, කෙළෙස් වනය මුල් සුන් කර කටු පහ කර කෙළෙස් හුල් පහ කර එකලාව වෙසෙමියි කී විට, බමුණු තෙමේ පැහැදී බෞද්ධයෙක් විය.

**කට්ඨහාර සූත්‍රය - 322 පිටුව**

භාරද්වාජ ගෝත්‍ර බමුණෙකුගේ අතවැසි පිරිස දර ගෙන ඒමට මහ කැලයට ගිය විට, එක් ගසක් මුල වැඩහුන් බුදු රජුන් දැක බමුණු ගෙට ගොස් ඒ බමුණු වෙත, ශ්‍රමණයෙක් කැලෑවේ තනිව විවේකව ගසක් මුල හිඳින බව කීය. බමුණා අතවැසියන් සමග එහි ගොස් විස්තර අසා බුදු රජුන්ගේ දේශනාවට පැහැදී බෞද්ධයෙක් විය.

**මාතුපෝසක සූත්‍රය - 324 පිටුව**

බුදු පියාණන් වහන්සේ හමු වූ මාතුපෝසක බමුණා, තමන් දැහැමින් භික්ෂාව (ආහාර) සොයා මව්පියන් පෝෂණය කරමියි කියා කළ යුතු කිස කරමිදැයි (කරන්න තියෙන කටයුතු) ඇසීය. එය අනුමත කළ බුදු රජුන් ප්‍රසංසා කළේය. බමුණා බෞද්ධයෙක් විය.

**භික්ඛක සූත්‍රය - 326 පිටුව**

භික්ඛක නම් බමුණා තමාත් හිඟමනින් ජීවත් වන හෙයින් භික්‍ෂුවක් යැයි බුදු රජුන්ට කී විට, හිඟා කෑ පමණින් භික්‍ෂුවක් නොවේ, යමෙක් පාප කර්ම සමාදන්ව සිටීද ඒ තාක් භික්‍ෂු නොවේ, **මේ සස්නෙහි යමෙක් පිනද පවද බැහැර කොට බ්‍රහ්මචාරී වේද භික්‍ෂු නම් වේ** යැයි දෙසූ විට බමුණා සතුටුව බෞද්ධයෙක් විය.

**සංගාරව සූත්‍රය - 326 පිටුව**

ජලයෙන් පිරිසිදු බව පතන සංගාරව බමුණා ගැන ආනන්ද හිමියන් බුදු රජුන්ට කී විට, බුදු රජුන් සංගාරව බමුණු ගෙදරට වැඩියහ. බමුණාගෙන් ජල සුද්ධිය විචාළේය. උදේ පව් සවසත්, සවස පව් ඊළග උදයෙත් සෝදා හරින බව බමුණා කීය.

බුදු රජුන් :- වේදයේ පරතෙරට ගිය ආර්යෝ නොතෙත් සිරුරු ඇති නෑමෙන් (කෙළෙස්වලින් තෙත් නොවූ) නිවන් පරතෙරට යාද, ධර්මය තෙමේ සිල් නමැති තොටුපොළ ඇති උතුමන් පසස්නා ජලාසයකැයි දේශනා කළ විට බමුණා පැහැදී බෞද්ධයෙක් විය.

**ඛෝමදුස්ස සූත්‍රය - 328 පිටුව**

ඛෝමදුස්ස ගමේ බමුණු වැසියන් සභා ශාලාවකට එක් විය. පොද වැස්සක්ද වට. බුදු රජුන්ද එහි වඩිනු දුටු එම බමුණෝ, සභා ධර්මය නොදත් මුඩු මහණයි නින්දා කළේය.

බුදු රජුන් :- **යම් තැනක සත්පුරිසයෝ නැත්ද එතැන සභාවක් නොවන බවත්, ධර්මය නොකියන්නේ සත්පුරිස නොවන බවත්, රාග ද්වේශ මෝහ දුරු කර දේශනා කරන්නෝම සත්පුරිස බවත් වදාරන ලදී.** බමුණු ගැහැවියෝ සතුටුව බොදුනුවන් විය.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පොතපතින් ඔබ්බට...

## 01 කොටස



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගෙන් හෙළ බොදු පියුම දහම් සඟරාවට විවිධ මාතෘකා ඔස්සේ කරුණු ලබාගැනීමේදී, ප්‍රධාන කාරණාවලට අමතරව තවත් කුඩා අතුරු කාරණා ඔස්සේ යොමු කළ ගැටළුවලට, උන්වහන්සේ විසින් අතිරේක වශයෙන් ලබාදුන් වටිනා කෙටි පිළිතුරු සියලු පින්වතුන්ගේ මෙළොව, පරලොව, නිවන් අභිවෘද්ධිය උදෙසා මේ විදිහට සටහන් කරනවා.

උන්වහන්සේ විසින් කරන ලද මේ සමහර විග්‍රහයන් බොහෝ කොටම පොත් පත්වල සඳහන් නොවෙන්න පුළුවන්. නමුත් කෙනෙක්ගෙ නැණ නුවණට ගෝචර වෙන විදිහට, දහමට අනුකූලව ඒ විග්‍රහයන් දේශනා වෙලා තියෙනවා. ලෝකෝත්තර දහම විතරක් නෙවෙයි, මෙළොව වශයෙන් වටිනා ලෞකික දහම් කාරණා පවා යටපත් වෙලා තියෙන මේ වගේ යුගයක ඒ විග්‍රහයන් බොහොම වටිනවා. හුදෙක් අන්ධානුකරණයෙන් තොරව යහපත් පැත්තට මනුස්සයෙක් හිතන්න පොලඹවනවා. බුදු දහම කියන්නෙ කොහොමත් පොත පතට සීමා වෙච්ච දහමක් නෙවෙයි. තම තම නැණ පමණින් තේරුම් ගත යුතු, තම තම නැණ පමණින් දෙසිය යුතු දහමක්. නැණ නුවණ කියන කාරණය පුද්ගලත්වය අනුව විවිධාකාරයි. යමකින් මේ ලෝකයේ යථාර්ථය වටහාගෙන භව ගමන කෙළවර කරගන්නත්, එතෙක් මෙළොව පරලොව වශයෙන් අභිවෘද්ධිය ලබාගන්නත් උපකාර වෙනවනම්, පොත පතේ තිබුණත් නැතත් ඒ කාරණා තමන්ගෙ නැණ පමණින් තේරුම් ගැනීමයි වැදගත්.

### යොදුන හැදුන හැටි

"අනමතග්ගෝයං භික්ඛවේ සංසාරෝ පුබ්බා කෝටි න පඤ්ඤායති." දැනට මේ පෙළ දහම් වැකියට අරුත් දෙන්නෙ, සංසාරයේ අගක් නෑ, මුල් කෙළවර පේන්නෙ නෑ කියල. හැබැයි එහෙම කිව්වම ධර්මයට ගැලපෙන්නෙ නෑ. මොකද එතකොට ලොව්තුරා බුදුන් වහන්සේගේ සර්වඥතා ඥානයටත් සියල්ල පේන්නෙ නෑ කියල නොදැනුවත්ව හරි වැරදි අර්ථ දැක්වීමක් එනවා. එතකොට ඒක අඩුවක්. නමුත් සර්වඥතා ඥානය කිව්වම අහු නොවෙන දෙයක් නෑ. ඒ අදහස වචනයේම ගැබ් වෙලා තියෙනවා. අපිට පේන්නෙ නැති එක වෙනම කාරණයක්. නමුත් සර්වඥතා, අනාවරණ... ආදී ෂඩ් අසාධාරණ ඥානයන්ගෙන් හෙබි ලොව්තුරා බුදුවරයන් වහන්සේ නමකට අනන්ත සංසාරයේ නොපෙනෙන දෙයක් නෑ. ඒ නිසා මේ කාරණය තෝරා ගත යුතුයි.

කෝටි කියන වචනය අද ගන්නෙ සංඛ්‍යාවලින්. වර්තමානයේ හැටියට එකයි බිංදු හතක් (10,000,000) තමයි කෝටිය කියන්නෙ. හැබැයි මේ කියන්නෙ ඒ වගේ සංඛ්‍යාත්මක අගයක් නෙවෙයි. කෝටි කියන්නෙ කෙළවර. පුබ්බා කෝටි කියන්නෙ මුල් (පෙර) කෙළවර. අවිද්‍යා පච්චයා සංඛාරා... කිව්වම සංසාරයේ මුල තමයි අවිද්‍යාව. මුල් කෙළවර අවිද්‍යාව නිසා ප්‍රඥාව නෑ, ඒ නිසා අග අමෘතය හෙවත් නිවන නෑ. අවිද්‍යාවෙන් පටන් ගත්තු නිසයි අග නිවන නැත්තෙ. එතකොට ජරා මරණ සෝක පරිදේව... වලින් කෙළවර වෙනව මිසක් අග නිවන නෑ (න+අමත+අග්ගෝ). ඒකයි මේ පෙළ දහම් වැකියේ කෙටි අර්ථය. මෙතැනදි කෝටි කියන්නෙ කෙළවර මිසක් සංඛ්‍යාවක් නෙවෙයි. අද සංසාරයේ අග මුල තෝරන්න මේ පෙළ දහම් වැකිය යොදා ගත්තට, මේ කියන්නෙ අවිද්‍යා මූල පටිච්ච සමුප්පාද චක්‍රය. මේ පෙන්වන්නෙ පටිච්ච සමුප්පාදයේ චක්‍ර මාත්‍රයක්. අවිද්‍යා පච්චයා සංඛාරා කිව්වම අග නිවන නෑ.

සාමාන්‍යයෙන් දුප්පත් මනුස්සයෙක් කතා කරනකොට රුපියල් 10, 20, 50, 100 වගේ ගණන්වලින් තමයි කතා කරන්නෙ. මධ්‍යම පන්තියේ කෙනෙක් නම් රුපියල් 1000, 2000, 5000, 10000 සමහරවිට 100000 වගේ මට්ටම්වලින් කතා කරනවා. ඉහළ පැලැන්තියේ කෝටිපතියෙක් ගත්තොත් කෝටිපතියන් අතර රුපියල් මිලියන ගණන්, කෝටි ගණන්වලින් කතා කරනවා. ඒ වගේ තමයි මේ කියන ගණන් හිලව්වල, මිම්වල විවිධ අරුත් තියෙනවා. අවශ්‍යතාවය අනුව, ඒ අවස්ථාවෙදි තියෙන තත්ත්වය අනුව, ඒ ඒ අය ඒ ඒ කාලවලදි ඒ ඒ මට්ටමින් ගණන් මිම් හදාගන්නවා. ඊට පස්සෙ ඒවා දිගටම සම්මත වෙලා කාලයක් තිස්සේ පවතිනවා.

එතකොට යොදුන කියන වචනය හැදිච්ච ක්‍රම තියෙනවා. යෞ (යොවු) + දුනු + එක තමයි යොදුනු එක – යොදුන් එක වෙලා තියෙන්නෙ. ඒ තමයි නිරුක්තිය. යෞ/යොවු කියන්නෙ යෞවනයෙක් (යොවුනයෙක්) හෙවත් තරුණයෙක්. ඒ වගේ යෞවනයෙක් විදින්න ගන්නා දුන්නක යම්කිසි දිග ප්‍රමාණයක් තියෙනවනම් ඒක තමයි යොදුන කියන වචනයේ එක අරුතක්. ඒ වගේම යෞවනයෙක් දුන්නක් ›

අරගෙන ඊතලයකින් විද්දොත්, ඒ ඊතලය ගිහින් වැටෙන දුර ප්‍රමාණය කොච්චරද ඒකත් යොදුනක්. ඒ තමයි තවත් අර්ථයක්. එදා යොදුන කියන එකේ තත්ත්වය තමයි ඒ. අද හැතැප්ම හතරක් ගව් එකයි, ගව් හතරක් යොදුන් එකයි... ආදී වශයෙන් මනින චක්‍රයක් තියෙනවා. හැබැයි ඒ චක්‍රය අනුව අපි යොදුන මනින්න ගියොත් මහා විසාල දුරක් එනවා.

එතකොට යොදුන කිව්වම විවිධ කාලවල තියෙන සම්මත තමයි තියෙන්නෙ. ඒ නිසා යොදුනක් කියන්නෙ කොච්චර දුරක්ද කියල අපිට හරියටම නිගමනය කරන්න බෑ. දැන් කෙනෙක් කිව්වොත්, තිස් යොදුන් මග ගෙවාගෙන ආවා කියල, යොදුන් තිහක් කිව්වම සමහරවිට අල්ලපු ගෙදරට යන්නත් පුළුවන්. එහෙම නැත්නම් අල්ලපු ගමට ගිහින් එන්නත් පුළුවන්. තිස් යොදුනක් කිව්වම අද කාලෙ හැටියට අපි හිතමු යාර හැටක් කියල. එතකොට යාර හැටක් දුර ගෙවාගෙන ගියානම්, තිස් යොදුනක් දුර ගෙවාගෙන ගියා කියනවා. එහෙම ගන්නත් පුළුවන්.

තව එකක් තමයි අද සාමාන්‍ය පුද්ගලයෙක් දුන්නකින් ඊතලයක් විද්දම යාර 25-30 ක් විතර දුර ප්‍රමාණයක් යනවා. එතකොට තිස් යොදුනක් කිව්වම අද ඒ වගේ දුර ප්‍රමාණයක් වැටෙනවා. හැතැප්මක් දෙකක් දුර ගමනක් ගිහින් ආවමත් තිස් යොදුන් මග ගෙවාගෙන ආව කියල කියන්න පුළුවන්. නමුත් අද කියන තිස් යොදුන ගත්තොත් එහෙම, හැතැප්ම දාසයේ ඒවා තිහක්. මහ විසාල දුරක්. අද සාමාන්‍ය කෙනෙකුට පයින් යන්න පුළුවන් දුරක් නෙවෙයි. හැබැයි එදා තිස් යොදුන් දුර ගෙවාගෙන ආව කියල සඳහන් වෙනවා. එතකොට අද අපි මනින මිමි සියල්ල වෙනස් වෙලා. විවිධ කාලවල මිනිස්සුන්ගෙ විවිධ උස මහත ප්‍රමාණයන් තියෙනවා. මෛත්‍රී බුදුන් වහන්සේ පහළ වෙනකොට සාමාන්‍ය මනුස්සයෙක්ගෙ උස රියන් දහ අටක් කියල කියනවා. කාලයකදි අඩි 50 ක් 60 ක් උස මිනිස්සු හිටියනම් එහෙම, දුන්නත් ඒ වගේ උසයි. මනුස්සයගෙ උසට දුන්නත් උසයි. ඒ නිසා යොදුන කියන එක මෙච්චරයි කියල සීමා කරන්න බෑ. ඒ ඒ කාලවලදි වෙනස් වෙනවා. එතකොට මේ වචනවල විවිධ අර්ථ තියෙනවා. ඒවා ඒ ඒ අවස්ථාවන්ට අනුකූලවයි යොදාගන්න ඕන.

## බුදුන් වහන්සේ දෙසූ නිවනින් කෙළවර කරන සක්මන

සක්මන - සක් කියන්නෙ සුද්ධතාවය. මන කියන්නෙ මනස. මනස සුද්ධ කරන වැඩපිළිවෙලක්. සුද්ධ මනසක් ඇති කරන ක්‍රමවේදයක්. හැබැයි සක්මන් කරනව කියල නිකන් ඇවිද්දට හරියන්නෙ නෑ. නිකන් ඇවිදින එක ඇවිදීමක් විතරයි.

සුබ විහරණය කියන එක ඇත්ත වශයෙන්ම සමාධියට අවශ්‍යයි. සුබය සමාධියත්, සමාධිය යථාභූත ඥාන දර්ශනයත්.... මෙහෙම ලබාදෙන ක්‍රමයක් තියෙනවා. එතැනදි කායික මානසික සුබ දෙකම තියෙනවා. ඒ දෙකම අවශ්‍යයි. එකම ඉරියව්වකින් එකම විදිහට ඉන්නකොට වේදනා සහිතයි. එතකොට මේ කය තියාගන්න ඉරියව් හතරක් දීල තියෙන්නෙ ඒකට. ඉඳගැනීම, හිටගැනීම, නිදාගැනීම, ගමන් කිරීම කියන මේ ක්‍රම හතරෙන් කෝක හරි ගැලපෙන එක ගත යුතුයි. යමකින් ඒ අවස්ථාවෙදි ප්‍රයෝජන නම් ඒ ක්‍රමය අනුගමනය කරන්න ඕන.

අපි හිතමු යම් කිසි මනුස්සයෙකුට ඇවිද්දොත් එහෙම උකුල් ඇටවල යම් කිසි විදිහක ගෙවීමක් එනව කියල. මොකක් හරි හේතුවකින් ඒ මනුස්සයගෙ උකුල් ඇට ගෙවිල තුවාල වෙලා තියෙනවා. දැන් ඇවිදගෙන යනකොට තුවාලය වැඩි වෙනව නම් ඒ පුද්ගලයට ඇවිදීම හරියන්නෙ නෑ. එතකොට ඒ පුද්ගලයා ඉඳගෙන ඉන්න ඕන. ඉතින් ඉඳගෙන ඉන්නකොටත් කොන්දෙ අමාරුවක් තියෙනව නම්, නිදාගෙන ඉන්න පුළුවන්. ඒ විදිහට අවස්ථාව බලාගෙන ඉරියව් මාරු කරන්න ඕන. ඒ ඉරියව් නෙවෙයි මේ නිවන් දක්වන්නෙ. ශ්‍රාවකයන් වහන්සේලා හතර ඉරියව්වෙන්ම නිවන් දැකල තියෙනවා. ඒ නිසා එකම ඉරියව්ව කියල දෙයක් නෑ. හැබැයි **නිරෝගී පුද්ගලයෙකුට සක්මන් භාවනාවෙන් ලැබෙන ප්‍රතිඵල කියල තියෙනවා. නිදිමත නැති වෙනවා. හොඳින් ආහාර දිරවනවා. ශරීරයට ව්‍යායාමයක් සිද්ධ වෙනවා. ඒ වගේම සක්මනින් කරන්නා වූ සමාධිය බොහෝ කල් පවතිනවා.** ඒ වගේ කාරණා කිහිපයක් තියෙනවා. ඒ කියන කාරණා නිවන නෙවෙයි. නමුත් නිවනට උපනිශ්‍රය වන කරුණු. නිවනට උපනිශ්‍රය වන නිසා සක්මන් භාවනාවට බොහෝ අය ප්‍රිය කරනවා. මේ තමයි එක ක්‍රමයක්.

අනෙක් ක්‍රමය තමයි නාම රූප බෙදි බෙදී යන ආකාරය දැක්කොත්, සාරත්වයෙන් ගත යුතු එකාකාර සත්ත්වයෙක් / පුද්ගලයෙක් නෙවෙයි මේ ක්‍රියාත්මක වෙන්නෙ, නාම රූප පද්ධතියක් කියන කාරණයත් නිවන් දකින එක්තරා ක්‍රමයක්. ඒකෙත් සක්මන් භාවනාවක් තියෙනවා. එක තැන ඉන්නකොට හුස්ම ගැනීමෙදිත්, පිටකිරීමෙදිත් ඒ කාරණය දකින්න පුළුවන්. එතැනදි හුස්ම ගන්නකොට ඒ ගැන හිතනවා. ටිකක් වෙලා ඉන්නකොට තමයි දැනෙන්නෙ, අපි හිත හිතානෙ හුස්ම ගන්නෙ, යම් කිසි විදිහකින් ඒක අමතක කරලනෙ ඉන්නෙ කියල. අපි ඒක හිතට බාර දීල ආවර්ජනය කිරීම අමතක කරල තියෙනවා. ඒ නිසා අපිට හිතල හුස්ම ගන්නවද නැත්ද කියල තේරෙන්නෙ නෑ. **නමුත් අපි හරියට ආවර්ජනය කළොත්, මේ හිතලම නේද හුස්ම ගන්නෙ? වේදනාව එනවට ප්‍රතිකර්මයක් නේද මේ කරන්නෙ? ඒ වේදනාවට ගන්න පිළියම අපිට සැනසිල්ල ලබාදෙනව වගේ පෙන්නුවට, ඒත් එක්කම අනික් අතට දුකක් දෙනව නේද? ඒක දුකට මගක් වෙලා මිසක් සැනසුමට මගක් වෙලා නෑ නේද? ඒ නිසානෙ අපි සැනසිල්ලක් ලබාගන්න හුස්ම පිටකළේ. හුස්ම පිටකළේ සැනසුමක් හොයාගෙනනෙ. නමුත් ඒකත් වේදනාවට මගක් වුනා මිසක් නිවීමට මගක් වුනේ නෑ. ඒ නිසා නේද ආයෙත් වෙහෙස වෙලා හුස්ම ගන්න සිද්ධ වුනේ.** අපි මෙතැන සංඛාර දුක්ඛයක් විඳිනවනෙ. ඒ සංඛාර දුක්ඛය ගොඩනගපු එකෙන් අන්තිමට දුක්ඛ දුක්ඛයක් දෙනවනේ. එතකොට ඒක විනාසයට පත්වෙලා අපි බලාපොරොත්තු වෙච්ච සැනසුම බිඳිල ගියාට පස්සෙ විපරිනාම දුක්ඛයකුත් එනවනේ. මේ දුක් තුන නේද මෙතැන එන්නෙ කියල ඒක දකිනවා. ප්‍රඥාවෙන් ඒක විමර්ශනය කළාම ඒකත් විදර්ශනාවක්.

සක්මන් කරනකොටත් කකුල උස්සනවා, ගෙනියනවා, තියනවා. දැන් මේ ක්‍රියාව කරනකොටත්, ඇයි මම මේ මොකටද කරන්නෙ කියල දකින්න ඕන. අපි එක තැන ඉන්නකොට කැක්කුමයි. දැන් අපි යනවා. එතකොට අර ක්‍රියාවලිය කරනවා. මේ ක්‍රියාවලිය කරනකොට අපිට එක දෙයක් තේරෙනවා. අපිට සත්ත්වයෙක් එනවා, සත්ත්වයෙක් යනවා... ආදී වශයෙන් දෘෂ්ඨීයක් තියෙනකොට සන සංඥාවක් එනවා. මේ සන සංඥාවේ ඉන්නතාක් කල් යථාර්ථය තෝරගන්න බෑ. ලෝකය හරයක් තියෙන දෙයක් කියල හිතනවා. නැති දෙයක් තියෙනව කියල හිතනවා. නමුත් මේ තියෙන්නෙ මෙන්න මෙහෙම ක්‍රියාවලියක් විතරයි කියල දකිනකොට ඒ සන සංඥාව නැති වෙනවා, බිඳිල යනවා. මේ සිද්ධ වෙන්නෙ හේතුඵල ක්‍රියාවලියක් බව දකිනවා. එතකොට සන සංඥාව බිඳෙනවා. සන සංඥාව බිඳෙන කොට "ඇත" කියන දෘෂ්ඨීය බිඳෙනවා. ඒ වගේම නැවත ගොඩනැගෙන


හීන්තඹල


බටකිරිල්ල


වසතැල්


පත්පාඩගම්

# වස විස ආහාරවලට එරෙහි විකල්ප 22

දුර්ලභව ලැබූ මනුස්ස අත්බවය වස විස ආදී ප්‍රයෝග විපත්තිවලින් විනාස වෙන්න ඉඩ නොදී ආරක්‍ෂා කර ගැනීමේ අරමුණින්, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ද්‍රව්‍ය පදාර්ථ ඥානයෙන් සහ බෙහෙත් සමාධියෙන් මතු කර දුන් කරුණු කාරණාත් ඇසුරු කරගෙන, වර්තමාන සමාජයේ ඔඩුදුවා තියෙන වස විස ආහාර හමුවේ ඊට විකල්ප වශයෙන් භාවිතා කරන්න පුළුවන් තවත් වටිනා ස්වභාවික දේශීය ආහාර වර්ග කිහිපයක් සියලු ජනයාගේ යහපත පිණිස මෙවරත් සටහන් කරනවා.

**හීන්තඹල -** අධික සීත දේශගුණයක් තියෙන ප්‍රදේශවල හැර ලංකාව පුරාම දකින්න තියෙන, හෙළ වෙදකමේදී යොදා ගන්නා වටිනා ඖෂධීය ශාකයක්. මේවා අඩි 2 - 3 ක් විතර උසට පඳුරු ආකාරයට වැඩෙනවා. පත්‍ර ඉතා තද කොළ පාටයි. දළු ඉතා ළා කහ පාටට හුරු කොළ පැහැයෙන් යුක්තයි. හොඳ සමමිතික ස්වභාවයක් තියෙන පත්‍ර මැදින් ඇතුලට ගිලී ගිය ස්වභාවයක් තියෙනවා. කුඩා සුදු පාට මල් පරාගණය වුනාට පසු ගෙඩි හට ගන්නවා. තද කොළ පාට ගෙඩි ඉදීගෙන එනකොට ළා තැඹිලි පාටයි. ඉදුනු පසු රතු පාටයි. දං ගෙඩියකට වඩා ලොකු වෙන්නෙ නෑ.

අද වෙනකොට ලේනුන්, කුරුල්ලන් ආදී සතුන්ගේ ආහාරයට පමණක් සීමා වෙලා තිබුණත් ගෙඩි ඉදුනු පසු මනුස්ස පරිභෝජනයටත් සුදුසු ඉතා රසවත් පළතුරක්. අද නාගරිකව විසිතුරු මල් පැළ ආකාරයට වගා කළත් මේවායේ ඖෂධීය වටිනාකම ඉතා ඉහලයි. ස්නායු බල ගන්වනවා. ශීර්ෂ හා අක්‍ෂි රෝග සඳහා යොදා ගන්නවා. සෙම නසන ගුණයෙන් යුක්තයි. රක්ත උෂ්ණය නිසා හට ගන්නා රෝගාබාධ සමනයට උපකාරී වෙනවා. **අධික ඇස් දැවිල්ලට, ශරීරයේ පවතින අධික උෂ්ණයට හීන්තඹල ඇට තම්බගෙන එන ජලය පානය කිරීමෙන් ඒ තත්වයන් මග හරවා ගන්න පුළුවන්.**

ඊට අමතරව මේවායේ කොළ, දළු සාමාන්‍ය **කොළ කැඳක් ආකාරයට සකස් කරගෙන පානය කිරීමෙන් අධික ඉරුවාරදයට ක්‍ෂණික සහනයක් ලබා ගන්න පුළුවන්.** ඒ වගේම කොළ, දළු පළා සම්බෝලයක්, මැල්ලුමක් ආකාරයට සකස් කරගන්නත් පුළුවන්. හීන්තඹල ගෙඩිවල ඇට වියළා කුඩු කරගෙන තියාගෙන අතිරේක පානයක් වශයෙන් භාවිතයට ගැනීමෙන් ශරීරයේ උෂ්ණාධික බව පාලනය කරගන්න පුළුවන්.

**බටකිරිල්ල** - ගම්බද ගෙවතුවල වැට මායිම්, ඕවිට, බඩවැටිවල දකින්න තියෙන ස්වභාවිකව වැවෙන තරමක් විසාල ශාකයක්. බටදොඹ ශාකයට ඉතා සමීපයි. අධික සීතල සහ අධික වියළි කලාපවල දකින්න නෑ. තෙත් කලාපයේ බහුලයි. ළා කොළ පාටට හට ගන්නා ගෙඩි ඉදුනු පසු තද රතු පාටයි. ඉදුනු ගෙඩි ඉතා රසවත් පළතුරක්. පක්‍ෂීන්, වවුලන්, දඬු ලේනුන්, උගුඩුවන්... ආදී සතුන්ගේ ප්‍රියතම ආහාරයක්. ගම්බද ළමා ළපටින්ගෙත් රසවත් පළතුරක්. කුඩා කාලයේ සෙල්ලම් කරනකොට බට තුවක්කුවලට යොදා ගත්තෙ මේ බටකිරිල්ල ඇට සහ කොහු කිරිල්ල ගෙඩි.

›

හේතුඵල කියල දැනගත්තම "නැත" කියන දෘෂ්ඨියෙන් මිදෙනවා. ඇත-නැත යන දෘෂ්ඨි දෙකෙන් මිදුනට පස්සෙ දකිනවා, හේතු ඵල ක්‍රියාවලියක් නිසා සත්ත්වයෙක්/පුද්ගලයෙක් විද්‍යමාන වෙලා පේනවා කියන කාරණය. නමුත් ඒකාකාරව පේන සත්ත්වයෙක් ඇත්තෙත් නෑ. සත්ත්වයෙක් නෑ කියන්නෙත් නෑ. මොකද හේතු ඵල පරම්පරාවක් තියෙන නිසා. එහෙම දෙයක් විද්‍යමාන වෙන නිසා, සත්ත්වයෙක් කියල දෙයක් නෑ, පිං පව් කියල දෙයක් නෑ කියල දෘෂ්ඨියට බහින්නෙත් නෑ. හේතු ඵල පරම්පරාවක් ගොඩනැගි නැගී බිඳි බිඳී යන නිසා, ඒකාන්තයෙන් එහෙම දෙයක් තියෙනව කියල දකින්නෙත් නෑ.

එහෙනම් බිඳි බිඳී යාමෙන් පටිච්ච සමුප්පාද නිරෝධය දකිනවා. ක්‍රියාවලිය සිද්ධ කිරීමෙන් පටිච්ච සමුප්පාදය ගොඩනැගීම දකිනවා. ඒ පටිච්ච සමුප්පාදයේ ක්‍රියාවලි දෙක නේද මෙතැන මේ සිද්ධ වෙන්නෙ කියල ඒක දකිනකොට අර "ඇත-නැත" කියන දෘෂ්ඨි දෙක අත්හැරිල පටිච්ච සමුප්පාද මාධ්‍යයට වැටෙනවා. පටිච්ච සමුප්පාදය දකිනකොට ධර්මය දකිනවා. එහෙනම් මොකක්ද අල්ල ගන්න තියෙන්නෙ? මාත්‍රයක් හටගෙන බිඳිල යන ලෝක ධර්මතාවයක යමක් අල්ල ගන්න හැදුවොත් මොන තරම් මුලාවක්ද? ඒකත් ප්‍රඥාවන්තයා දහම් දකින ක්‍රමයක්. එහෙනම් දහම දැනගෙන සක්මන් කරනකොටත් මේ විදිහට මනස සුද්ධ වෙනවා.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

හෙළ වෙදකමේදී මලබද්ධය දුරු කරන්න බහුලව යොදා ගන්නවා. **අධිකව බඩ වේලිලා තියේනම් බටකිරිල්ල කොළ මිටක් කොටාගෙන ඒකට පොල් කිරි ටිකක් එකතු කරල මිරිකගෙන එන යූෂය පානය කිරීමෙන් ඒ තත්වය මග හරවා ගන්න පුළුවන්.** බට තුවක්කුවෙන් විද්ද වගේ කඩාගෙන බිඳගෙන අපද්‍රව්‍ය සුද්ධ වෙලා යනවා. පත්‍ර මෝරනකොට තද ගතියෙන් යුක්ත නිසා පත්‍ර ආහාරයට ගන්න බෑ. නමුත් දළු පළා සම්බෝලයක්, මැල්ලුමක්, සාමාන්‍ය කැඳක් ආකාරයට සකස් කරගෙන ආහාරයට ගන්න පුළුවන්. හැබැයි බඩ බුරුලෙන් යන අයට ඒ තරම් ගුණදායක නෑ.

**වසතැල්** - ලංකාව පුරාම දකින්න තියෙන ඉතා වටිනා ඖෂධීය ශාකයක්. දියමිත්ත වැලට ඉතා සමානයි. දුඹුරු පැහැයට හුරු වැලේ දිග නටුවකට කොළ සවි වෙලා තියෙනවා. රසකිඳ කොළ ආකාරයට පත්‍ර දකින්න පුළුවන්. නමුත් ඒ තරම් මාංශමය පත්‍ර නෑ. දිග නටුවකට සම්බන්ධ වෙලා පෙති 5 කින් යුක්ත අලංකාර මල් හට ගන්නවා. මලේ කෙමිය තද දම් පාටයි. ඒ මැද සුදු පාට මල් කීලය දකින්න පුළුවන්. හෙළ වෙදකමේදී සහමුලින්ම යොදා ගන්නවා. ආමාශගත වෙච්ච වස විසක් ඇත්නම් ඒවා බැහැර කරවන්නත්, ආමාශයේ, බඩවැලේ, කුඩා බඩවැලේ, අංගුලිකාවල ශ්ලේෂ්ම පටලවල සංකූලතා තියේ නම් ඒවා යථා තත්වයට පත් කරවන්නත් වසතැල් යොදා ගන්නවා. ඒ වගේම අක්‍රිය වෙච්ච ස්නායු බලගන්වල දත්ත සම්ප්‍රේෂණය සක්‍රීය කිරීමේ ගුණයෙන් යුක්තයි.

කුඩා කාලයේ රත කල්කය නොදීම නිසා හට ගන්නා ආමාශයේ ශ්ලේෂමල ඝන වීමෙන් නිසියාකාරව ආහාර ජීර්ණය නොවීම, සැරින් සැරේ බඩ විරේක වීම, මලබද්ධය... ආදී ස්වභාවයන් මග හරවා ගන්නත්, වස විස ශරීරගත වීම නිසා හට ගත් ආමාශයේ, බඩවැල් තුල ඇතිවන සංකූලතා මග හරවගන්නත් හෙළ වෙදකමේදී යොදා ගන්නවා. ඒ වගේම අධික ලෙස බඩ වේලිලා තියේනම් හෝ අධික ලෙස බඩ බුරුලට යනව නම් ඒ ස්වභාවයන් යථා තත්වයට පත් කරනවා. මහ බඩවැල තුල යම් යම් වස විස තැන්පත් වීම නිසා යම් කිසි අක්‍රියතාවයන් හට ගෙන තියේනම් ඒ වස විස ක්‍රමානුකූලව ශරීරයෙන් බැහැර කරවීමත් සිද්ධ කරනවා. ඒ වගේම යම් යම් කොඩිවින, බන්ධන, ඉනා... ආදිය කපා ඉවත් කරන ශාන්ති කර්මවලටත් යොදා ගන්නා වැල් විශේෂයක්.

වසතැල් කොළ සාමාන්‍ය පළා සම්බෝලයක්, මැල්ලුමක්, කැඳක් හෝ බැදුමක් වශයෙන් ආහාරයට එකතු කරගන්න පුළුවන්.

**පත්පාඩගම්** - නිරන්තරයෙන් සියලු තැන්වල අඟල් 8 - 12 ක් උසට ස්වභාවිකව වැඩෙන කුඩා පැළෑටියක්. ගැට තුඹ කොළයට සමාන ඉතා සිහින් පත්‍ර පුරුකෙන් පුරුකට සමමිතිකව පිහිටනවා. කුඩා සුදු පාට මල් සහ ඇට පොකුරු ආකාරයෙන් හට ගන්නවා. මේ පැළෑටිය පොළවෙන් ගැලෙව්වට පසු මුල් ඉතා තීව්‍ර සුවඳකින් යුක්තයි.

මේවා වර්ග 2 ක් තියෙනවා. අද බොහෝ දෙනෙක් දන්නෙ සිංහල බෙහෙත් බඩු වෙළඳසැල්වල තියෙන විදෙස් රටවලින් ගෙන්වන පත්පාඩගම්. දේශීය පත්පාඩගම් ගැන ඒ තරම් තැකීමක් නොකර වල් පැළෑටියක් වශයෙන් සළකල ඉවත දමනවා. දැක්ක තැන ගලවල ඉවත් කරනවා. නමුත් හෙළ වෙදකමට නැතිවම බැරි, වා පිත් සෙම් යන තුන් දොස් සමනය කරන, ප්‍රතිශක්තිකරණ පද්ධතිය සක්‍රිය කරන, සියලු අපද්‍රව්‍ය ශරීරයෙන් බැහැර කරවන, මහ බඩවැලේ 8 වන කොටස (බහිස්‍රාවීය පද්ධතිය) සක්‍රිය කරන ප්‍රබලම ඖෂධයක්.

ආම වාතය දුරු කිරීම, මාංශ පේශි අතර වාතය හිරවීමෙන් හට ගන්නා ඇවිලිලි ස්වභාවයන් මග හැරවීම, අනවශ්‍ය සෙම ඉවත් කිරීම, පිත ඇවිස්සීම නිසා හට ගන්නා සියලු රෝග සමනය කිරීම, ඇඟ දැවිල්ල, ඇස් දැවිල්ල, උෂ්ණාධික ආහාර ගැනීමෙන් හට ගන්නා සංකූලතා මග හැරවීම, බහිස්‍රාවී පද්ධතිය, ප්‍රතිශක්තිකරණ පද්ධතිය සක්‍රිය කිරීම පත්පාඩගම්වල ප්‍රධානතම ගුණයන් අතර වෙනවා.

**දෙයියන්ගෙ ලෙඩ කියල ගැමි ව්‍යවහාරයේ හඳුන්වන පැපොල, සරම්ප, කම්මුල්ගාය කියන රෝග හැඳුනම කොත්තමල්ලි කරවෙන්න බැදල අරගෙන ඒ හා සමාන බරට වේලිච්ච පත්පාඩගම් සහමුලින්ම එකතු කරල වතුර බෝතල් තුනහමාරක් දමා බෝතල් තුනකට බස්සවාගෙන පිපාසය සංසිඳෙනකල් පුළුවන් හැම අවස්ථාවකම පානය කරන්න. ඒ මගින් ප්‍රතිශක්තිකරණය වැඩි කරල තුවාල පැතිරීම, වැඩිවීම, වේදනාව අඩු වෙනවා. අනෙක් අයට බෝවීමත් අඩුවෙනවා. මල මූත්‍ර මගින් විස පිටවෙනවා.**

පත්පාඩගම් ඉතා රසවත් ආහාරයක්. සාමාන්‍ය පළා ව්‍යංජනයක් ආකාරයට හෝ පරිප්පු සමග නිවිති මාළුවක් සකස් කරන ආකාරයටත්, පළා සම්බෝලයක්, පළා මැල්ලුමක් හෝ කැඳක් ආකාරයටත් සකස් කරල ආහාරයට එකතු කරගන්න පුළුවන්. එහෙම නැත්නම් ගහ සහමුලින්ම වේළල කුඩු කරල තියාගෙන අතිරේක පානයක් වශයෙන් තේ වෙනුවට භාවිතා කරන්නත් පුළුවන්.

**හීන් මදුවැල් -** අධික සීත කලාපයේ හැර ලංකාවේ අනෙක් සියලු තැන්වල වැවෙන රතු පාටට හුරු දුඹුරු පාට වැල් විශේෂයක්. කිරි මදුවැල්වලට සමාන පත්‍ර පිහිටනවා. ළා කහ පාට මල් පොහොට්ටු හට ගන්නවා. කෙමිය රතු පාටයි. මැද කීලය සුදු පාටයි. මල් පිපුනු පසු පෙති 5 කින් යුක්තයි. මල පරාගණය වුනාට පසු කොළ පාට ගෙඩි හට ගන්නවා. ගෙඩි මේරුවට පසු දුඹුරු පාටයි. මේ ගෙඩි පුපුරල ගිහින් එයින් වැටෙන ඇටවලින් ව්‍යාප්තිය සිද්ධ වෙනවා.

හෙළ වෙදකම තුල සුවිශේෂීය තැනක් හිමි වෙනවා. රුධිර නාළවල අවහිරතා මග හැරවීම, ස්නේහස්‍රාවී ග්‍රන්ථි උද්දීපනය කිරීම, කොලෙස්ටරෝල් ඇත්නම් ඒවා ක්‍රමානුකූලව ශරීරයෙන් බැහැර කරවීම, කිරි මව්වරුන්ගේ කිරි ප්‍රමාණය වැඩි කිරීම මේ මගින් සිදු කරනවා. අද දරුවන් ලබපු බොහෝ මව්වරුන්ට තියෙන ප්‍රධාන ගැටළුවක් තමයි දරුවාට අවශ්‍ය ප්‍රමාණයට කිරි එරෙන්නෙ නැති වීම. මේ හීන් මදුවැල් ආහාරයට එකතු කර ගැනීමෙන් ඒ දුබලතාවය මග හරවා ගන්න පුළුවන්.

ඒ වගේම **නහර ගැට ගැසුනු රෝගීන්ගේ ඒ තත්වය ක්‍රමානුකූලව මග හරවා ගන්නත් හීන් මදුවැල් ආහාරයට එකතු කර ගැනීමෙන් පුළුවන්. රුධිර නාළවල අවහිරතා තියෙන රෝගීන්ටත් මේවා ආහාරයට එකතු කර ගැනීම ඉතා ගුණදායකයි.** හදිසි අනතුරු නිසා ඇති වූ තැලීම් ආදියටත්, අධික මහන්සිය නිසා ඇතිවන ඇඟේ පතේ අමාරුවලටත් ගුණදායකයි. ඒ වගේ අවස්ථාවල හීන් මදුවැල් කැඳක් වශයෙන් සකස් කරගෙන පානය කිරීම සුදුසුයි.

හීන් මදුවැල්වල සුදු පාට කිරි තියෙනවා. **දල්ල කැඩුවට පසු එයින් කිරි වැහෙනවා. ඒ කිරි නහර ගැට ගැසුනු තැන්වල ගැල්වීමෙන් ක්‍රමානුකූලව ඒ තත්වය සුව කරගන්න පුළුවන්.** සාමාන්‍ය පළා ව්‍යංජනයක්, මැල්ලුමක්, පළා සම්බෝලයක් වශයෙන් සකස් කරගෙන ආහාරයට එකතු කර ගන්නත් පුළුවන්.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**



# දත්වල කහට පැල්ලම් ඉවත් කිරීමට පහසු ස්වභාවික ක්‍රමයක්

බුලත්විට හපන සමහර උදවිය විට හැපීමෙන් පසු හරියට දත් නොමැදීම නිසා කාලයක් යනකොට දත් අවපැහැ ගැන්විලා සමහරවිට අතරින් පතර දත්වල කහට පැල්ලම් හැදෙනවා. ඒ වගේම බුලත්විට හපන්නෙ නැති සමහර අයගෙත් විවිධ හේතු නිසා දත්වල පැල්ලම් ඇතිවෙලා අවපැහැ ගැන්විච්ච අවස්ථා තියෙනවා. මේ වගේ අවස්ථාවක ඉතා පහසුවෙන්, කිසි වියදමක් නැතිව ඒ තත්ත්වය මගහරවා ගන්න පුළුවන් ස්වභාවික ක්‍රමයක් වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් මතුකරල දීල තියෙනවා.

හැබැයි මේ ක්‍රමය විශේෂයෙන් හඳුන්වා දුන්නෙ බුලත්විට හපන අයට වුනත්, අනික් අයටත් මේ ක්‍රමවේදය හරිගිය බවට අත්දැකීම් ලැබිල තියෙනවා. මෙතැනදි බුලත්විට කටේ තියෙන ගමන්ම පුවක් ලෙල්ලක් අරගෙන ඒකෙන් ටික වෙලාවක් දත් ටික මදිනකොට බලා ඉදෙද්දිම ඒ පැල්ලම් සහ අවපැහැ ගැන්වීම් ඉවත් වෙලා දත් ටික සුදු වෙනවා. දත් බෙහෙත් පාවිච්චි කරල දත් බුරුසුවකින් කොතරම් හොඳින් මැද්දත් ඉවත් නොවෙන පැල්ලම් එක වතාවෙන්ම ඉවත් වෙලා යනවා. මේ සඳහා සාමාන්‍යයෙන් ඉදිච්ච පුවක් ලෙල්ලක් යොදා ගන්න පුළුවන් නම් වඩාත් සාර්ථකයි. එහෙම නැති වුනොත් අමු හෝ වේලිච්ච පුවක් ලෙල්ලක් යොදා ගන්නත් පුළුවන්. ඒ වගේම මේ ක්‍රමවේදය බුලත්විට කටේ නොතිබෙද්දි, නිකං අවස්ථාවල අනුගමනය කරලත් හරිගිය අවස්ථා අත්දකින්න තියෙනවා. ඒ නිසා මේ සුදුසු විදිහකට ඒ ක්‍රමවේදය අත්හදා බලන්න පුළුවන්. කිසිම වියදමක්, අතුරු ආබාධයක් නැති නිසා හරි නොගිය කියලත් අපතෙ යන දෙයක් නෑ. ඒ නිසා හැමෝටම පහසුවෙන් අත්හදා බලන්න පුළුවන්.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

---

# ජලනන්දන අලගුව සම්බන්ධයෙන් තවත් පැහැදිලි කිරීමක්...

හෙළ බොදු පියුම පසුගිය 94 කලාපය යටතේ "වස විස ආහාරවලට එරෙහි විකල්ප" නම් ලිපියෙන් කළුකැම්මේරිය යොදාගෙන ජලනන්දන අලගුව භාවිතා කිරීමෙන් බන්ධන කපන ක්‍රමයක් හඳුන්වා දුන්නා. නමුත් එහිදී විශේෂයෙන් සැලකිලිමත් විය යුතු කාරණයක් තියෙනවා. ජලනන්දන අලගුවේ "සර්ව බන්ධන ඡේදනා" කියල සඳහන්වන කොටසකුත් තියෙනවා. සර්ව බන්ධන කිව්වම ලෞකික වශයෙන් නරක වගේම හොඳ බන්ධනත් තියෙනවා. ඒ නිසා ඒ සියල්ලම කැපිල ඡේදනය වෙලා යන්න පුළුවන්. සමහරවිට කෙනෙක්ගෙ කරට අපල උපද්‍රව දුරු වෙන්න ජීවම් යන්ත්‍රයක් වගේ ආරක්ෂාවක් යොදල තියෙන අවස්ථාවක, ඒ යන්ත්‍රයක් පැළඳගෙන මේ ජලනන්දන අලගුවෙන් බන්ධන කැපුවොත් ඒ ආරක්ෂාවෙත් බල බිඳිල යන්න පුළුවන්. ඒ නිසා ඒ වගේ අවස්ථාවක ජල නන්දන අලගුව භාවිතා කරල බන්ධන කපනවනම්, ශරීරයේ පැළඳගෙන ඉන්න ආරක්ෂක යන්ත්‍ර ඉවත් කරල ඒ සීමාවෙන් එහා තියල බන්ධන කැපීමෙන් පසුව නැවත පැළඳ ගැනීම තමයි වඩාත් සුදුසු වෙන්නෙ. ඒ කාරණය ඇදුරාටත් ආතුරයාටත් දෙන්නටම අදාළයි. නමුත් මේ කාරණය නවගුණ යන්ත්‍රය, රතන යන්ත්‍රය, සීවලී යන්ත්‍රය, රත්නමාලී යන්ත්‍රය ආදී සාසනික ගුණ සම්බන්ධ යන්ත්‍රවලට බලපාන්නෙ නෑ. බුදු ගුණ හැර දේව යන්ත්‍ර මන්ත්‍ර හෝ වෙනත් ලෞකික ශක්තීන් ගැබ් කළ ඕනෑම යන්ත්‍රයකට, ඇප නූලකට, සමහර ගෙවල් දොරවල් ආරක්ෂාවන්ට බලපානවා (ඖෂධ සමග බුදු ගුණ බලෙන් සෙත් කළ කට්ටල්වලින් ගෙවල් ආරක්ෂා කරන ක්‍රමයට මේක බලපාන්නෙ නෑ).

ඒ නිසා මේ බන්ධන කැපීම සිද්ධ කරන්න පෙර ඒ ස්ථානයට සාසනික ආරක්ෂාවකුත් යොදාගන්න. එහෙම නැත්නම් ඒ ස්ථානයේම සීමාවක් දාගෙන ඒ සීමාවෙ ඉඳගෙන බන්ධන කැපීම කරන්න. ඒ කියන්නෙ පහන් 4 ක් බුලත් කොළ 4 ක් උඩ හතරැස් කොටුවක ආකාරයට හතර මුල්ලට අහුවෙන්න තියල පත්තු කරල මේ සීමාව තුළ වෙනත් ආරක්ෂාවක් ඇත්නම් ඒවා නොකැඩේවා, මේ කාලය තුල මේ කරන කටයුත්ත නිසා ඒවාට කිසිම හානියක් නොවේවා, මේ කටයුත්තට සාසනික ආශිර්වාදය ලැබේවා කියල අධිෂ්ඨාන කරල, ඒ කොටු සීමාව ඇතුලෙ ආතුරයාත්, ඇදුරාත් දෙන්නම ඉඳගෙන ඒ කටයුත්ත කරන්න පුළුවන්. එතකොට අර බලපෑම එන්නෙ නෑ. එහෙම නැත්නම් තමන්ගෙ ස්ථානයේ නැතිව, ඒ වගේ ආරක්ෂාවල් නැති පිට්ටනියක්, වෙලක් හෝ වෙනත් සුදුසු පොදු ස්ථානයකට ගිහින් කරන්න පුළුවන් නම් එතකොටත් ඒ ගැටළුව එන්නෙ නෑ.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**






# වකුගඩු රෝගය ඇතුළු තවත් රෝග රැසකට සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් මතු කර දුන්, රටම ගිල ගත් වකුගඩු අක්‍රිය වීමේ රෝගය ඇතුළු තවත් රෝග රැසකට ප්‍රත්‍යක්‍ෂ බෙහෙත් වට්ටෝරු කිහිපයක් පසුගිය කලාප හතෙන් (88, 89, 90, 91, 92, 93, 94) විස්තරාත්මකව ඉදිරිපත් කළා. දැන් මේ හඳුන්වා දෙන්න යන්නෙ, වස විස කැවීම නිසා හට ගත් වකුගඩු ආබාධ ඇතුළු තවත් රෝග රැසකට උන්වහන්සේ විසින් බෙහෙත් සමාධියෙන් මතු කර දුන් ප්‍රත්‍යක්‍ෂ ඖෂධ කිහිපයක්.

ඒ වගේම විශේෂයෙන් දැනුවත් වෙන්න ඕන, මේ ඖෂධ හදාගෙන පාවිච්චි කරන්න පෙර, රෝගවලට මුල් වූ කර්මවේග යම් පමණකට හෝ ගෙවා හරින්න මේ සඟරාවෙ මීට පෙරත් පළ කරල තියෙන සාසනික ප්‍රතිකර්ම පුළුවන් තරම් අනුගමනය කරන්න (විශේෂයෙන් 27, 28, 29, 39, 55, 83, 86 කලාප). එහෙම නැත්නම් ඒ බේත් හරියට ප්‍රත්‍ය වෙන්නෙ නැතිව යනවා. මොකද කෙනෙකුට ප්‍රයෝග විපත්තිවලින් හැදෙන රෝගයක් වුනත් කර්මය මුල් වෙලාම තමයි හට ගන්නෙ. ඒ විදිහට එන කර්මවේගවලට සාසනික ප්‍රතිකර්ම අනුගමනය නොකරන අයට මේ ප්‍රබල බේත් වර්ග හදල දෙන්න යෑමෙන් වළකින්න. මොකද නැත්නම් අනුන්ගෙ කර්මවේගවලට කරගහන්න ගිහින් ඒ අයගෙ කර්ම දෝසවල බලපෑම් තමන්ටත් එන්න පුළුවන්.

ඒ වගේම විශේෂ ආශිර්වාද පූජාවන්ට සහ විශේෂ පුණ්‍යානු-මෝදනාවන්ට සහසම්බන්ධ වීමෙනුත් ඒ කර්ම දෝස යම් පමණකට හෝ ගෙවාගෙනයහපත්ශක්තියක්ගොඩනගා ගන්න පුළුවන්. ඒ නිසා ඒ ආකාරයේ විශේෂ පුණ්‍යානුමෝදනා, ආශිර්වාද පූජා, ආර්ය මෙත් වැඩීම්... ආදිය සිද්ධ කෙරෙන පූජනීය ස්ථානවලට සම්බන්ධ වෙලා ඒ පුණ්‍ය ශක්තිය ගොඩනගා ගන්න කටයුතු කරන්න. ඒ නිසා මේ ප්‍රතිකර්ම සහ බෙහෙත් පටලවා නොගෙන, හේතු ඵල දහම අනුව මේ ක්‍රමවේද දැනගෙන අනුගමනය කළ යුතුයි. ඒ වගේම මීට පෙරත් සඳහන් කළා වගේ මේ හැම බෙහෙතක්ම ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බවත් සළකන්න.

ඒ වගේම මේ අමුද්‍රව්‍ය සපයගන්න හැම අවස්ථාවකදිමත්, ඒ බෙහෙත් හදන අවස්ථාවලදිත්, මේ සඟරාවෙන් මීට පෙරත් විවිධ අවස්ථාවලදි සඳහන් කරල තියෙන දැහැමි ක්‍රමවේද පුළුවන් තරම් අනුගමනය කරන්න වග බලාගන්න. ඒ මගින් ඖෂධවල ගැබ් වන ශක්තිය වැඩි වෙලා වඩාත් සාර්ථක ප්‍රතිඵල ලබා ගන්න පුළුවන්. මේ අමුද්‍රව්‍ය සඳහන් කරල තියෙන්නෙ එක්තරා අනුපාතයකට නිසා ඒ අනුපාතයම එන විදිහට තමන්ට අවශ්‍ය ප්‍රමාණයට අමුද්‍රව්‍ය අඩු වැඩි කරගන්න පුළුවන්. (මදුරස චූර්ණය හැර) පින්වතුන්ගේ පහසුව පිණිස මේ සඟරාවේ සඳහන් කරන ප්‍රබල බෙහෙත් වර්ග සමහරක් දැනටමත් නිෂ්පාදනය කරල, වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය මුල් කරගෙන පැවැත්වෙන වෛද්‍ය සායනවලින් ලබා ගන්නත් පහසුකම් සලසල තියෙනවා.

## විස වමන තෙල

අවශ්‍ය අමුද්‍රව්‍ය :- වතුර නොදා සකස් කර ගත් පුහුල් ඉස්ම බෝතල් 1 ක් හෙවත් මිලි ලීටර 750 යි (සාමාන්‍යයෙන් ආහාරයට ගන්නා පුහුල්), ලිපේ අළු ග්‍රෑම් 165 යි (පොල් ගහේ කොටස්වලින් එන අලු ටිකක් වැඩිපුර එකතු වෙලා තිබීම වඩාත් සුදුසුයි), අමු මී හරක් ගොම ග්‍රෑම් 335 යි (මීට පෙරත් සඳහන් කර ඇති ආකාරයට බිමට වැටෙන්න පෙර ලබා ගත යුතුයි), පිරිසිදු එළකිරි ලීටර 1 යි, පිරිසිදු එළඟි තෙල් මිලි ලීටර 500 යි.

පුහුල් ඉස්ම බෝතලයෙන් ලිපේ අලු දියකරගෙන පෙරහනකින් පෙරාගෙන එන දියරයට අමු මී ගොම දිය කරගන්න. ඒ දියරයත් පෙරාගෙන එන දියරයට එළකිරි බෝතලය එකතු කරල උකු වන පදමට උෂ්ණත්වය අංශක 60 බස්සවාගෙන ඊට එළඟි තෙල් ටිකත් එකතු කරල වතුර හිඳෙන කල් ඒ උෂ්ණත්වයේම බස්සවා ගන්න.

මේ අවස්ථා දෙකේදිම හරියටම අංශක 60 ක උෂ්ණත්වයට ගින්දර පාලනය කරන්න අපහසු නිසා නටන උණු වතුර වාෂ්පයෙන් තම්බා ගැනීම / බස්සවා ගැනීම තමයි වඩාත් පහසු. ඒ සඳහා නටන උණු වතුර මුට්ටියක කට කපු රෙදි කැබැල්ලකින් හුමාලය පිටවෙන්නෙ නැති වෙන්න ගැට ගහල, ඊට උඩින් බෙහෙත් ද්‍රව්‍ය භාජනය තියල වහන්නෙ නැතිව විවෘතව තැබීමෙන් ක්‍රමානුකූලව වතුර බස්සවා ගන්න පුළුවන්. වතුර හිඳුනම තෙල් මට්ටමේදි බාගත යුතුයි. ඒ වගේම මේ සඳහා දර ලිපක් හොයාගන්න අපහසු නම් වායු ලිපක් හෝ විදුලි ලිපක් පාවිච්චි කරන්නත් පුළුවන්. මේ විදිහට හදාගත්ත තෙල අවුරුද්දක් තියාගන්න පුළුවන්.

වමනය කරන්න අවශ්‍ය වෙනකොට තෙල් පත 1/2 බැගින් පැය දෙකෙන් දෙකට තුන් වතාවක් හිස් බඩ බොන්න දෙන්න. ඒ කාල සීමාවේ ආහාර පාන ගැනීමෙන් වළකින්න. උදේ 7 ට හෝ 

ඊට පෙර පළමු වතාව දෙන්න. වමනය යන්න තැඹිලි (ලුණු ඇට්ටි) දෙන්න. ඒ මගින් ශරීරයට කැවිච්ච සියලු විස, පිත් විස වමනය වෙනවා. වමනය අධිකව යනව නම්, තැම්බුම් හොද්දක් සමග නිවුඩු හාල් බතක් බෙරි වෙන්න උයල උණුවෙන් කන්න දෙන්න.

ළය විරේකයට අවශ්‍ය නම් පැය 1/2 කට වරක් පත 1/2 බැගින් දෙවතාවක් දෙන්න. පළමු දීමෙන් විනාඩි 5 ක් ගිය පසු තැඹිලි ගෙඩි 2 ක් දෙන්න. වමනය යනකොට තවත් තැඹිලි දෙන්න. තවමත් කුණ නොගිය බවක් දැනුනොත් නැවත පත 1/2 ක් දී ඒ විදිහටම තැඹිලි දෙන්න. වතා 3 කින් ගැලවිලා යනවා. පළමු ළය විරේකයේදී මීට වඩා දීමෙන් වළකින්න. තවත් අවශ්‍ය බව වැටහුනොත් මාසයක් ගිය පසු ඒ විදිහටම නැවතත් 3 වතාවක් දෙන්න පුළුවන්.

මේ තෙල වකුගඩු ආබාධ සුවයට ආධාර වෙනවා. ඒ වගේම ඔල්මාද ගතිය ඇති වීමට හේතුවන ආකාරයේ බඩට දීපු වින අජීර්ණ ආදිය තියේ නම් ඒවත් සුව වෙනවා.

## අත්තික්කා පැණිය

අවශ්‍ය අමුද්‍රව්‍ය : අත්තික්කා කොළ, දළු හෝ මල්, ගෙඩි, මුල්, පොතු (පස් පංගුව) අමු බරින් ග්‍රෑම් 100 බැගින්, වියළි කටුවැල් බටු ග්‍රෑම් 35 යි, අමු ඉරිවේරිය දඬු ග්‍රෑම් 100 යි, වතුර නොදා සකස් කර ගත් තලපිති ඉස්ම මිලි ලීටර 40 යි, බාර්ලි ඇට ග්‍රෑම් 100 යි, ග්ලූකෝස් ග්‍රෑම් 50 යි, සුදු සීනි ග්‍රෑම් 50 යි, අමු මී මල් ග්‍රෑම් 50 යි, තල් සූකිරි ග්‍රෑම් 100 යි.

ඉහත අමුද්‍රව්‍යවලින් අත්තික්කා සහ ඉරිවේරිය එකට කොටාගෙන වතුර මිලි ලීටර 225 ක් විතර එකතු කරල මිරිකගන්න. කටුවැල් බටු කුඩු කරගෙන වතුර මිලි ලීටර 75 - 115 ක් විතර එකතු කරල පැය බාගයක් තියල මිරිකගන්න. දැන් තලපිති ඉස්ම සමග ඉහත මිරිකාගත් අනෙක් ඉස්ම වර්ග දෙකත් මිශ්‍ර කරල එන ද්‍රාවණයෙන් බාර්ලි ඇට ටික තම්බ ගන්න. සම්පූර්ණයෙන් දිය නොවී බාර්ලි ඇට ඉතිරි වුනොත් ඒ ටික වෙනම පෙරාගෙන ඉස්ම ටිකක් එකතු කරල මිශ්‍රණ යන්ත්‍රයකින් අඹරගෙන ඒ මිශ්‍රණයටම එකතු කරන්න. ඒ මිශ්‍රණයට ග්ලූකෝස්, සුදු සීනි, අඹරා ගත් මී මල්, තල් සූකිරි එකතු කරල මිශ්‍රණ යන්ත්‍රයකින් මිශ්‍ර කරල ලිපක තියල අංශක 80 ට වැඩි නොවෙන්න රත් කරල පැණි පදම ඇවිත් ඉස්ම හිඳුනම බාගන්න.

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පැය 1 කට පසු තේ හැඳි 1 1/2 බැගින් සති 3 ක් ගන්න. ආබාධයේ හැටියට මාස 2 ක් ගන්නත් පුළුවන්.

මේ මගින් නිල තැලීම නිසා, අස්ථි තැලීම නිසා හට ගත් ආබාධ, ඇටමිදුළුවල තියෙන කල්ගිය තැලුම් ආබාධ පවා සුව වෙනවා. වස විස වැදීමෙන් හට ගත් ආබාධත් දුරු වෙනවා. විස නිසා ඇතිවන උණ සුව වෙනවා. ඒ නිසා ඇතිවෙන වකුගඩු ආබාධ සුව වෙනවා.

## ඉඟුරු සූකිරි අරිෂ්ටය

අවශ්‍ය අමුද්‍රව්‍ය :- ගැට සහිත ගල් අන්නාසි මුළු ගහම හෝදල සුද්ද පවිත්‍ර කරල කිලෝ 1.25 යි, ඇට ඉවත් කරගත් වියළි සියඹලා බොර ග්‍රෑම් 900 යි, පෙනේරයකින් හලා ගත් දේශීය වියළි ඉඟුරු කුඩු ග්‍රෑම් 800 යි (නිවා ගත් උණු වතුර බෝතල් 9.6 ක් දමා දිය කරගන්න. පෙරාගන්න අවශ්‍ය නෑ) බ්‍රැන්ඩි මිලි ලීටර 190 යි, පොල් අරක්කු මිලි ලීටර 75 යි, සුදු සූකිරි කිලෝ 4.25 යි.

අන්නාසි ගහ සහමුලින්ම කොටාගෙන මිරිකගෙන නිවාගත් උණු වතුර බෝතල් 5 ක් එකතු කරල ඉස්ම ගන්න. සියඹලා බොරය විතරක් අරගෙන නිවාගත් උණු වතුර බෝතල් 10.8 ක් දමමින් රොඩු ටික මිරිකගෙන ඉස්ම ටික සකස් කරගන්න. මේ ඉස්මට වියළි ඉඟුරු කුඩු දියරය, බ්‍රැන්ඩි, අරක්කු, සූකිරි සියල්ලමත් එකතු කරල දින 21 ක් තියල අරිෂ්ට කරගෙන පෙරාගන්න.

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි 1 1/2 බැගින් මාස 2 ක් ගන්න.

මේ මගින් ගර්භාෂයේ ගෙඩි, තුවාල, නාසයේ මස් දළු, පෙණහැල්ලේ සෙම් සහිත ආබාධ, ක්ලාන්ත කැරකිලි ගති, සිහි කල්පනාවේ විකෘති ස්වභාවයන්, නින්ද නොයාම, තෙහෙට්ටුව, දත් මුල් දියවීම, ඇලදිවේ ඉදිමීම... ආදී ආබාධ සුව වෙනවා. විස ශරීරගත වීම නිසා හට ගත් ආබාධ සුව වෙනවා. සෙම නරක් වීමෙන් හට ගන්නා උණ සුව වෙනවා. වකුගඩු ආබාධ සුවයට මහෝපකාරී වෙනවා. පුරස්ථි ග්‍රන්ථි ඉදිමීම සුව වෙනවා. රුධිර පීඩනය සමනය වෙනවා.

## හැඟීම් අන්ධ ආබාධය හෙවත් ඔටිසම් රෝගය සඳහා මධුරස චූර්ණය

එළ හරක් 28 දෙනෙක්ගෙන් දොවා ගත් සුද්ද එළකිරි බෝතල් 28 කින් හදා ගත් එළගිතෙල් බෝතල් 1 යි, මිනිස් මව්වරු 28 දෙනෙක්ගෙන් ලබා ගත් මව්කිරි අවුන්ස 28 යි (එක් මවකගෙන් එක් අවුන්සය බැගින්) අරගෙන, එළගි තෙල් බෝතලයට මව්කිරි බෝතලය (අවුන්ස 28) මිශ්‍ර කරල වතුර නොදා සකස් කරගත් පැණි දොඩම් ඉස්ම බෝතල් 7 ක් දමා අංශක 60 - 80 අතර උෂ්ණත්වයකින් ඉස්ම හිඳෙන කල් බස්සවා ගන්න. නිවුනට පසු ඒ ප්‍රමාණයට සමාන ප්‍රමාණයක් (සමාන පරිමාවක්) මී පැණි මිශ්‍ර කරල තියාගෙන උදේ හිස් බඩ සහ රාත්‍රී නින්දට පෙර තේ හැඳි 1/2 බැගින් මාස 3 ක් දෙන්න.

**මේ රෝගය සම්බන්ධයෙන් අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ සමාධියෙන් දුටු දර්ශනය පහත දැක්වෙනවා.**

හදවතේ බිත්ති 4 මැද හැඟීම් දනවන ඉතා කුඩා ග්‍රන්ථියක් තියෙනවා. යහපත් ගුණගරුක අරමුණු එනකොට ඒ ග්‍රන්ථියෙන් හදවත නිවා සනසන ශ්‍රාවයක් නිකුත් වෙනවා. ඒ ශ්‍රාවයේ පහස හදවතට ස්පර්ශ වෙනකොට ළයාන්විත හැඟීම් ඇතිවෙනවා. යම් විදිහකින් මේ ග්‍රන්ථිය දුර්වල වුනොත් හෝ උපතෙන් දුර්වලව පිහිටියොත් ඒ අනුව මේ රෝග ලක්ෂණ පහල වෙනවා. දැඩි ද්වේශ සහගත ආවේග ඇති වුනාමත් ඒ තත්වය ඇතිවෙනවා. එතකොට මේ ග්‍රන්ථිය තාවකාලිකව අක්‍රිය වෙනවා.

මේ ග්‍රන්ථිය නොවැඩීමෙන් මව්පිය, ගුරුවරු, සහෝදර සහෝදරියන් හෝ ඥාතීන් වගේම හිතවත් අහිතවත් කිසිවෙක් සමග හැඟීම් ඇති නොවෙන ආබාධයක් ඇතිවෙනවා. පින් පව් කියල වෙනසක් පේන්නෙ නැතිව යනවා. තමන් කරන කියන දෙයක කිසි අගක් මුලක් නෑ. නිතර තමන්ගෙ හිතුමතයක්ම කරනවා. අවවාද අනුසාසනා කිසිවක් පිළිබඳව කිසිම වැදගත් බවක් දැනෙන්නෙ නැතිව යනවා. ඒවා ඔහුට සාමාන්‍ය ශබ්දයක් විතරයි. කිසිම දෙයක බරපතලකමක් දැනෙන්නෙ නෑ. මනුස්සයෙක් වුනත් ඌරෙකුගේ, වඳුරෙකුගේ ගති ස්වභාවයන් දරනවා.

උදාහරණ විදිහට වඳුරෙක් වගේ අතපය කරකවනවා, උඩ බිම බලනවා. ඌරෙක් වගේ සීමාවක් නැතිව කාගෙන යනවා. කවුරු හරි නැවැත්තුවොත් මිසක් හිතල නවත්වන්නෙ නෑ. අතක් පයක් අහුවුනොත් හපන්න බලනවා. කිසිම දේක සීමාවක් නෑ. මේ වගේ තිරිසන් සතුන්ගේ ගති ලක්ෂණ පෙන්නුම් කරන නිසා සමහර අවස්ථාවල

දම්වැල්වලින් පවා බැඳල තියෙනවා. නමුත් ඒ ගති ලක්ෂණවල ස්වභාවය රෝගියාගෙන් රෝගියාට වෙනස් වෙනවා.

මේ තත්වය මානසික රෝගයක් කියල හිතුවත්, ආසන්න භවයක තිරිසන්ව ගත කරල යම් කුසලයකින් මනුස්ස අත්බවයක් ලැබුවම ඇතිවන හදවතේ මැද තියෙන ග්‍රන්ථිය දුර්වලවීමක් හේතුවෙන් ඇතිවෙන ආබාධයක්. ආසන්න අතීත භවවල නපුරු ගති තියෙන තිරිසන්, යක්ෂ... ආදී අත්බැව් ලබාගෙන ඉඳල දැන් මිනිස්ව ඉපදුන බොහෝ අයට මේ ආබාධය ඇතිවෙනවා. දැනට තියෙන වෛද්‍ය විද්‍යාව අනුව ඒ අය සුව කිරීම අසීරුයි.

මේ බෙහෙතෙන් කෙරෙන්නෙ මේ ග්‍රන්ථිය ක්‍රියා කිරීමේ උත්තේජන ශක්තිය ලබා දීම. මේ ඖෂධයෙන් මෙබඳු රෝගීන්ගෙන් 80% කට වැඩි ප්‍රමාණයක් සුව කරගන්න පුළුවන්. මේත් සමග පෝෂණ ගුලි ලබාදීමත් විශේෂයි. (වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය මුල් කරගෙන පැවැත්වෙන වෛද්‍ය සායනවලින් පෝෂණ ගුලි ලබා ගන්න පුළුවන්.)

හදිසි බලවත් ආවේග නිසා මේ ග්‍රන්ථිය අක්‍රිය වෙච්ච අයට නැවත යහපත් ආශ්‍රය හේතුවෙන් යහපත් ආවේග බලවත්ව නැගුනොත් මේ ග්‍රන්ථිය නැවත ප්‍රකෘතිමත් වෙනවා. එතකොට ඉතා යහපත් ගුණගරුක බවට පත්වෙලා සිහි නුවණ ඇතිවෙලා සුවය ලැබෙනවා.

## අත්හදු බැලීමට තෙලක්

ජාති අන්ධ, ජාති බදිර (බිහිරි) කිව්වත් එසේ නොවෙන (පටිසන්ධි-යෙන් නොවන) අඳ, ගොළු, බිහිරි අය වගේම පංචේන්ද්‍රියන් දුර්වලව පිහිටි අයත් ඉන්නවා. මෙන්න මේ වගේ අයට අත්හදා බලන්න දෙන, කිසිම අතුරු ආබාධයක් නැති තෙලක් තමයි මේ. මේ හා සමාන තෙලක් 81 කලාපයෙන් හෙළිදරව් කළත් ඒ තෙල (දස මූල තෛලය) ප්‍රත්‍ය නොවන අයට මේ තෙලත් අත්හදා බලන්න පුළුවන්.

මේ සඳහා වයස අවුරුදු 18 ට අඩු 5 ට වැඩි අඳ, ගොළු, බිහිරි, අබ්බගාත නොවන නිරෝගී ළමයින්ගේ කෙස් අහුරකට වැඩිය (10 දෙනෙකුට වැඩි නම් වඩා හොඳයි.) අවශ්‍යයි. සාමාන්‍යයෙන් වයස අවුරුදු 18 ට අඩු අය ළමා වයසේ පසුවෙන නිසා ඒ අයට තියෙන ලෙඩ රෝග ආබාධ අඩුයි. ඒ නිසා 18 හෝ ඊට අඩු නම් වඩාත් හොඳයි. එහෙම නැත්නම් උපරිම වයස අවුරුදු 20 වුනත් ගැටළුවක් නෑ. කෙස් ලබා ගන්නකොට ස්ත්‍රී පුරුෂ භේදයක් නෑ.

දැන් මේ විදිහට ලබාගත්ත කෙස් මුට්ටියකට දාල කට වහල යටින් ගින්දර දාල පුච්චා ගන්න. ඉන්පසු කුඩු කරගෙන ඒ කුඩු ග්‍රෑම් 100 කට පිරිසිදු තල තෙල් බෝතලයක් දමා පැය 3 ක් සෙල්සියස් අංශක 100 ට රත් කරන්න. ඉන්පසු පෙරාගෙන සෑම දිනකම උදේට අඳ, ගොළු, බිහිරි අයගේ හිස් මුදුණට දමන්න. විනාඩි දෙකෙන් දෙකට තෙල් ටික ටික දමමින් විනාඩි 5 ක් පමණ ඇඟිලි තුඩුවලින් හොඳින් අතුල්ලන්න.

මේ විදිහට මාස 3 පටන් වසර 3 දක්වා කාලයකදී ඉන්ද්‍රිය දුර්වලතාවය දුරු වෙලා නිරෝගී වෙනවා. ඒ වගේ ප්‍රබල දුර්වලතාවලටත් මේ තෙල ප්‍රත්‍ය නම් සුළු දුර්වලතා තියෙන අයට කොහොමත් ඉතා ඉක්මනට ප්‍රත්‍ය වෙනවා. මේ තෙල වයසට ගිය අයගේ ඇස් කන් දුර්වලතාත් දුරු කරනවා.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

---

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 95 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දයකත්වය**

■ පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි ■ පූජ්‍ය මොරගොල්ලේ ඉන්දසුමන හිමි ■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ තුසිත මංගල මහතා - පාදුක්ක ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ අමිල සල්ගාදු මහතා - බෝමිරිය ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ ස්වර්ණා සමරසිංහ මහත්මිය - නැදිමාල ■ දිනේෂ් සම්පත් මහතා - පිළියන්දල ■ මොන්ටි ජයවික්‍රම අලුත්ගේ මහතා - පල්ලෙවෙල ■ කේ.ජී. මිල්ටන් මහතා ඇතුළු පවුලේ සැම- අතුරුගිරිය ■ චමින්ද හෙට්ටිආරච්චි මහතා - හබරකඩ ■ රුවන් මහතා - අතුරුගිරිය ■ නිශාන්ත ජයලත් පෙරේරා මහතා - සඳලංකාව ■ හේමාල් ඉන්ද්‍රජිත් වීරකෝන් මහතා - බණ්ඩාරගම ■ සුනිමල් කුමාරතුංග මහතා - අවිස්සාවේල්ල ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දයක වූ පින්වතුන්

**මූල්‍යමය දයකත්වය**

■ සනත් දයාප්‍රේම මහතා, රේණුකා ජයවර්ධන මහත්මිය, අනුක් දයාප්‍රේම පුතා, සෙලෝමි දයාප්‍රේම දුව, මහේන්ද්‍ර ජයවර්ධන මහතා, සමන්තා සේනානායක මහත්මිය සහ යතික ජයවර්ධන පුතා - ඇමරිකාව - රු. 35,000/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ තිළිණ විජේරත්න මහතා සහ පවිත්‍රා දදිගම මහත්මිය - ඇමරිකාව - රු. 23,410/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 20,000/- ■ සමන්ත දියෝගබඩු මහතා, ගයනී ජයවර්ධන මහත්මිය, නිම්හාන් දියෝගබඩු පුතා, ඩිලාරා දියෝගබඩු දුව - ඩුබායි, ඒ. ඩී. කේ. පියසීලි ජයවර්ධන මහත්මිය, ඉනෝකා ජයවර්ධන මහත්මිය, අකීෂා සමරවීර දුව, අශෝක ජයවර්ධන මහතා සහ චමිලා වික්‍රමආරච්චි මහත්මිය - නුගේගොඩ - රු. 11,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ නිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ චාරුක බණ්ඩාර මහතා සහ තිමිර බණ්ඩාර මහතා - ඇමරිකාව - රු. 8,670/- ■ ජී. ධර්මසේන මහතා සහ කරුණා ධර්මසේන මහත්මිය ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු. 7,000/- ■ අයේෂ් ගුණවර්ධන මහතා සහ නිරාශා පෙරේරා මහත්මිය - ඇමරිකාව - රු. 6,930/- ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු. 5,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම

- රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - බොරැල්ල - රු. 5,000/- ■ සංජීව පද්මනාත් මහතා ඇතුළු පවුලේ සැම - කහතුඩුව, රුවන් සමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම, චමිල ඉලංගකෝන් මහතා ඇතුළු පවුලේ සැම - හෝකන්දර, සුමුදු විද්‍යාලංකාර මහතා ඇතුළු පවුලේ සැම - රද්දොළුගම, සසික රත්නායක මහතා ඇතුළු පවුලේ සැම - ගාල්ල, අජිත් රත්නායක මහතා ඇතුලු පවුලේ සැම, කහතුඩුව - රු. 5,000/- ■ අසේල බෙන්තර මහතා සහ චතුරිකා කහඳුගොඩ මහත්මිය - ඇමරිකාව - රු.4340/- ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ කමල් රාජපක්ෂ මහතා ඇතුළු පවුලේ සැම - තිහාරිය - රු. 4,000/- ■ පී. එච්. ඩබ්. ජී. සෙනෙවිරත්න මහතා ඇතුළු පිරිස - අත්තනගල්ල - රු. 4,000/- ■ සී. වීරසිංහ මහතා - රු. 4,000/- ■ විමුක්ති සෙනෙවිරත්න මහතා සහ ජයමිණි ජයවර්ධන මහත්මිය - ඇමරිකාව - රු. 3,470/- ■ නිශාන්ත ජයවර්ධන මහතා සහ කවින්ද්‍යා සේනානායක මහත්මිය - ඇමරිකාව - රු.3470/- ■ හර්ෂ අමරසේකර මහතා සහ උදුම්බරා රත්නායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 3,470/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා ඇතුළු පවුලේ සැම - ඔස්ට්‍රේලියාව - රු. 3,000/- ■ ජේ. එම්. ඒ. බණ්ඩාර මහතා, වී. එස්. ජයතිලක මහත්මිය සහ ජේ. එම්. ඕ. නවින්ද්‍යා බණ්ඩාර දුව - මහනුවර - රු. 3,000/- ■ වෛද්‍ය සංජීව මලින්ද මහතා, වෛද්‍ය ඉසුරු ගනේආරච්චි මහත්මිය, දහම්යා විදුසිනී දුව - කිරිබත්ගොඩ - රු.3000/- ■ මනෝජ් ජයසූරිය මහතා ඇතුළු පවපුලේ සැම - මහරගම - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනී මහත්මිය - කඩවත - රු. 2,500/- ■ එච්. එස්. අරම්පොල මහතා ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු.2500/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ ඩිලාරෝ වුඩ් කාවින් පුද්ගලික සමාගම - ගාල්ල - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා, චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය සහ සෙනුකි දම්නාද අමරසේකර දුව - රදවාන - රු. 2,000/- ■ රජිත් යාපා අමරසේකර මහතා - රදවාන - රු. 2,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - පිටකෝට්ටේ - රු. 2,000/- ■ පසන්, දිලිත පුතනුවන්, අනුසරී දුව, එම්. ඒ. චම්පා එරන්දතී මහත්මිය - හැටන් - රු. 2,000/- ■ එම්. ජී. දුමින්ද බණ්ඩාර මහතා ඇතුළු පවුලේ සැම - යක්කල - රු. 2,000/- ■ සුදන්ත සූරියබණ්ඩාර මහතා සහ ඉරේෂා සූරියබණ්ඩාර මහත්මිය - ඔස්ට්‍රේලියාව - රු. 2,000/- ■ එන්. ජී. ජයතිලක මහතා සහ එන්. ජයතිලක මහත්මිය - මහනුවර - රු. 2,000/- ■ නිරෝධා ධනංජනී මෙනෙවිය - දියතලාව - රු. 2,000/- ■ ඉරේෂා සංජීවනී මහත්මිය - යක්කල - රු. 2,000/- ■ ඩිලානි පෙරේරා මහත්මිය - හේනෙගම - රු. 2,000/- ■ උපුල් විජේනායක මහතා ඇතුළු පවුලේ සැම - මාවනැල්ල - රු. 2,000/- ■ කසුන් ජයකොඩි මහතා - දෙඩම්ගොඩ - රු.2000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ ජගත් විජේසිංහ මහතා ඇතුළු පවුලේ සැම - බත්තරමුල්ල - රු. 1,500/- ■ උපුල් ජයරත්න මහතා සහ ගීතානි ජයරත්න මහත්මිය - ඔස්ට්‍රේලියාව - රු. 1,500/- ■ ඩබ්. එම්. විජේසූරිය බණ්ඩාර මහතා සහ දිලානි දීපිකා කුමාරි මහත්මිය ඇතුළු පවුලේ සැම - හසලක - රු. 1,500/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ ශ්‍රියානි විජේසේකර මහත්මිය - උළුවිටිකේ, ගාල්ල - රු. 1,000/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳාන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ ශ්‍රීමා අබේකෝන් මහත්මිය ඇතුළු පවුලේ සැම - මෙල්බන් නුවර - රු. 1,000/- ■ දර්ශිකා විජේරත්න මහත්මිය - තලවතුගොඩ - රු. 1,000/- ■ ඒ. දිලාන් නුවන් පුතා - ස්කොට්ලන්තය - රු. 1,000/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 1,000/- ■ වසන්ත කුමාර ජයසේකර මහතා ඇතුළු පවුලේ සැම - නාරාහේන්පිට - රු. 1,000/- ■ ඒ. ඒ. කෞෂානි සකුනිකා ප්‍රේමතිලක දුව - රදවාන - රු. 1,000/- ■ කුසුමා තෙන්නකෝන් මහත්මිය - සේදවත්ත - රු. 1,000/- ■ නිලන්ති දබරේ මහත්මිය - පිටකෝට්ටේ - රු. 1,000/- ■ ලලනි ජයරත්න මහත්මිය - නුගේගොඩ - රු. 1,000/- ■ පැතුම් ශානුක ලොකුගේ මහතා - පාදුක්ක - රු. 1,000/- ■ පී. කේ. සිතුමි සනිල්කා දුව සහ පී. කේ. සඳිල් මෙතුප පුතා - අවිස්සාවේල්ල - රු. 1,000/- ■ විශාඛා ඇටිපොල මෙනවිය - මාතලේ - රු. 1,000/- ■ ඒ. කේ. පී. ගුණපාල මහතා - කිතුල්ගල - රු. 1,000/- ■ පී. එල්. සෝමා ලියනගේ මහත්මිය - කිතුල්ගල - රු. 1,000/- ■ එම්. පී. විජේතුංග මහතා - පූජාපිටිය - රු. 1,000/- ■ එස්. එම්. ප්‍රේමරත්න මහතා සහ පී. ඒ. ඥානවතී මහත්මිය - පාදුක්ක - රු. 1,000/- ■ මාලනී බස්නායක මහත්මිය - අකුරැස්ස - රු. 1,000/- ■ නිශානි අංජලිකා මහත්මිය - පිළියන්දල - රු. 1,000/- ■ රාණි කන්නන්ගර මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇතුල්කෝට්ටේ - රු. 1,000/- ■ විසුද්ධා තරුනෙතු මෙනවිය - රදවාන - රු. 1,000/- ■ ඉමිල අමල් වික්‍රමසිංහ මහතා - කොකිස්කඩේ හන්දිය - රු. 1,000/- ■ ඉසුරි චම්පිකා මහත්මිය - බොරලැස්ගමුව - රු. 1,000/- ■ ආර්. දයාවතී ප්‍රනාන්දු මහත්මිය - රු. 1,000/- ■ ඩී.එම්. බාලමැණිකේ මහත්මිය - අධිකාරිගම - රු. 1,000/- ■ සෙනෙහෙලතා ජයවික්‍රම මහත්මිය ඇතුළු පිරිස - ගම්පහ - රු. 1,000/- ■ කේ. ඩග්ලස් පෙරේරා මහතා සහ කේ. උදිත ලක්ෂාන් පෙරේරා මහතා - මීනුවන්ගොඩ - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ බී.ඒ. වීරසේන මහතා ඇතුළු පවපුලේ සැම - යක්කල - රු. 1,000/- ■ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව,කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, චාන්දනී සමරකෝන් මෙනවිය - කන්තලේ, නිර්මාණි වින්ද්‍යා සිරිමාන්න මහත්මිය - රදවාන, ඩිලූෂ සඳරුවන් මහතා - රදවාන - එකතුව - රු. 3,800/- ■ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 365,260/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 395,250/- ■ අනෙකුත් වියදම් - 21,485/- ■ සම්පූර්ණ වියදම - රු. 416,785/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 27.78/- ■ මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විභිදී පැතිරී පිහිටා සුගතිගාමීව සම්දිටු ගුණ පහල කරගෙන තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

# පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...

**www.waharaka.com   webmaster@helabodhupiyuma.net**

**071 3046895 / 036 2267111 / 076 8092008 / 076 3639891**

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම පෙ. ව. 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදනය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාද ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව - පෙ. ව. 8.00 සිට ප. ව. 4.00 දක්වා, 2 වන, 4 වන සහ 5 වන සෙනසුරාද භාවනා වැඩසටහන පෙ. ව. 9.00 සිට ප. ව. 4.00 දක්වා

**ගමන් මාර්ගය: නිට්ටඹුව – රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණුපස.**

---

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාප ඇතුලු සියලු කලාප දැනට ලබාගත හැකි ස්ථාන:

■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 ■ හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 / 011 2744308) ■ පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 011 2895132 ■ තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 ■ තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 ■ නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 / 071 3228571 ■ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාද උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 ■ සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 ■ සීදේවි හෝටලය, වේයන්ගොඩ පාර, කිරිදිවැල - 071 0118101 ■ කුමාරි අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 0786949860, 0332263351 ■ පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර - 038 2235369 ■ සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 ■ සුධීර කොමිනිකේෂන්, පිටිගල පාර, පැලවත්ත. - 071 2103177, 075 2679202 ■ සහන ෆාමසි - මූණගම, හොරණ - 071 2608776 ■ ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 5827923 ■ ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 ■ නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදස මාවත, මාතර - 041 2225118 ■ හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 ■ මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 ■ දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 ■ රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මීද්දෙණිය පාර, වීරකැටිය - 071 2136329 ■ සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 ■ සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ - 066 2244061 ■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 124, කෙලින් වීදිය, මාතලේ - 077 3632966 ■ ඒකනායක මන්තින්ද්‍රාරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 541 64 61 / 081 020 57572 ■ අමිල ට්‍රේඩර්ස් , අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 ■ අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 ■ අරි සිතුම් අරණ දහම් මැඳුර, දේවගිරිපුර, ගල්ගමුව - 071 1211876 ■ හොරණ වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 071 8375871 ■ ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 4902817 ■ පිවිතුරු අරණ සෙනසුන - කට්ටකඩුව, ආඩියාගල, දඹුල්ල - 025 5789988 ■ සීගිරි පොත්හළ, පොළ හන්දිය, මහව - 077 6243804 ■ රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 ■ චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 ■ ඇම්. ටී. බණ්ඩාර පොත්හල, කොළඹ පාර, පොල්ගහවෙල, 077-3807489 / 076-8036126 ■ ළහිරු පූජා භාණ්ඩ, කොළඹ පාර, මදුරන්කුලිය, 076-7768053 / 071-8375871 ■ චමින්ද කොමිනිකේෂන්, සුපිරි වෙළඳ සංකීර්ණය, ප්‍රධාන වීදිය, මැදගම, 071-6253031 / 071-8375871

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***




දම් සුව සිසිල හැම සත වෙත ලැබ දුන්නේ
නිම් නැති සසර බියකරු බව නොම දන්නේ
පින් කුසලෙට වැඩියි පව් කඳ මිනිසුන්නේ
තුම් බුදු දහම මේ තුලමයි බබළන්නේ

බිය නැත පාපයට වැද සිහි මුලා කළ
ජය ලැබුමට තරඟ ඇත වැඩි දෙනා තුල
මිය යාමට කලින් තතු සිවු අපා වල
කියලා දෙන කෙනෙකු නොලැබී ගෙවූ කල

හැරදා ගියත් රජ සැප ලද දිවිය පුරා
වෙරදා සොයති පිනවන ඉඳුරනට අරා
මුරකාවල් නොමැති සැප ඇත දුකද දරා
පරදා මරු දිනුවෙ මුනිඳුය නිවන කරා

කැලේ ගති මිනිස් කමටත් නිගා දෙන
බලේ ලබන්නට හැකි නම් මරා ගෙන
පෙලේ ඇවැසි හැම දෙය නැත ලබා ගෙන
දිලේ මුනි දහම පැවතී නැසී යන

දුලභව කළණ මිතුරන් දුටු දහම බණ
ගැලපෙයි දිවියටත් මග හසුරුවන ගුණ
සැලවෙන නිවෙන ගුණයත් අප ළඟම දැන
වළකාලිය යුතුයි අදමිටු කමට බැන

සඳු හිරු පවා එරෙහිව තිර ගති බින්දේ
පුදුමත් නැත විපත් කරදර දුක රැන්දේ
මුදු කරුණා කොහිද අද මොහඳුරු නින්දේ
බුදු ගුණයට නොවෙද බඹ සුර නර වැන්දේ

අට ලෝ දහම හුරු හෙළ ගතියකට නැමී
පිට පිට ගැහැට ආවත් ඉවසුමද හිමී
හෙට බුදු රැසින් බොඳ වී ගොර පව්ටු බැමී
රට සැනසේද දම් වරුසාවකට තෙමී

බෙර සක් හඬ මැදින් බුදු බල නැගි දිනෙක
දහමක් රැකී අවැඩක් නොම වන ලෙසක
වෙනතක් නොමැත මිසදිටු බල බිඳ පසෙක
මෙම ලක් දෙරණ වෙත සෙත් වේවා හනික

පබැඳුම - නැදිමාලේ ස්වර්ණා සමරසිංහ



# නොනිසියි බොදුනුවන් පිල් ගෙන බෙදීම...

බණ නම් එකයි බුදු හිමි දෙසු නිවෙන්නට
නැණ නම් බෙදෙයි අඩු වැඩි ලෙස දෙසන්නට
දැන නම් දෙසන්නේ ලොව අත හරින්නට
මනරම් දමකි කුමකට පිල් බෙදෙන්නට

අහවල් හිමිගෙ සව්වන් අපි වෙමුය කියා
පහකර අනෙක් හිමිවරු දම් දෙසන නියා
දහවල රැයද තුන් දොර ගැටුමකට අයා
ගහගෙන නිවන් දුටුවෙකු වෙද බලනු සොයා

පින් කම් කළත් අද පිල් ගෙන බෙදෙනු පෙනේ
උන් මුන් කිපී විරසකකම් කිමද අනේ
තුන් දොස් හිතක් මහ ඵල අඩු කරන තැනේ
දැන් වත් මෙදැන නොබෙදී පිල් වඩනු ගුණේ

භවය උදුරනා බොදුනුන් නමට නිසී
ගුණය කෙලෙසනා කටයුතු නොකර කිසී
එළිය කරන තුන් ලොව දම් විගස ඇසී
දිනය ඵල පිරෙන තෙක් මග වඩනු රිසී

වැරදි නැති තැනක් මුනිඳුන් හැරුනු කොට
පැවිදි රහත් උතුමන්ටත් නොමැති විට
මුලදි මග වඩන් යන සිව් පිරිස හට
පැහැදි සිතින් සළකනු දැන ගුණය කට

බොදුනු පිල් හදා දම් මග නොවඩ හිඳ
සැදුනු වැඩක් වෙද නිවනට අවැසි විද
බැඳුනු රැහැන් ගලවනු මිස මුනිඳු සඳ
රැඳුනු තැනෙක හොඳ කීවේ කොතැන කද

ලබ කිත් පැසසුමට ගිජු වී පිල් බෙදුම
බිලිවෙත් මරු ඇමට නැත සසරින් මිදුම
අහගත් දහම නොවිමස කෙලෙසුන් සැදුම
නොලැබෙත් නිවන වන තෙක් අවිදුන් බිඳුම

නොනිසිය බොදුනුවන් පිල් ලෙස බෙදීම
බුදු පිය දෙසුම නොම වෙයි පිළි පැදීම
ඇසිපිය හෙළන මොහොතෙද ලොව බැඳීම
භව බිය මිසක නැත අරි මග සැදීම

සග නික දොස් ගෙනෙන හිතවත්කම් පෑම
මග වඩනට ගෙනෙයි බාධාවන් බෝම
අඟ ඉඳගෙනම කන කන්නාවුන් වීම
දිග වෙයි සසර සැනසෙනු නිවනින් කෝම

පිල් නම් එකකි හැම බොදු සව්වනට ඇතී
බොල් වෙයි එපිල බෙදුනොත් මොක් සුවය නැතී
සිල් දම් පිහිටි විට එතැනම රැකෙන නිතී
අල් වන්නට දෙයක් නැත තවෙකෙකුට පැතී

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

1095 RS.25.00
HELA BODHU PIYUMA 95

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.